සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු ව 2556ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2012 සැප්තැම්බර්)

11 වෙනි කලාපය

## හෙළ අටුවාවෙන් පසු සැඟව ගිය පද නිරුක්ති ක්‍රමය නැවතත්...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# එදා එහෙමයි... අද මෙහෙමයි...

දිස්වෙන මෙ ගස මින් වස් ගණනකට පෙර
අස්වැද්දුවද කොතරම් මල් එලිනි බර
හිස් වෙන විටදි ආයුස ගිනි ගනිති දර
ගස් වැල් නිමිත්තකි දකිනට ලොවෙහි හර

විහඟුන් තුරු මතින් රොන් සුනු රැගෙන යන
පහලින් කුර සතුන් එහෙ මෙහෙ දුවති පැන
නහමින් පෙමින් නරයින් තුටු රැඟුව තැන
වහමින් සියල් සොබ අද සුව නොමැත දෙන

මහ වන අරක් ගෙන රැජිනක් ලෙස හිටිය
නහවන සවන විහඟුන් ගී ගැයු හැටිය
වහගෙන හිටපු ඔද තෙද දිය වෙනු දිටිය
ගහ කිම වුණත් මේ ලෝ දම්වල හැටිය

පිළි සමුපන්න වී නිම වෙන හැම දේම
යළි වැනසෙයි ගෙවෙයි රිසි සේ නැතුවාම
ගැලි ගැලි වසොත් රුසිරුයි කියමින් බෝම
බිලි වෙයි මරුට සැනසීමක් නොලබාම

උපමා කර බලනු මේ ගස තම කයට
නොපමා දකිනු යන හැටි කය මරණයට
අප මේ ගෙවන ගනුදෙනුවක් මිස දියට
සිප බෑ සිනාසෙනු මැරෙනා විට බයට

තව ටික කලක් ගත වෙන විට මේ ගසද
අවරට ගිහින් තනි වෙයි දර කඩ ලෙසද
සුව දුන් මෙගස දැන් දිස්වෙන හැටි යසද ?
පවසන් මෙසේ නම් ලෝ තතු මොන තොසද ?

පබැඳුම - ගීතිකා චන්දන සිරිවර්ධන

# වැසී ගිය ශාසන මග විමසා බලා යළි මතු කර ගනිමු

නිවන් මග නිවැරදිව හඳුනා ගන්නා ආකාරය ගැන විවිධ පැතිකඩවල් ඔස්සේ මේ වෙනකොටත් අපි කරුණු දැනගෙන තියෙනවා. දැන් අපි නිවන කියන්නේ මොන වගේ දෙයක්ද, මොන වගේ ස්වභාවයක් ද කියල බැලිය යුතුයි. සංසාරෙන් මිදීමට නිවන් කියනවා. නැවත උපදින්නේ නැති බවට පත් වීමට නිවන් කියනවා. මේ අපට නිතර අහන්න ලැබෙන කතා. මේ සියල්ලම හරි. නමුත් නිවන් දකින්න, නිවන් පතන්න පෙර කළ යුතු දෙයක් තියෙනවා. එනම් අනුමාන ඥානයෙන් නිවන් වටහාගෙන ඇත්දැයි දැන ගැනීමයි. මේ කාරණය කොහොමද වටහා ගන්නේ? නිවන කියන වචනය නිවීම කියල තේරුම් අරගෙන බලන්න. ලෝකය කෙරෙහි බැඳෙන යම් ඡන්දරාගයක අත්හැරීම, මිදීම, නොඇල්ම නිවන් දකින අයගේ ස්වභාවයයි. අපිට නිවන් පිළිබඳව කැමැත්තක් තියෙනවද කියල අපිම පරීක්ෂා කරල බලන්න ඕන.



තමා විඳින සම්පත්වලින් මොනවද අත්හරින්න කැමැති? යමෙක් කිව්වොත් ඔබ සම්පත් කියල විඳින, ඇසුරු කරන ලෝකයේ යම් දෙයක් අතහරින්න කැමති නම්, ඒක අදම අතහැර දමන්න කියල, එතකොට තමන් ගන්නා තීරණය ගැන හිතන්න. එතකොට මෙහෙම හිතෙන්න පුළුවන්. ''මට නම් උවමනා නෑ. ඒත් මම නැත්නම් මේ ළමයින්ව බලා ගන්නෙ කවුද? ඒ අයට කන්න දෙන්නෙ කවුද? ගෙදර ඉන්නෙ ගෑනු ළමයෙක්! මට නම් මේ මොකුත්ම ඕන නෑ'' මේ වගේ වචන අපට නිතරම ඇහෙනවා. හොඳයි දැන් ඒ ළමයි කියනව නම් ''අම්ම, තාත්ත යන්න, අපි ගැන හිතන්න එපා, ගිහින් මහණ වෙන්න, ගිහින් සිල් මෑණි කෙනෙක් වෙන්න, අපේ වැඩ අපි බලා ගන්නම්'' කියල දැන් තමන් ගන්න තීරණය කල්පනා කරල බලන්න. අපි ඒ වගේ වෙලාවට මොකක් හෝ කලින් කියපු වගේ තීරණයක් අරගෙන, දාල යන්න බැරි මේ නිසයි කියල කියන කොට, ඇත්තටම ඒ ප්‍රශ්න විසඳුනා නම් දැන් තමන් යනවද? තමන් දිගටම සිල් සමාදන් වෙලා ඉන්නවද? නැත්නම් ගිහි කටයුතු අනිත් අයට කර ගන්න දීල ඒ අයත් කැමැති නම්, තමන් නිවන් දකින්න හිතල හුදකලාවම දහම් මගට බහිනවද? මේ කාරණා හොඳට හිතල බලන්න. එතකොට තමාගේ අදහස තමා රවටන එකක් නම්, තමාම මෙහෙම තේරුම් ගන්න. ''මග හරියි කියල නිවන් මග සැක නැතුව දන්නවයි කියල හිතුවට, මා ළඟ අඩුපාඩුවක් තියෙනවයි කියන කාරණය මට වැටහෙනවා'' මෙහෙම අදහස එනව නම් ඒක තමාටම නිවන් මග වටහා ගන්න හරි මගක් වෙනවා.

මේ ලෝකයේ තියෙන මොනවා හරි අත්හරින්න කියල ගෙදර අයත් තමාට කියනව නම්, ඒ වෙලාවට තමා දැවෙනවා පෙනෙයිද, නිවෙනවා පෙනෙයිද? හිතල බලන්න. එතකොට දාහය එනව නම්, තරහ එනව නම්, හිත දැවෙනව නම්, නිවීමක් ලබල තියෙන්නෙ කොහොමද? නිවන් ලබල තියෙනව නම්, නිවන් මග දැකල තියෙනව නම්, කවදා මේ ලෝකයා සම්පත් කියන මේවා අතහැරල මිදිල සැනසෙන්නද කියල හිතෙයි. මේ අල්ලගෙන ඉන්න දේවල් සම්පත් කියල පෙනුණට, ඒවා මගින් දාහයක් නේද දෙන්නෙ කියල හොඳට පෙනෙයි, හොඳට හිතෙයි. එහෙම නොවෙනව නම් අත්හරින කොට, මිදෙන කොට, නොඇලෙන කොට සහනය සැනසීම ලැබෙන මග හොඳට හොයල බලල, නිස්සාර බව, සසර දුක හරියට වැටහෙන කල් පිරිසිදු හිතින් බණ අහන්න. **බණ කියන්නේ භවය නැති කරන එකයි.** භවය නසන හෙවත් භව නිරෝධ කරන මගයි. ඒ නිසා අහන්න ඕන ඒකට හරියන බණක්. එතකොට සමහර උතුමන්ලා සසර දුක පෙන්වන, සසරේ ආදීනව පෙන්වන බණ කිව්වත් අහන අය නැත්තෙ ඇයි? ගුවන්විදුලියෙන් රූපවාහිනියෙන් බණ කිව්වත් හිත මොහොතක් යොමු කරන්න කැමැති නෑ.

දිනෙන් දින ලෝකය ඇසුරු කරන දේවල් මොනවද කියල හිතෙන කොට මේ ගැන හිතන්න පුළුවන් වෙනවා. ඇස, කන, නාසය, දිව, ශරීරය පිනවන රූප, ශබ්ද, සුවඳ, රස, ස්පර්ශ ගෙන දෙන සුඛෝපභෝගී භාණ්ඩ දිනෙන් දිනම වැඩිවෙනකොට සමාජය දියුණු අඩියක සිටින බව උඩින් මත්තෙන් බලන කොටනම් පේනවා. නමුත් සිදුවෙන්නෙ මොකක්ද? ආශාවන්ට වහල් වෙමින් බාහිරින් අපි රැස් කරන්නේ, ස්පර්ශ කරන්නේ කාමයට බොහෝ හිතකර වූ දේවල්. ඒ කාම සංස්කාර ප්‍රත්‍යයෙන් කාම විඤ්ඤාණ පහළ වෙනවා. එයින් හට ගන්නේ කාමුක නාම රූපයි. එයින් අපේ ඇස, කන, නාසය, දිව, ශරීරය කියන ඉන්ද්‍රියන් කාම සහගත බාහිර නාම රූප ඇසුරු කරන කාමුක සලායතන ☞

බවට පත්වෙනවා. එතකොට කාමුක ස්පර්ශ වැඩි වෙනවා. එයින් කාම ආස්වාදය කාම වින්දනය ඇති කරනවා. දැන් කාම තණ්හාව අධික වෙනවා. කාම වස්තු හිතින් ගතින් බදා ගන්නවා. කාම උපාදානය වෙනවා. එතකොට පිහිටන්නේ කාම භව තුළයි. කාම භව නිසා කාම ජාති හට ගන්නවා, හදනවා. කාමයට හිමි යම් සට්ටනයක් ඇත්ද දාහයක් ඇත්ද ඒ සියලු දාහයෝ ඔවුන් වෙත දුක ගෙන දෙනවා.

කාමය නිසා වන යම් දාහ ගින්නක් නැගුණ නම් ඔය ක්‍රමයෙන් කාම ජාති හට ගැනීම නිසාම හට ගත්තා වෙනවා. දැන් අසහනය වැඩි වෙලා සිත කාම ගතියෙන් දූෂ්‍ය වෙනවා. කාම සම්පත්වල වටිනාකම පේන්නේ කාම ජාතියේ ඉන්න අයටයි. එහෙම අයට කාම වස්තූන් මහා වටිනා දේවල් වෙනවා. ඒ නිසා ඒ කාම වස්තූන් ඩැහැගන්න ඕනෑම කැත වැඩක් අයුතු වැඩක් පාප වැඩක් කරනවා. හොරමැර වංචා කරනවා. දූෂණය කරනවා. සුරා සූදු දුරාචාර කරනවා. මංකොල්ලකෑම් කරනවා. කාම වස්තූන් ඩැහැගන්න බොරු කේලාම් පරුෂ වචන ප්‍රලාප කියනවා. ලෝභකම් කරනවා. ද්වේෂය නගනවා. කාමයට බැඳුණු හිත ගත නිසා ඔහුව මුළාවට ඇද දමනවා. සමාජයම පොදුවේ මේ මග යනව නම් සියල්ලෝම එකතුව කාම පිපාසිතයන් වෙලා කාමයම දැන ගන්නවා, විඳිනවා, රැස් කරනවා, පතනවා. කාමුක වූ හිතින් ඊට අනුරූප වූ ගතත් ඇතිව ඉන්නකොට බුදු බණ කොච්චර කිව්වත් කාමුකයාට තේරුම් ගන්න බැරිව යනවා. ඒ කාමුක බව, මෝඩකම නගන ලක්ෂණයක් මිසක් ප්‍රඥාවන්ත ලක්ෂණයක් නෙවෙයි. මේ ශ්‍රේෂ්ඨ ධර්මය ප්‍රඥාවන්තයාටයි. මෙබඳු කාම ලෝලියා බණ පොත් කියෙව්වත් ඇහුවත් ඒකෙනුත් බලන්නේ කාමයට මගක් සොයා ගන්නයි. සිවුරු දමාගෙන තාපස වෙසින් හැංගිලා හිටපු දේවදත්තගේ, පෙර මුව වැදි භවය (මුව වැද්දා) ගෙන ගියා වගේ එයිනුත් කාම සම්පත් උපයාගෙන භුක්ති විඳිනවා. මේ විදිහට පටිච්ච සමුප්පාදයට අනුව දහම් තෝරාගෙන ආදීනව බැලීම නියම නිවන් මගයි. නියම ශාසන භාවනා ක්‍රමයයි.

ලෝකය දෙස බලන කොට පාපකාරී දේවල් බොහෝ වැඩි වෙලා තියෙන බව හොඳින් පෙනීයන කරුණක්. සත්‍ය ධර්මය සනාථ කරමින් අතලොස්සක් දෙනා මේ දහම අනුව දුක හට ගන්නා ආකාරය පරීක්ෂා කරල සත්‍ය තීරණයකට බහිනවා. මේ බිහිසුණු තත්ත්වයෙන් සමාජය ගොඩගන්නෙ කොහොමද? මහා විනාශයක් එන්න පෙර නැවත ගොඩනගන්න නම් බලෙන් බෑ. කුඩා දරුවන්ට භය හතර නොතේරෙන බව දන්නා දෙමව්පියන් පළමුව ගැඹුරු හරවත් දෙයින් දරුවන් හික්මවන්නෙ නෑ. පුංචි කතා පොත්, සුන්දර වර්ණ, පින්තූර, සීනි බෝල, ටොපි චොකලට් වගේ දේවල්වලින් ඒ දරුවන්ට ආදරයෙන් කතා කරමින් දෙමව්පියන් දරුවන්ගේ අසහනයට සහනය සොයනවා. දහමින් ගිලිහුණු සමාජයත් වැටිල තියෙන්නෙ ළපටි දරුවන් හෙවත් බාලයන් විදිහටයි. නමුත් සමාජයේ වැඩි දෙනෙක් තවම මිනිස් දරු බවෙන් ගිලිහිලා නැති බව පේනවා. සියල්ලෝම බාලයන් වගේ වුණොත් මහා විනාශයක්. දරුවන් රැකගන්න අඩු ගණනේ පනහකට එක් කෙනෙක්වත් වැඩිහිටියන් හිටිය නම් කොහොම හරි මහත් ආයාසයකින් ඒ දරු පරපුරේ බොහෝ දෙනෙක් රැකෙනවා වගේ, ආර්ය ගුණ ඇති වැඩිහිටියන්, අතරින් පතරවත් බිහි වුණොත් නැවත සමාජය දරු බවින් වැඩිහිටි බවට පත් කර ගන්න අමාරු වෙන්නෙ නෑ.

හැබැයි ඒ වැඩිහිටි අය නමට වැඩිහිටි අය නොවිය යුතුයි. **බුදු දහමේ එන වැඩිහිටි අය, බාලයන් සොයන කාම වස්තු නමැති සෙල්ලම් බඩුවල නොඇලිය යුතුයි.** මොනවද ඒ ලස්සන කාම සෙල්ලම් බඩු? **ලස්සන ගේ දොර, ඇඳුම් පැලඳුම්, සුන්දර ලෝකය, ලාභ, කීර්ති, ප්‍රශංසා, සත්කාර, සම්මාන... මේ වගේ ලෞකික ආසාවන් සපුරන දේවල් දහමේ වැඩිහිටියන්ට පෙනෙන පොඩි එවුන්ගේ සෙල්ලම් බඩු වගෙයි.** දහම තුළ වැඩිහිටියන් ලෙස හිතන් ඉන්න අය මේ බාලයන්ගේ සෙල්ලම් බඩු පරිහරණය තමන් ළඟත් තියෙනව ද කියල හොයල බැලීම වටිනවා. එහෙම තියෙනවනම්, තම තමන් ඉන්නේ වැඩිහිටියන්ය කියන මුළාවක බවත්, තමන් බාලයන් බවත් දැන ගැනීම ඉතා යහපත් සිතිවිල්ලක් බවත්, එහෙම හරියට හිතුණ නම් ඒ සිතිවිල්ල වැඩිහිටි වෙන්න හේතු වාසනා ඇති අයටම ඇති වෙන බවත් දැනගත යුතුයි. මේ සඳහා බාලයන් ඇසුරු කරන උපකරණ පරිහරණයක් ඇත්නම් ඉවත් කළ යුතුයි. ඒවා භෞතිකව තිබුණත් සිතින් අත්හැරිය යුතුයි. වැඩිහිටියන් පරිහරණය කරන උපකරණ සොයාගත යුතුයි. බාලයන්ගේ උපකරණ හා ඒවා පරිහරණය කරන කොට බාල බවට පත් වෙන ආකාරය දැනගෙන, වැඩිහිටි බවට පත් වෙන දහම් මග සොයා ගැනීමයි දැන් කළ යුත්තේ. වැසිකිලිය අවශ්‍යතාවයට පරිහරණය කරනවා වගේ ඡන්ද රාගයෙන් තොරව අවශ්‍යතාවය සඳහා පමණක් ලෝක වස්තු පරිහරණය කිරීම දැනගෙන කළ යුතුයි.

එක ගාථාවක් නමුත් දහම් දැන, අරුත් දැන ධර්මානුධර්ම පිළිවෙතේ යෙදෙන්නා ධර්මධර බහුශ්‍රැත වන බව බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. (අංගුත්තර නිකාය - (2) 344 පිටුව - බහුශ්‍රැත සූත්‍රය) නමුත් ත්‍රිපිටකය ඉගෙන ගනිමින් අටුවා ටීකා ඉගෙන ගත්තත් ධර්ම ධර වෙන්නෙ නෑ, බහුශ්‍රැත වෙන්නෙ නෑ. බණ අහන කෙනාත්, බණ දෙසන කෙනාත් යන දෙදෙනාම පෙළත් දනී, අටුවාත් දනී කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. කරුණු තුනකින් කතාව නෛර්යානික වන බව උන්වහන්සේ දේශනා කරල තියෙනවා. නෛර්යානික කියන්නේ නිවනට යානයක් වෙනවයි කියන එකයි. හෙවත් නිවන සඳහාම මාර්ගය වෙනවයි කියන එකයි. බණ දෙසන්නා අටුවාත් දනී පෙළත් දනී. බණ අසන්නා අටුවාත් දනී පෙළත් දනී, බණ දෙසන්නාත් අසන්නාත් දෙදෙනාම පෙළත් දනී අටුවාත් දනී කියන මේ තුන් කතාවෙන් නෛර්යානික වන බව දේශනා කරල තියෙනවා.

අස්සජි රහතන් වහන්සේ විසින් කෝලිත පරිබ්‍රාජක ලෙස ඒ කාලයේ වැඩහිටපු සැරියුත් මහ රහතන් වහන්සේට දේශනා කළේ එක ගාථාවයි. "**යේ ධම්මා හේතුප්පභවා තේසං හේතුං තථාගතෝ ආහ. තේසංච යෝ නිරෝධෝ. ඒවං වාදී මහා සමණෝ හේතුං පටිච්ච සම්භූතං හේතු භංගා නිරුජ්ජති**" මේ ගාථාව කියද්දී පද දෙකක් අහන කොටම කෝලිත පරිබ්‍රාජකතුමා සෝවාන් වුනා. ගාථාව අහගෙන තම මිතුරු උපතිස්ස පරිබ්‍රාජකතුමාට පද හතරම දේශනා කරන කොට එතුමත් සෝවාන් වුනා.

එක ගාථාවක් නමුත් වටහා ගත්තම පෙළ හා අටුවා දැනගන්න පුළුවන් බව දහමේ පෙන්වා තියෙනවා. අද යම් සෝතාපන්න පුද්ගලයෙක් දෙසන ගාථාවක් අහල තවත් කෙනෙක් සෝතාපන්න වුණා නම්, ඒ දෙදෙනාම පෙළ සහ අටුවාව බුද්ධ භාෂිතය අනුව නම් දැනගත යුතුයි. අස්සජි රහතන් වහන්සේගෙන් බණ අහන්න ගිය කෝලිත පරිබ්‍රාජකතුමාට උන්වහන්සේ දේශනා කළේ, එතුමා තවම ඒ තරම් කාලයක්

මේ ශාසනයේ මහණ වෙලා බණ දහම් ඉගෙන ගෙන නැති බවයි. නමුත් පෙළ හා අටුවා නම් දැනගෙන හිටපු බව බුද්ධ භාෂිතය අනුව පෙනීයනවා. නමුත් අද සමහරු පෙළ කියනකොට අවුරුදු හතළිස් පහක් බුදුන් වහන්සේ දේශනා කරපු ධර්ම කොටස්වලට එහෙම කියන බවත්, අර්ථ කථාචාරීන් වහන්සේලා දීල තියෙන අර්ථවලට අටුවා කියල කියන බවත් පිළිගෙන ඇති අතර පෙළ හා අටුවා දැනගන්න වයස යනකල් ඉගෙන ගන්න ඕන බවත් කියනවා. නමුත් ඔය කියන විදිහට ඒ පොත් සියල්ලම දැනගෙන කට පාඩම් කර ගන්න නම් ජීවිත කාලයත් මදි වෙනවා. එහෙනම් මොකක්ද මේ පෙළ කිව්වේ? මොකක්ද අටුවා කිව්වේ? **පෙළ කියන්නේ මූලික න්‍යාය ධර්මයයි. ඒ න්‍යාය ධර්මය අර්ථවත්ව විග්‍රහ කර ගැනීම අටුවාවයි.** උදාහරණ විදිහට අවිද්‍යා පච්චා සංඛාරා කිව්වොත් ඒක තමයි පෙළ. අවිද්‍යා සහ සංඛාර කියන්නෙ මොනවද කියල විග්‍රහ කර තේරුම් ගැනීම අටුවාවයි.

බුදුරජාණන් වහන්සේගේ දේශනාවට අමුතුවෙන් කෑලි එකතු කරන්නවත්, අඩු කරන්නවත්, ඊට වඩා අර්ථ දෙන්නවත් කෙනෙක් කිසි තැනක නැති බවත් පෙන්වා තියෙනවා. එහෙම කරන්න ගියොත් අර්ථ විපරීත වෙලා මග වැහෙන්නත් බැරි නෑ. (දීඝ නිකාය (3) 194 පිටුව - පාසාදික සූත්‍රය) අටුවා ටීකා පසෙක තියල බුද්ධ දේශනාව තුළ ඇති තමන්ට සුදුසු යැයි වැටහෙන කොටසක් (දේශනා කලාපයක්) අරගෙන, එහි අරුත සිය බසින් දැනගෙන මෙනෙහි කරන කොට ක්‍රමයෙන් යථාවබෝධය ලබන්න පුළුවන්. එතකොට සිදුවන්නේ මමත් හොඳට බණ දන්නවා කියමින් තර්ක කරන අය නැති වෙලා, පිළිවෙත් රකින උතුම් ආර්යන් බිහි වීමයි. එබඳු ආර්ය බවට පත් උතුමන් විසින් උතුම් බුදු බස හදාරල ලොවට අනුකම්පාවෙන් දහම් දේශනා කරනව නම් ශාසනය බබළනවා. **මේ උතුම් ධර්මය ගාථාවක් දෙකක් දැනගෙන හොඳින් පිළිපදින සංවර කෙනෙක් දැක්කම, මහා අභිධර්මයක් ඔහුගේ හිත මත පටවල ස්කන්ධ, ධාතු, ආයතන, පටිච්ච සමුප්පාද, සප්ත විසුද්ධි, බොජ්ඣංග... මේ ආදී මහා දහම් වැලක් වචනයක් පාසා ලක්ෂණ, රස, පච්චු පට්ඨාන, පදට්ඨාන කියමින් මේවා හොඳට ඉගෙන ගෙන මිසක් ප්‍රතිපත්තියට බහින්නෙ කොහොමද කියල, මෙබඳු මත ලෝකයට බෙදන කොට ඒක අන්ධයාට කිරි කන්න ලේසි නැති බව පෙන්වපු කතාව හා සමානව තේරුම් ගත යුතුයි.** ඒ නිසා ගොඩක් අටුවා ටීකා ඉගෙන ගන්න බැරි බව, තේරුම් ගන්න බැරි බව සිතමින් **මගඵල ලබන්න නුවණ ඇති අයත් අධෛර්යමත් වෙන්න එවැනි අති පණ්ඩිත මත හේතු වෙන්න පුළුවන්. එහෙම වුනොත් ධර්මය, මානයේ අවියක් බවට පත් වෙලා ශාස්ත්‍ර මදයෙන් මත් වෙලා තමනුත් අනුනුත් මේ නිර්මල දහම් මාර්ගයෙන් ඉවතට තල්ලු වෙලා අගතියට යන්නත් පුළුවන්.** එවැනි තැන් වටහා ගෙන හරි මගට පිවිසීම ධර්මයෙන් වැඩිමහල් වෙන්න හේතු වෙනවා. ත්‍රිලක්ෂණය, චතුරාර්ය සත්‍යය නිසි ලෙස වැටහුනා නම්, ඒ පිංවතුන් පෙළ දහම් පොත් මෙන්ම අටුවා ටීකා පරීක්ෂා කරල බැලුවත්, දැකපු දහම් ඇති නිසා ඒ තුළිනුත් හරි මග දැකල ඒ පිංවතුන්ට දහම් දේශනා කරන්න පුළුවන් වෙනවා.

දහමේ අරුත් සැඟවිලා තියේ නම් කොච්චර උත්සාහ කළත් ආර්ය භාවයට එන වැඩිහිටියෙක් වෙන්න බෑ. අඟෙන් කිරි දොවන්න හැදුවට කිරි නොඑන්නේ වීර්ය මදි නිසා නෙවෙයි, අඟ කිරි නැති උපාංගයක් නිසයි. ඒක හරකට සම්බන්ධ වෙලා තියෙනවා විතරයි. එහෙනම් නිවන් මග මොකක්ද? සත්‍ය වචනය කරා එන මග තියෙනවා. අරුත් විමසා බලමු.

සාම්ප්‍රදායක් ලෙස බුදුන් වැඳීමේ මාර්ගය පෙර පටන් අපි අතර පවතිනවා. ඒ මාර්ගයේ සැඟවිලා තියෙන නියම මග දැන් විමසා බලමු. අපි බුදුන් වඳින්න සුදුසු පූජනීය ස්ථාන කරා ගිහින් මල් පහන්, සුවඳ, ආහාර පාන, කොඩි වියන්... ආදී උපහාර පූජා වස්තු ගෙන යමින් වඳින ආකාරය හිතමු. නමස්කාරය කියනවා, තිසරණ සමාදන් වෙනවා, පන්සිල් ගන්නවා, බුදු, දම්, සඟ ගුණ කියනවා, විවිධ පූජාවන් කරනවා. මේ මාර්ගය හරිද, වැරදිද? සමහරු කියන්නෙ මේවා නුවණ නැති සාමාන්‍ය මට්ටමේ බෞද්ධ නාමධාරීන්ගේ වැඩ කියල. තවත් සමහරු ගුණ ධර්ම රකින්න දන්න අය හොඳ නරක තේරුම් ගෙන වැඩ කරනවා මිසක් බෞද්ධ හෝඩියේ (මොන්ටිසෝරියේ) අය වගේ වන්දනා කරන්න අවශ්‍ය නෑ කියල, ආමිස පූජාවට වඩා ප්‍රතිපත්ති පූජාව උතුම් කියල බුද්ධ දේශනාව ගෙනහැර පෙන්වනවා. අපි රකින්නේ ප්‍රතිපත්ති පූජාව කරන විදිහටයි කියනවා. උතුම් ආර්ය මාර්ගයේ ප්‍රතිඵලයක් නොලබා, එබඳු සංවර ගතියක් නැති වුනාම කියනවා ''මේ කාලෙ බෑ කල්ප ගණන් පෙරුම් පුරපු උදවියයි එහෙම මගඵල ලබන්නේ. දැන් ඒ පෙරුම් පුරල මගඵල ලැබුව අය නෑ,'' කියල. ඒ වුණාට මණ්ඩුක දිව්‍ය පුත්‍රයත් පෙරුම් පුරල තිබුණා. **බුදු රජුන් ධර්ම දේශනා කරන හඬ ඇහිල, මොනම අර්ථයක්වත් නොවැටහෙන ගෙම්බෙක් වෙලා ඉඳන් බණ අහනකොට මැරිල ගිහින් එවෙලෙම දිව්‍ය පුත්‍රයෙක් වෙලා ඇවිත් ඒ දේශනාවම අහල සෝවාන් වුණා කියල ධර්මයේ සඳහන් වෙනවා.** ඒ වගේම කිරි වවුලන්, මුවන් පිරිත් හඬ අහලා මනුෂ්‍යයන් වෙලා ඉපදිලා රහත් වෙලත් තියෙනවා. **තිරිසන් වෙලා හිටපු සතුනුත් පෙරුම් පුරල තිබුණ නම්, අද එක මිනිහෙක්වත් නැද්ද රහත් වෙන්න හේතු වාසනා තියෙන?** බුදුන් වහන්සේ නම් දේශනා කරල තියෙන්නේ භික්ෂූන් පිළිවෙත් පුරනතුරු මේ ශාසනය රහතුන්ගෙන් හිස් නොවේ කියලයි. ඒ වගේම ධර්මයේ සඳහන් වෙනවා වැහුණොත් අඳුරුවෙන, ඇරුණොත් බබළන කාරණා තුනක් ගැන. හිරු වළාකුලකින් වැහුණොත් අඳුරු වෙනවා. ඇරුණොත් බබළනවා. සඳු වළාකුලකින් වැහුණොත් අඳුරු වෙනවා. ඇරුණොත් බබළනවා. මේ ශාසන මාර්ගය වැහුණොත් අඳුරු වෙනවා. ඇරුණොත් බබළනවා. මේ තමයි ඒ කාරණා තුන. බොහෝ අය කියන්නේ මේ කාලයේ මගඵල ලබන්න වාසනාවන්තයෝ නැහැ කියලයි. එහෙම හිතන්නේ නැතිව දහම වැහිලද නැද්ද කියන කාරණය කවුරුවත් නොහිතනව නම් ඒක ලොකු අඩුපාඩුවක්. හැබැයි වැහිල තියෙන බව දැන ගත්තත් ඒක හරියටම අරින්න පුළුවන් වෙන්නේ ධර්මාවබෝධය ලැබුවෙකුටමයි. සිව්පිළිසිලිඹියාව හෙවත් චතුපටිසම්භිදා ඥාන යම් පමණකට හෝ වැඩිල තියේ නම් ඒ මට්ටමින් ඒක කරන්න පුළුවන්.

අකුරු අටයි පද තුනයි කියන අනිච්ච, දුක්ඛ, අනත්ත යන නිවන් දකින මූලික දහම් අර්ථය අසූ හාර දහසක් ධර්මස්කන්ධ නම් වූ මුළු බුද්ධ දේශනාවේම අඩංගු වෙනවා. මේ වචන තුනේ අර්ථය හරියට තේරුම් අරගෙන දහම් විමසනකොට හරි මග පේන්න පටන් ගන්නවා. එවිටයි චතුරාර්ය සත්‍යය පළමුව දර්ශනය වෙන්නෙ හෙවත් සෝතාපන්න වෙන්නෙ. මේ විදිහට දැකපු දහම් ඇති ආර්ය ශ්‍රාවකයාට අරිහත්වයට යනකල්ම දහම් මග වැටහෙන බව තේරුම් ගත යුතුයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පහසුවෙන් ලබන්න පුළුවන් නිවන බැරෑරුම් කරගත් හැටි

*(පසුගිය කලාපයෙන්:*
*මේ කියන තරම් නිවන් දකින්න අමාරුද?)*

ලෝක සත්ත්වයා නිවන් දකින්න යොමු නොවීමට හේතුවන තවත් කරුණක් තියෙනවා. ''ආචාර්යයන් වහන්සේලා යම් දෘෂ්ටියක් දරනවද, ඒ දෘෂ්ටියම ශිෂ්‍යයෝත් දැරිය යුතුයි, ඔවුන්ගේ උපදෙස් පිළිපැදිය යුතුයි''. මේ අදත් බහුලව දකින්න තියෙන මතයක්. අනුත්තර පුණ්‍ය ක්ෂේත්‍රයක් බඳු වූ , මගඵල ලැබූ පෙර විසූ ආචාර්යයන් වහන්සේලාගේ උජුපටිපන්න ගුණය හේතුවෙන්, එතුමන්ලාගේ අවවාද අනුශාසනා නිවනටම යොමු වුණා. ඒ නිසා ශිෂ්‍යයෝත් ඒ උපදෙස් ඉස් මුදුනින් පිළිගෙන උතුම් මග ඵල ලැබුවා. වර්තමානයේ තත්ත්වයත් මේ වගේ ද? එසේ නොවන්නේ නම් ආචාර්ය දෘෂ්ටි, උපදේස ඒ ආකාරයෙන්ම පිළිගැනීමෙන් සත්‍යය දකින්න පුළුවන්ද? මේ කරුණ නුවණින් විමස බලා පෙර කාලයේ සිදුවීම් සමගත් සසඳ බලා ධර්මයට අනුව තත්ත්වය කෙසේ දැයි විමසා බලමු.



"අහිංසක" කුමාරයා ශිල්ප නිමවා ගුරු පඬුරු පූජා කරන අවස්ථාවේ ඉල්ලා සිටි ගුරු පඬුර වුණේ ඇඟිලි දහසක මාලයක්. මනා හික්මීමෙන් හා ගුරු ගෞරවයෙන් හිටපු දීප්තිමත් ශිෂ්‍යයා, "අහිංසක" - අංගුලිමාල වුණේ, සුචරිතයටවත් නොගැලපෙන ගුරු පූජාවක් හේතුවෙන්. පෙර කරපු පින් කුසල් තිබ්බ්ච නිසා බුදුපියාණන් වහන්සේගේ බුදු ඇසින් මේ සිදුවීම දැක මහා කරුණාවෙන් එතැනට වැඩිය නිසා, මව මරා ආනන්තරික පාප කර්මය සිද්ධ නොවී, සිදු වෙන්න ගිය මහා නින්දාවෙනුත්, නිරයෙනුත්, සසර දුකිනුත් ඒ අහිංසක කුමාරයා නිදහස් වුණා.

නැටුම්, ගැයුම්, වැයුම් කරමින් හිටපු තාලපුට ගාමණිට ගුරු ආචාර්යවරුන්ගෙන් ලැබුණු උපදේසය වුණේ නැටුමින්, ගැයුමින්, වැයුමින්, රඟපෑමෙන් තමාත් සතුටු වෙලා අන්‍යයන් ද සතුටු කරන නිසා, ඒ අය පහාස නම් දෙව්ලොව උපදින බවයි. මේ පිළිබඳව වඩාත් හොඳින් දැනගන්න බුදු පියාණන් වහන්සේ හමු වූ තාලපුට ගාමණි, "අපගේ ආචාර්ය ප්‍රාචාර්යවරුන් කියන්නේ තමාත් සතුටු වෙලා අන්‍යයන්ද සතුටු කරන හෙයින් නටන, ගයන, වයන, රඟපාන පිරිස පහාස නම් දෙව්ලොව උපදිනව කියලයි. බුදු පියාණන් වහන්ස, මෙය සත්‍යවේද? ඔබ වහන්සේගේ අදහස කෙසේ වේද?" කියල මෙහෙම ඇහුවා. එවිට බුදු පියාණන් වහන්සේ, "ගාමණිය එයින් කම් නැත, මෙය මගෙන් නොඅසාවා" යි දෙවරක්ම පිළිතුරු දීම ප්‍රතික්ෂේප කළා. තුන්වන අවස්ථාවේ යළිත් විමසුවාම, "පහාස" නම් දෙව්ලොව නොව, "පහාස" නම් නිරයේ උපදින බව හේතු කාරණා පැහැදිලි කරමින් දේශනා කළා. මේ ධර්මය අහපු තාලපුට ගාමණි මහත් කම්පාවට පත්වෙලා හඬා වැලපිලා, එසේ අඬන්න හේතුව පැරණි ආචාර්ය ප්‍රාචාර්යවරුන් තමා මෙන්ම ලෝකයාත් රවටා ඇති ආකාරය මතක් වීමෙන් බවත් කියා සිටියා. තාලපුට නම් මේ නළුවා බුදු පියාණන් වහන්සේ වෙත පැවිදි වෙලා විදසුන් වඩා අරිහත්වයට පත් වුනා. (සං.නි (4) 558 පිටුව - <u>තාලපුට සූත්‍රය</u>).

බුදු පියාණන් වහන්සේගේ ශාසනයේම පැවිදි වෙලා හිටපු දේවදත්ත හිමියන්ගේ උපදෙස් නිසා අජාසත්ත කුමරු, පිය මහ රජ වූ බිම්බිසාර රජතුමා මරා රජකම ගැනීමට කටයුතු කර ආනන්තරීය පාප කර්මයට ගොදුරු වුනා.

විමානවත්ථු පාලියේ ගූථකාදක ප්‍රේත වස්තුවේ ඒ ප්‍රේතයා පිළිබඳ කථාවේ මෙසේ සඳහන් වෙනවා. "ඊර්ෂ්‍යා කරන සුළු වූ, කුලයන් කෙරෙහි මසුරු වූ, තද මසුරෙක් වූ, සිල්වතුනට පරිභව කරන, මාගේ ගෙහි ඇළුම් කළ ආවාසික භික්ෂු නමක් මා කළ විහාරයෙහි විසීය. ඒ භික්ෂුහු ගේ කීම් අසා මම සිල්වත් භික්ෂූන්ට නින්ද කළෙමි. ඒ කර්මයන්ගේ විපාකයෙන් මම මෙලොවින් චුතව ප්‍රේත ලෝකයට ගියෙමි...." මේ ආකාරයෙන් ඒ ප්‍රේතයා කර්ම විපාකජ ඍද්ධියෙන් තමා කළ පාප කර්මය දැක ප්‍රකාශ කර තියෙනවා.

නිගණ්ඨනාථ පුත්ත කියන්නේ බුද්ධ කාලයේ හිටපු බොහෝ ශ්‍රාවක පිරිස් හා දයක පිරිස් ඇතිව හිටපු ප්‍රසිද්ධ ගුරුවරයෙක්. ඔහුගේ ශ්‍රාවකයෝ ඔහුට කීකරුව ඒ උපදෙස් පිළිපැදපු අයයි. ඒ උපදෙස් පිළිපැදීමෙන්, ගුරු ගෞරව කිරීමෙන් ඒ ශ්‍රාවකයෝ නිවන් දැක්කද?

මේ කරුණු විමසා බැලීමෙන් **අපට පෙනී යන්නේ බුද්ධ කාලයේදීත් ගිහි පින්වතුන්ට හරි මග වසා, තම දෘෂ්ටියම හරි යැයි කියා උපදෙස් දුන් ගුරුවරු මෙන්ම භික්ෂූන් වහන්සේලාත් හිටපු බවයි. ඒ හේතුවෙන් ඒ පින්වතුන් අපා දුකටත්, නින්ද කරදරවලටත් පත් වෙලා තියෙනවා.** කියන්නා කෙසේ කීවත් අසන්නා සිහි බුද්ධියෙන් යුතුව ඇසිය යුතුයි කියල ප්‍රස්ථා පිරුළකුත් තියෙනවා. ''සිහි'' නම් නිතර සිහි කළ යුතු නිවනයි. බුද්ධිය නම්

භවය උදුරා දමන්නා වූ ධර්ම ඥානයෙන් යුතුව සිටීමයි. භවය උදුරා දමන්න, නිවන ලබන්න අසන දෙය කොතෙක් දුරට ඉවහල් වේ දැයි අසන්නා විසින් විමසා බැලිය යුතුයි.

මේ සඳහා බුදු පියාණන් වහන්සේ ශ්‍රාවකයින් දැනුවත් කරල තියෙනවා. දීඝ:නි:(2) මහා පරිනිර්වාන සූත්‍රයේ මෙසේ සඳහන් වෙනවා.

"ඒ මහණහුගේ වචනය නොම පිළිගත යුතු නොද පිළිකෙව් කළ යුතු නොව (ප්‍රතික්ෂප නොකළ යුතු), පිළිගෙන, නොද පිළිකෙව් කොට, ඒ පද ව්‍යංජන මොනවට ඉගෙන, සූත්‍රයෙහි බහා ලියැ යුතු, විනයෙහි සැසඳිය යුතු. ඉදින් සූත්‍රයෙහි බහාලනු ලබන්නාහු විනයෙහි සසඳනු ලබන්නාහු සූත්‍රයෙහි නොබස්නාහු ද, විනයෙහි නොසැසඳෙන්නාහු ද, එවිට ඒකාන්තයෙන් මෙය භාග්‍යවතුන් වහන්සේගේ වචන නොවේ. මෙය මේ මහණහු වරදවාගත් දෙයකැයි මෙහි නිෂ්ඨාවට (අන්තිම තීරණයට) පැමිණිය යුතු. මහණෙනි මෙසේ මෙය බැහැර කරවු.

"ඉදින් ඒ පද ව්‍යංජනයන් සූත්‍රයෙහි බහාලනු ලබන්නාහු විනයෙහි සසඳනු ලබන්නා හු සූත්‍රයෙහිත් බැස ගනිත් ද, විනයෙහිත් සැසඳේ ද එවිට ඒකාන්තයෙන් මෙය ඒ භාග්‍යවතුන් වහන්සේගේ වචනය. මේ මහණහු විසින් මෙය මොනවට උගන්නා ලදැයි නිෂ්ඨාවට යා යුතු. මහණෙනි, මෙසේ මේ පළමු මහාපදේශය සිත්හිලා දරවු...."

මෙහි සඳහන් සූත්‍රයත් විනයත් මොකක්ද කියල අපි දැනගත යුතුයි. බුද්ධ දේශනා සූත්‍ර පිටකය, විනය පිටකය කියල වෙන්කරල තියෙන්නේ, සජ්ඣායනා කරල තියෙන්නේ බුද්ධ පරිනිර්වානයෙන් පසුවයි. පොත පතට අනුව බුදු පියාණන් වහන්සේ දේශනා කරපු සූත්‍ර ධර්මයන්ගෙන් වැඩි ප්‍රමාණයක් දැන සිටියේ ආනන්ද, සාරිපුත්ත, මොග්ගල්ලාන වැනි ජ්‍යෙෂ්ඨ ස්ථවිරයන් වහන්සේලායි. ඒ සූත්‍ර බොහොමයක් පටන් ගන්නේ ඒවං මේ සුතං..... හෙවත් මා විසින් මෙසේ අසන ලදී කියලයි. එවිට දේශනා කරපු සූත්‍රයට බහා බලන්නේ නම්, අළුත පැවිදි වූ භික්ෂූන් වහන්සේලා සූත්‍රයට බහා බලන්නේ කොහොමද? එනම් සූත්‍රයට බහා බලනවා කියන්නේ ''සූත්‍ර'' නමින් ඇති දේශනා කරන ලද සූත්‍රවලට විය නොහැකියි. අළුත පැවිදි වූ භික්ෂුව වුණත් දන්නා සූත්‍රයක් හා විනයක් තිබිය යුතුයි. මේ කියන ''සූත්‍රය'' හා ''විනය'' දැකීම නිසයි නිවන් දකින්න ඕන කියන හිතක් පහළ වෙන්නේ.

මෙබඳු හේතුවකින් මෙබඳු ඵලයක් හටගන්නවා. හේතුව නැති කළොත් ඒ ඵලයත් නැති වෙනවා. මෙන්න මේ සූත්‍රය අපට මුහුණ දෙන්න සිදුවන සියලු දුක් සැප කෙරෙහි බහා බලන්න පුළුවන්. ලෝකය පවතින තාක් කල් මේ සූත්‍රය වෙනස් වෙන්නෙ නෑ. බුදු කෙනෙක්ම ලෝකෙට පහළවෙලා පෙන්වල දෙන තුරු අපට තනියම සොයා ගන්නත් බෑ. මේ තමයි උතුම් චතුරාර්‍ය සත්‍ය ධර්මය. දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මාර්ගය කියල අප්‍රමාණ වාරයක් ඇහුවත් චතුරාර්‍ය සත්‍යය වැටහෙන්නෙ නෑ. හේතුවෙන් ඵලයක් හට ගන්නවා. හේතුව නැති කළොත් ඵලයත් නැති වෙනවා... කිව්වම ඒක අහල නම් චතුරාර්‍ය සත්‍යය වටහා ගන්න පුළුවන්. සූත්‍රයට බහා බලනවා කියන්නේ චතුරාර්‍ය සත්‍යයට බහා බලන්න කියන එකයි. ඒ අනුව **සසර දුකට වැටෙන දෙයක් නම් පිටු දකින්න, නිවනට උපනිශ්‍රය වේ නම් පිළිගන්න** කියන එකයි.

විනය කියන්නෙත් මේ වගේ අළුත පැවිදි වූ භික්ෂුවක් වුණත් දැනගෙන හික්මිය හැකි විනයක්. එද පැවිදි වුනේ මූලිකවම නිවන් දැකීමේ අරමුණෙන්. බුදු පියාණන් වහන්සේ නිවන පෙන්වා දුන්නේ, "රාගක්ඛයෝ නිබ්බානං, ද්වේශක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං... " කියන රාග, ද්වේශ, මෝහ ක්ෂය කිරීම ලෙසයි. එනම් අපි ලෝකයට බැඳිල ඉන්නේ රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන්. එසේ බැඳිල ඉන්න කල් හික්මෙන්න බෑ. ඒ ඒ අරමුණු කරාම සිත ඇදිල යනවා. එහෙම නම් විනය කියන්නේ රාගයෙන් බැඳීමෙන් වෙන් වීමට, ද්වේශයෙන්, මෝහයෙන් බැඳීමෙන් වෙන් වීමට හිත, කය, වචනය හික්මවා ගන්න එකයි. විනයට සැසඳෙනවා කියන්නේ, අහන දෙය හේතුවෙන් අපි තුළ රාගක්ෂය වෙනවද, ද්වේශ ක්ෂය වෙනවද, මෝහක්ෂය වෙනවද කියල විමසා බලන එකයි. එසේ නොවෙනව නම් නිවන් දකින්න වටින උපදේශයක් වෙන්නෙ නෑ. පටිසම්භිදා මග්ගප්ප්‍රකරණ නම් පැරණි අටුවා ග්‍රන්ථයේ ඉහත කියපු ආකාරය පෙන්වා තියෙනවා. ඒ විස්තරය ඉතා පැහැදිලියි.

ළමා පොතේ දොස්තර මහත්තයාගේ රූපෙ තියෙන්නේ ලෝගුවක් ඇඳගෙන, ටයි එකක් පැළඳගෙන, වෛද්‍ය නලාව කරේ දගෙන ඉන්න කෙනෙක්. පොඩි දරුවා අසනීපයක් නිසා බේත් ගේන්න වෛද්‍යවරයෙක් වෙත ගෙනියනවා. එතැන වෛද්‍යවරයා ලෝගුවක් ඇඳලත් නෑ, ටයි දලත් නෑ, වෛද්‍ය නලාව තිබුණෙත් මේසෙ උඩ. ළමයට බේත් අරගෙන එනවා. එතකොට ළමය කියනවා, "මම නම් ඔය බේත් බොන්නෙ නෑ. එයා දොස්තර මාම කෙනෙක් නෙවෙයි, ලෝගුවක් ඇඳලත් නෑ, ටයි එකකුත් නෑ, නලාව කරේ තිබුණෙත් නෑ..." කියල. තමා දන්නා දත්තයන් අනුව, බාහිර ස්වරූපය මත වෛද්‍යවරයා පිළිබඳව ගත් තීරණය නිසා ළමයට තම රෝගය සුවකර ගන්න නොහැකි වෙනවා.

"මග ඵල ප්‍රකාශ කරනවා නම්, ඒ අය නියම මග ඵල ලබපු අය නෙවෙයි, ලාභ, කීර්ති, ප්‍රශංසා බලාපොරොත්තුවෙනුයි මගඵල ප්‍රකාශ කරන්නේ" කියල යම් කෙනෙක් තම දැනීමේ හා විශ්වාසයක් මත පිහිටා, ඒ දේශනා කරන ධර්මය ශ්‍රවණය නොකර, පිළිපැදීම ප්‍රතික්ෂේප කිරීමත් මෙන්න මේ වගෙයි. **ලොව්තුරා බුදු වෙලා පස්වග තවුසන් වෙත පැමිණියත්, පිටත දර්ශනයෙන් මේ බුදුන් කියල වටහාගන්න බැරිව "ආවුසෝ" වාදයෙන් කතා කරපු ඒ පස් නම බණ අහල බුදුන් වහන්සේ හඳුනාගත් බව දහමේ සඳහන් වෙනවා.**

යම් අයෙක් සෝවාන් ආදී මාර්ග ඵලයක් ප්‍රකාශ කරනවා නම්, ඒ හේතුවෙන් නිවන් මග සොයා යන පින්වත් පිරිසට ඒ දේශනා කරන ධර්මය ශ්‍රවණය කිරීමෙන් ලෝකය අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව වැටහෙනවා නම්, ඒ මාර්ගය අනුගමනය කරන පිරිසට, තම තමන්ගේ සිත්වල රාග, ද්වේශ, මෝහ දුරු වන බව වැටහෙනව නම්, ඒ මගඵල ප්‍රකාශ කිරීම සූත්‍රයටත්, විනයටත් සැසඳෙන මනා ප්‍රකාශ කිරීමෙක් නෙවෙයිද? ලෝකයාගේ යහපත පිණිස කරපු ප්‍රකාශ කිරීමක් නෙවෙයිද? තමාගේ දැනීමේ හා විශ්වාසයේ හැටියට වෙනස් වූ පමණින් සත්‍යය අසත්‍යය වෙනවද? කල්පය විනාශ වුනත්, ලෝකය විනාශ වුනත් සත්‍යය වෙනස් වෙන්නෙ නෑ. නමුත් සත්‍යය මතුවීම, බැබලීම සිදුවන්නේ අති දුර්ලභ බුද්ධෝත්පාද කාලයක පමණයි. එබඳු කාලයක මනුෂ්‍ය අත්බැවක් ලබාගෙනත්, සසර දුකින් මිදෙන්න බැරි වුණොත් ඒක මොන තරම් පාඩුවක්ද?

එකම ආරාමයේ වසමින්, බුදු පියාණන් වහන්සේගේ පාත්‍රය ගෙන ☞

උන්වහන්සේගේ පිටුපසින් වැඩි සුනක්ඛත්ත භික්ෂුව බුදු ගුණ දැක්කෙ නෑ. ඒ නිසා මහ මග දැකපු කෝරක්ඛත්තිය බලු තාපසයා රහත් උතුමෙක් කියල, බුදු පියාණන් වහන්සේ සමගත් පුන පුනා තර්ක කළා. බුදු පියාණන් වහන්සේගේ රූප කාය තුලින් බුදු ගුණ දකින්න පුළුවන් වුනේ නෑ. නියත මිත්‍යා දෘෂ්ටියට පත් වූ ඔහු ශාසනයෙනුත් බැහැර වුනා. දේවදත්ත භික්ෂුවත් එහෙමයි. බුදුරුව දැකීමෙන් බුදු ගුණ දැක්කෙ නෑ. වක්කලී නම් තරුණයා පැවිදි වුණේම බුදු රුව දැකීමේ ආසාවෙන්. නමුත් බුදු පියාණන් වහන්සේ "මේ කුණු කය දැකීමෙන් ඔබට පලක් නෑ , ධර්මය තුලින් මා දකින්න..." කියල ඔහුට අවවාද කළා. එකට තපස් දම් රැකපු පස්වග තවුසන්ට, පළමු ධර්ම දේශනාව සඳහා වඩින බුදුහිමියන් දැකීමෙන් බුදුබව ලබා ඇති බව පෙනුනෙ නෑ. "ආවුසෝ" කියලයි ඇමතුවේ.

එහෙනම් ඒ ධර්මය දේශනා කරන, ලෝකයාට විද්‍යමාන කරන භික්ෂූන් වහන්සේලාගේ බාහිර ස්වරූපයෙන්, ඔවුන් තුළ තියෙන ගුණ තේරුම් ගන්න බෑ. ඒ දේශනා කරන ධර්මය මනා සිහි නුවණින් ශ්‍රවණය කර, ඒ මග පිළිපැදීමෙන් පමණයි සත්‍ය අසත්‍ය තෝරගන්න පුළුවන් වන්නේ.

පාරමිතා පුරන මහ බෝසතාණන් වහන්සේලාත්, පසේබුදු බව පතා පාරමිතා පුරන බෝසතාණන් වහන්සේලාත්, ශ්‍රාවක පාරමිතා පුරන පිරිසත් මේ හැම දෙනාමත් පාරමිතා පුරන්නේ මේ බුදු දහම පැතිරිලා තියෙන භූමියේමයි. එබඳු පිරිස ධර්මශ්‍රවනය කළත් සෝවාන් ආදී මග ඵල ලැබෙන්නෙ නෑ. ඒ පරෝපකාරයට කැප වූ උතුම් තනතුරු සඳහා නියත වී ඇති නිසයි. අප මහ බෝසතාණන් වහන්සේත්, ඝටීකාර නම් තම යහළුවා බුදුන් දැක පැහැදිලා, ඒ බුදු පියාණන් වහන්සේගෙන් ධර්ම ශ්‍රවණය කරන්න යන්න එන්නැයි කියා කොතෙක් ඇවිටිලි කළත් යන්න කැමති වුණේ නෑ. අන්තිමේදී දිය නාන අවස්ථාවේ කෙස් කළඹින් ඇදගෙන කථා කළාමයි මෙතෙක් ඇවිටිලි කරන්න යම් හේතුවක් ඇතැයි සිතා කාශ්‍යප බුදුන් වහන්සේ බැහැ දකින්න ගියේ. මේ කරුණු අනුව **මේ කාලයේදීත් සත්‍යය මේ යැයි වැටහුනත්, එය නොපිළිගන්නා පිරිස් ඉන්න පුළුවන්.** මාධ්‍ය තුල මොන වාද විවාද තිබුණත්, නිවන් දැකීමේ අවංක උවමනාවක් ඇති පිරිස් බුදුන් වහන්සේ දේශනා කරපු මහාපදේශ සිහිකරල, තමාගේ ලබ්ධියට, විශ්වාසයට එකඟ නොවූ පමණින් බැහැර නොකොට විමසා බලා සත්‍ය ධර්මය අවබෝධකර ගන්න උත්සාහ ගන්න ඕන.

"මේ තරම් දුක් කරදර එන්නේ අපි කරපු පව් වැඩියි. ඒව ගෙවා ගන්නෙ නැතුව නිවන් දකින්නෙ කොහොමද?" මේ තවත් කෙනෙකුගේ හිත නිවනින් ඈතට යන කරුණක්.

අපි සසර ගතකරපු අති දීර්ඝ කාලය තුළ කරපු පිං පව් කුසල් අකුසල් මෙච්චරයි කියල නිම කරන්න බෑ. ස්වභාව ධර්මය තුලින් මේ තැනට එන්න ලැබිල තියෙන්නේ නිකම්ම නෙවෙයි. අනන්ත අප්‍රමාණ කාලයක් නිරයේ මහා දුක් විඳලා, තිරිසන්, ප්‍රේත ආදී දුගතිවල දුක් විඳලා, මනුෂ්‍ය ලෝකයට ආවත් අඟ පසඟ අඩුපාඩු බව, මන්ද බුද්ධික බව ආදී බොහෝ දුක් විඳල අපි කරපු අකුසල් බොහෝ ප්‍රමාණයකුත් කරපු කුසල් විපාක වශයෙන් දිව්‍ය මනුෂ්‍ය සැප සහිත ජීවිතත් ගතකරල බොහෝ කුසල ප්‍රමාණයකුත් ගෙවා අවසන් කරල තියෙනවා. බුද්ධෝත්පාද කාලයක ශ්‍රවණය කරන දහමක් මනාව තේරුම්ගත හැකි බුද්ධියක් ඇතිව, ශ්‍රී සද්ධර්මය පවතින ප්‍රදේශයක, ශ්‍රී සද්ධර්මය දේශනා කරන සිව්වනක් පිරිස අතරෙයි දැන් අපි ඉපිදිල ඉන්නේ. කරපු **අකුසල් ගෙවල අවසන් කරලම නිවන් දකින න්‍යාය ධර්මයක් තිබුණ නම්, නවසිය අනූ නවයක් මනුෂ්‍ය ඝාතන කරපු අංගුලිමාල, ඒ අත්බැව තුලදීම අරිහත්වය ලබා, අංගුලිමාල මහරහතන් වහන්සේ වෙන්නෙ කොහොමද? අම්බපාලී නම් ගණිකාව ඒ අත්බැව තුලදීම අරිහත් මෙහෙණින් වහන්සේ කෙනෙක් වෙන්නෙ කොහොමද?** පංචානන්තරීය පාප කර්ම, ආර්‍ය උපවාද වගේ බරපතල අකුසල් නොවන පාප කර්ම ගෙවා හරින්න පුළුවන් මහා බලසම්පන්න කුසල කර්ම තියෙනවා.

අං.නි (3) 50 පිටුවේ එන සුමනා සූත්‍රයේ, සුමනා උපාසිකාවන්ට දානය පිළිබඳ අනුශාසනා කරමින්, "සුමනාවනි, දන්දිය යුතුමය, පින් කළ යුතුමය. දෙව් වූවන්ටත්, මිනිස් වූවන්ටත්, ශ්‍රමණ වූවන්ටත් පින උපකාර වේ" යැයි දේශනා කරල තියෙනවා. නිවන් දක්නා මොහොත දක්වා සෑම සත්ත්වයෙකුටම පින උපකාර වෙනවා. අරිහතුන් වහන්සේටත් සිවුපසය ලබන්න පින උපකාරවන බව පූතිගත්ත තිස්ස භික්ෂූන් වහන්සේගේ කථාවෙන් පැහැදිළි වෙනවා. අන්‍යයන්ට උපකාර කරල පින් රැස් නොකළ නිසා, ඒ භික්ෂූන් වහන්සේ ගිලන් වුනාම, කිසිවෙක් උන්වහන්සේට උපස්ථාන කරන්න ඉදිරිපත් වුනේ නෑ. එහෙනම් **තමා කරන පින් අන්‍යයන්ට අනුමෝදන් කිරීම, පාප විපාක ගෙවා හරින්න පුළුවන් මහා ශක්තියක් බලයක් ඇති කුසලයක්.**

අපි අතින් වැරදි අසාධාරණ සිදු වූ **ලෝක සත්වයෝත් නිවන් නොදැක්ක නම්, අනන්ත අප්‍රමාණ ලෝක සත්ත්වයන් අතරේ කුමන භවයක හෝ සිටිය යුතුයි.** අවංකවම තමා අතින් වැරදි අසාධාරණ සිදුවූ යම් පිරිසක් ඇත්ද, අනන්ත ලෝක සත්‍වයින් කෙරෙහි මෙත් සිත් පතුරුවා, ඒ අයගෙන් සමාව ඉල්ලා, පින්පෙත් අනුමෝදන් කර, ගැහුවත් බැන්නත් හිංගි හිංසා කළත් එරෙහි නොවී ඉවසල ඉන්න පුළුවන් නම්, අනන්ත අප්‍රමාණ ලෝක සත්‍වයින් කෙරෙහි ආර්ය මෛත්‍රිය පතුරුවන්න පුළුවන් නම්, පාප විපාක මැඩගෙන නිවන කරා යන්න පුළුවන් න්‍යාය ධර්මයක් තියෙනවා. අනන්ත සසරේ දී අපිට උපකාර කරපු පිරිසටත් පින් අනුමෝදන් කරල ණයෙන් නිදහස් වෙන්න පුළුවන්.

රාගයෙන්, ද්වේශයෙන්, **මෝහයෙන් බැඳිලා අපි කරපු අකුසලයක් තියෙනව නම් ඒක සීමා සහිතයි. අනන්ත ලෝක සත්‍වයින් කෙරෙහි අප්‍රමාණ වූ මහත්ගත වූ සිතින් ආර්‍ය මෛත්‍රිය විහිදුවා පතුරුවා හැරීමෙන් ලබන කුසලය අනන්තයි, අප්‍රමාණයි.** බුදු ගුණ අප්‍රමාණයි, දහම් ගුණ අප්‍රමාණයි, සඟ ගුණ අප්‍රමාණයි. අප්‍රමාණ ගුණ ඇති මේ ත්‍රිවිධ රත්නයට කරන ගුණ උපහාර පූජාවලින් ලබන කුසලය අනන්තයි, අප්‍රමාණයි. සීමා සහිත වූ අකුසල විපාකය, **අසීමිත වූ කුසල විපාකයෙන් මැඩ පවත්වන්න පුළුවන්.** ලුණු මිටක් කුඩා වතුර බඳුනක දිය කළොත්, ලුණු රස වැඩියි. නමුත් ඒ ලුණු මිටම ගඟ දියට දැම්මොත් ගඟේ වතුර ලුණු රස වෙන්නෙ නෑ වගෙයි.

එහෙනම් **පව් ගෙවා අවසන් කරන කල් නිවන පමාකර නොගනිත්වා! පව් ගෙවා අවසන් කර නිවන් දකින න්‍යාය ධර්මයක් තිබුණ නම්, මේ ලෝක සත්‍වයාට නිවනක් ගැන හිතන්නවත් බෑ.** ඒනිසා සියලු ලෝක සත්‍වයෝ අති දුර්ලභ බුද්ධෝත්පාද කාලයේ දී ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය කර නිවන ළඟා කර ගනිත්වා!

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# හෙළ අටුවාවෙන් පසු සැඟව ගිය දහම් අරුත් මතු කරන පද නිරුක්ති ක්‍රමය නැවතත්

මීට වසර දහසකට පමණ පෙර අපට තිබුණු හෙළ අටුවා පොත්වල, දහම් පදවලත් එදිනෙදා ව්‍යවහාර කරන ඒ ඒ ප්‍රදේශවල පදවලත් සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති ක්‍රමයක් තිබුණා. **ඒ පද නිරුක්ති භාෂා විශාරදයන් දීල තිබුණු ඒවා නෙවෙයි, සිව්පිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා මුඛ පරම්පරාවෙන් ගෙනාපු, නිරුක්ති පටිසම්භිදා ඥානයට ගෝචර වුණු දහම් අරුත් මතු කරන ක්‍රම රටාවක්**. නමුත් කුමන ක්‍රමයකින් හෝ ඒ වටිනා දහම් පොත්වල එක පත් ඉරුවක්වත් අද වෙන කොට හොයා ගන්න බැරි තත්ත්වයට පත් වෙලා තියෙනවා. මහා වංශයේ නම් සඳහන් වෙලා තියෙන්නේ ඒවා මහා විහාරයත් සමග ගිනිබත් කළා කියලයි. එහි සත්‍ය අසත්‍යතාවය නොදන්නා නමුත් සමහරවිට ඉදිරි කාලවලදී ඒවා නැවත ලැබෙන්නත් පුළුවන්. කොහොමහරි ඒ වටිනා දහම් පොත්වලින් පසුව ලියපු පොත්පත් තමයි අද වෙනකොට බොහෝ කොටම භාවිතයේ තියෙන්නේ. ඒකෙන් සිද්ධ වුණේ බුදුන් වහන්සේ දේශනා කර වදාළ, සිව්පිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා විසින් දිවි හිමියෙන් ධර්ම සංගායනා කොට පවත්වාගෙන ආ නිර්මල දහම් මග විවිධාකාරයේ අර්ථ විපරීතයන්ට ලක්වෙලා බොදුනු පින්වතුන් මහා පඹගාලක පැටලීමයි. දැන් සිද්ධවෙලා තියෙන්නෙත් ඒකයි.

නමුත් ඒ පැටලිලි සහගත භාවය ක්‍රමයෙන් ඉවත් වෙමින් එදා තිබුණු පද නිරුක්ති ක්‍රමය පින්වතුන්ගේ වාසනාවට ක්‍රමානුකූලව නැවතත් මතු වෙමින් කලඑළි බහිමින් තියෙනවා. මෙතෙක් හෙළි කරපු දහම් කරුණු මගින් වරින් වර ඒ පද නිරුක්ති මතු කර පෙන්නුවත්, ඇතැම් තර්කවාදීන් ඒවා තෝරාගන්න බැරිව විවිධාකාරයේ භාෂා ප්‍රශ්න මතු කරමින් සිටින බවත් දැනගන්න ලැබෙනවා. එවැනි ක්‍රමයක් ත්‍රිපිටකයේ නොමැති බවත්, ඒ ආකාරයට වචන බෙදා වෙන් කර අර්ථ ගත නොහැකි බවත් ප්‍රකාශ කරමින් ඒ අය මේ පද නිරුක්ති ක්‍රමය භාෂා නිරුක්ති හා භාෂා රීතීන් සමග පටලවාගෙන තියෙන බවක් පෙනී යනවා. ත්‍රිපිටකයේ නැතැයි කියන ඒවා ත්‍රිපිටකයේම සූත්‍ර දේශනාවලට අනුකූලව හා හේතුඵල සහිතව පෙන්වා



දෙන්නයි මේ උත්සාහ කරන්නේ. ඒ නිසා මේ මතු කරන පද නිරුක්ති කියන්නේ මොනවාද, ඒවායින් කරන්නේ මොකක්ද, ඒවා කොයි තරම් දහමට ගැළපේ ද, දහම් අවබෝධයට උපකාර වේ දැයි කියන කාරණා මේ ලිපි පෙළ අවසානයේ දී පින්වතුන්ට ඉතා හොඳින් වටහාගන්න පුළුවන් වේවි. පළමුවෙන්ම පහත පාලි පාඨයෙන් කියන්නේ මොකක්ද කියල විමසා බලමු.

''යො නිරුක්ති නජානාතිං ජානාති පිටකත්තයං පදේ පදේ **විබංකෙයිය වනේ අන්ධ ගජෝ විය''**

**යමෙක් නිරුක්ති දන්නේ නැතිව පිටකත්තය (ත්‍රිපිටකය) දැනගෙන හිටියත්, පදෙන් පදය සැක හැරලා තේරුම් ගන්න ගියාම කැලේ ඉන්න අන්ධ වෙච්ච හස්තියෙක් වගේ කියලයි මේකෙන් පෙන්වන්නේ**. මොකද ඇතා ලොකු නිසා අන්ධ වුණාම යන්න බෑ, හැම තැනම හැපෙනවා, වැටෙනවා, එරෙනවා. මේ වගේ ලෝක සත්වයාට ඇත්ත පෙන්වා දෙන්න, සැක හැරල දැන ගන්න, ධර්මය විග්‍රහ කරන්න ගියාම නිරුක්ති දන්නෙ නැත්නම්, ඇත්ත පේන්නෙ නැති නිසා කැලේ ඉන්න අන්ධ ඇතෙක් වගේ අතරමං වෙන්න සිද්ධ වෙනවා. ඒ නිසා නිරුක්ති පටිසම්භිදා ඥානය පහළ වුණේ නැත්නම් මුළු ත්‍රිපිටකයම කටපාඩම් කරගෙන හිටියත් වැඩක් නෑ, විග්‍රහ කරන්න ගියාම හැම තැනම පැටලෙනවා.

එහෙනම් නිරුක්තිය කියන්නේ මොකක්ද? **භාෂා නිරුක්තිය කියන්නේ එකක්. පදේට තියෙන පද නිරුක්තිය කියන්නේ තව එකක්.** මේ දෙක පටලවා නොගත යුතුයි. පද නිරුක්තිය කියන්නේ ඥානයට ගෝචර වන එකක්. ඒක නිරුක්ති පටිසම්භිදා ඥානය කියන සිව්පිළිසිඹියාවට අයිතියි. මේ බුදු දහම ඇසුරු කරගෙන යන ප්‍රඥා අධිකයන්ට අත්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන කියන පටිසම්භිදා ඥාන හතරක් පහළ වෙනවා. (පටිසම්භිදා මග්ග ප්‍රකරණය), සිව්පිළිසිඹියාව කියන්නේ ඒකටයි. දැන් සමහරු තවත් ප්‍රශ්නයක් අල්ල ගන්න පුළුවන්, සිව්පිළිසිඹියාව හෙවත් මේ කියන ඥාන තියෙන්නේ රහතන් වහන්සේලාට විතරයි කියල. මේකත් වැරදි මතයක්. මේ කියන **සිව්පිළිසිඹියාව ප්‍රඥා අධික සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන් අරිහත් ඵලය දක්වා ක්‍රමානුකූලව ඒ ඒ ශ්‍රාවකයින්ගේ මට්ටමින් පිහිටනවා.** එහි ඉහළම තලයට ගියේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ. ඊළඟට ☞

ශ්‍රාවකයන් අතරින් එහි ඉහළම ස්ථානයේ සිටියේ සැරියුත් මහ රහතන් වහන්සේ. ඒ වෙනකොට රහත් නොවූ අය අතරින් ආනන්ද හිමියන්ටත්, දෝණ නම් අනාගාමී උපාසක තුමාටත් තිබුණා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේ දී ආනන්ද හිමියන් සෝවාන් ඵලය විතරයි ලබාගෙන තිබුණේ. නමුත් ශ්‍රාවක පාරමිතා නිසා ඇති වූ සිව්පිළිසිඹියාවෙන් දේශනා ප්‍රාතිහාර්ය තිබුණා.

ඊළඟට දෝණ බ්‍රාහ්මණතුමා අනාගාමී ඵලයට පත් වෙච්ච මොහොතේම සිය පටිභාන කවීත්වය උපයෝගී කර ගනිමින් කවි 12000කින් බුදු ගුණ වර්ණනා කළ බව දෝණ ගර්ජනාව නමින් පැරණි පොත්වල සඳහන් වෙනවා. එතකොට පටිභාන දේශනා ශක්තියේ තවත් විශේෂිතම හැකියාවක් තමයි පටිභාන කවීත්වය. පටිසම්භිදා ඥාන නැත්නම් පටිභාන කවීත්වය පිහිටන්නෙත් නෑ. (අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ එන කවි සූත්‍රයේ මේ පිළිබඳව විස්තර කර ඇත.) මේ අනුව ඉතාම පැහැදිලියි රහත් ඵලයෙන් මෙහා ඉන්න අයටත් ඒ ඒ අයගේ මට්ටම්වලින් සහ සසරේ පුරපු පාරමිතා ශක්තීන් අනුව සිව්පිළිසිඹියාව පිහිටන්න පුළුවන් කියන කාරණය. අනෙක රහත් ඵලයට පැමිණෙන හැමෝටමත් මේ සිව්පිළිසිඹියාව කියන එක පිහිටන්නෙ නෑ. **ඇතුන් අතර ගජමුතු ඇතුන් දුර්ලභ වගේ චතුපටිසම්භිදා ඥාන හෙවත් සිව්පිළිසිඹියාව වැඩිච්ච ආර්ය ශ්‍රාවකයන් වහන්සේලා බිහිවන්නේ ඉතා දුර්ලභවයි.** ශ්‍රාවක පාරමිතාවන් පුරාගෙන එන අයට ඒක විශේෂයෙන් පිහිටනවා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේත් දේශනා ශක්තිය තිබුණු සිව්පිළිසිඹියාපත් ආර්ය ශ්‍රාවකයන් වහන්සේලා හිටියේ ඉතා අඩු ප්‍රමාණයක්. බොහෝ කොටම හිටියේ ආර්ය මාර්ගය පූර්ණ කරගෙන අරිහත්වයට පැමිණියත් දේශනා ශක්තිය නැති ශ්‍රාවකයන් වහන්සේලා. ඒ කාරණය සසර පාරමිතාවන් හා තමන්ගේ ප්‍රාර්ථනාවන් පරිදි සිද්ධවෙන දෙයක්.

මේ කියන චතුපටිසම්භිදා ඥාන හතරෙන් **නිරුක්ති පටිසම්භිදා ඥානය කියන්නේ ධර්මාවබෝධය හේතු කොටගෙන පහළ වන නුවණක්.** ''නිරුක්ති පටිසම්භිදා ඥානං බුද්ධ ඥානං'' කියල හඳුන්වන්නේ ඒකයි. **යම් කිසි පදයක් කියන කොට ඒ පදය හැදිල තියෙන හැටි, නිවන් දැකීමට හේතු කාරක වන අර්ථය ඒ පදයේ ගැබ් වෙලා තියෙන හැටි ඒ නුවණට ගෝචර වෙලා වැටහෙනවා. ඒක ඉගෙන ගෙන කටපාඩම් කර ගන්න එකක්වත්, හිතා මතා ආයාසයෙන් ලබා ගන්න එකක්වත් නෙවෙයි,** නුවණට ගෝචර වන දෙයක්. මේ ඥානය පහළ වෙච්ච යම් කිසි ආර්ය ශ්‍රාවකයෙක් ඉන්නව නම්, ඔහුට පුළුවන් නිරුක්ති විග්‍රහ කරන්න.

හැබැයි මේ කියන නිරුක්ති පටිසම්භිදා ඥානය ඇතුළු චතුපටිසම්භිදා ඥානයන්ගේ වැඩීම ඒ ඒ ආර්ය ශ්‍රාවකයන් අතරත් විවිධාකාර මට්ටම්වලින් සිද්ධ වෙන්න පුළුවන් වගේම, එකම ආර්ය ශ්‍රාවකයෙක් ගත්තොත් ඔහු ආර්ය මග පූර්ණ කරමින් ඉදිරියට යනකොට එහි ක්‍රමානුකූල වැඩිවීමකුත් දැක ගන්න පුළුවන්. ඒක මේ වගේ උපමාවකින් පහදන්න පුළුවන්. අපි හිතමු අන්ධකාරය තියෙන යම් කිසි ස්ථානයක පහනක් දල් වුවා කියල. ඒ පහන් එළියෙන් අවට යම් කිසි වපසරියක් ආලෝකමත් වෙනවා. ඉන් එහාට විශාල ප්‍රදේශයක් ආලෝක කිරීමේ හැකියාවක් ඒ පහන් එළියට නෑ. මෙන්න මේ වගේ තමයි නිරුක්ති පටිසම්භිදා ඥානය පහළ වූ මුල් අවස්ථාවේදීත් එක්තරා සීමිත ප්‍රමාණයකට පද නිරුක්ති මතු කරන්න පුළුවන්. ඊළඟට අහසේ තරු එළිය ගත්තොත්, අර කියපු පහනින් ආලෝකමත් කරපු ප්‍රදේශයට වඩා වැඩි ප්‍රමාණයක් ආලෝකමත් කරන්න පුළුවන්. නිරුක්ති පටිසම්භිදා ඥානයත් ක්‍රමානුකූලව වැඩෙනකොට මේ දෙවැනි උපමාවෙන් පෙන්වපු ආකාරයට පද නිරුක්ති විග්‍රහ කිරීමේ හැකියාව වැඩි වෙනවා. ඊළඟට හඳ එළිය ගත්තොත් මේ කියපු පහන් එළිය හා තරු එළිය කියන දෙකටම වඩා වැඩි ප්‍රමාණයක් ලෝකයේ අන්ධකාරය දුරුකරල ආලෝකමත් කරන්න පුළුවන්. නිරුක්ති පටිසම්භිදා ඥානයේ තුන්වැනි අවස්ථාව තමයි ඒ. එහිදී දෙවෙනි අවස්ථාවටත් වඩා පද නිරුක්ති විග්‍රහ කිරීමේ හැකියාව ලැබෙනවා. හඳ එළියෙත් අටවක, අමාවක, පසළොස්වක ආදී වශයෙන් විවිධ මට්ටම් තියෙනවා. ඒ ඒ මට්ටම් හා සමානව නිරුක්ති විග්‍රහ කිරීමේ හැකියාවත් ක්‍රමාණුකූලව වැඩිවෙනවා.

ආලෝකය සඳහා ගන්න තියෙන ලොව හොඳම උපමාව තමයි සූර්යා. සූර්යාගෙන් මේ කියපු සියල්ලටම වඩා වැඩි ප්‍රමාණයක් මුළු ලෝකයේම ආලෝකමත් වෙනවා. සූර්යාලෝකයෙත් හඳ එළිය වගේ විවිධ මට්ටම් තියෙනවා. දවල් දොළහ වෙනකොට තමයි උපරිමයට එන්නේ. උපමාවක් විදිහට ගත්තොත් එහි උපරිමය තමයි ලොව්තුරා බුදු කෙනකුට පිහිටන්නේ. උන් වහන්සේට විග්‍රහ කරන්න බැරි කිසිම වචනයක් මේ ලෝකයේ නෑ. නිරුක්ති පටිසම්භිදා ඥානයත් ඒ ඒ ශ්‍රාවකයාගේ මට්ටමින් උපරිමයට වැඩෙනකොට සූර්යාලෝකයෙන් ලොව ආලෝකමත් කරනවා වගේ මහා පුළුල් පරාසයක වචනවල පද නිරුක්ති ඉතා සියුම් ලෙස විග්‍රහ කිරීමේ හැකියාව ලැබෙනවා. **සමහර විට ඒ හැකියාව කොච්චර ද කියනව නම්, ලෝකයේ ඇති ඕනෑම ව්‍යවහාර භාෂාවක ඇති වචනවල පද නිරුක්ති විග්‍රහ කිරීමේ හැකියාව ලැබෙන්නත් පුළුවන්** (බුදු කෙනෙකුගේ හැකියාවට යටත්ව). **නමුත් ඒ සඳහා ඒ වෙනත් භාෂාවල් ඉගෙන ගැනීමක් හෝ කතා කිරීමේ හැකියාවක් අවශ්‍ය නෑ.** තමන් ව්‍යවහාර කරන භාෂාවෙන්ම වෙනත් භාෂාවක ව්‍යවහාර පදවලට නිරුක්තිය දෙන්න පුළුවන්. ඒක නිරුක්ති පටිසම්භිදා ඥානයේ තවත් විශේෂ ලක්ෂණයක්. භාෂා නිරුක්ති සමග මේ කියන පද නිරුක්ති පටලවා ගන්න එපැයි කිව්වෙත් මේ නිසයි. එවැනි වෙනත් භාෂාවන්වල භාවිතා වන පදවල පද නිරුක්තීන් පවා ඉදිරියේ දී දැන ගන්න ලැබේවි.

නිරුක්ති පටිසම්භිදා ඥානයට ගෝචර වෙන පද නිරුක්තීන් දහම් න්‍යායට අනුකූලවයි ලැබෙන්නේ. එහිදී යම් කිසි පදයක දහම් අර්ථය විසඳිලා එන ක්‍රමයක් තියෙනවා. හරියට පරිගණකයකට යම් කිසි දත්ත ප්‍රමාණයක් එකතු කරල නියමිත සංඥාව දුන්නම අපට අවශ්‍ය කරන විස්තර ටික එනවා වගේ. එහෙනම් බුද්ධ දේශනාව අනුව යම් කිසි දෙයක් ධර්මයට බහා බලන කොට බහා හිටින්නෙ නැත්නම්, විනයත් එක්ක සසඳන කොට සැසඳෙන්නෙ නැත්නම් ඒක ගන්න එපා, බහා හිටිනවා නම්, සැසඳෙනවා නම් ඒක බුද්ධ දේශනාවක් හැටියට ගන්න කියලයි දේශනා කරල තියෙන්නේ. එහෙනම් ඒ දේශනාව මේ නිරුක්ති ක්‍රමයටත් අදාලයි. මේ නිරුක්තිවලින් දෙන දහම් අදහස් ධර්මයට විරුද්ධ ද, විනයත් සමග සැසඳෙන්නෙ නැද්ද කියන කාරණා තමන්ටම බලාගන්න පුළුවන්. මේ නිරුක්ති ක්‍රමය ගත්තම නිරුක්ති පටිසම්භිදා ඥානය කියන එකටත් නිරුක්තියක් තියෙනවා. එතකොට ඒකත් නිරුක්ති පටිසම්භිදා ඥානයෙන්මයි දකින්න ඕන.

''පටි'' කියන්නේ බැඳෙන ඒවා. අපි එදිනෙදා පාවිච්චි කරන පටිවලින් කරන්නෙත් යමක් යමකට බැඳ තැබීමයි. බැඳලා ගොඩ ගහපුවාම ''පටි සං'' වෙනවා. 'සං' කියන්නේ එකතුවීම. සංයෝග, සම්බන්ධ,

28 වෙනි පිටුවට...

**අභයරතනාලංකාරය - 11**

# මිනිස් සිරුරට ඇරක් ගත් අමනුෂ්‍ය බලවේග පලවා හැරි ගුප්ත ලොව ප්‍රතිකර්ම

*(පසුගිය කලාපයෙන් -*
*පටිභාන කවීත්වයෙන් නැගී ආ ගුප්ත ලොව ප්‍රතිකර්ම මගින් ලෙඩ රෝග සුවපත් කළ හැටි...)*



**- වහරක අභයරතනාලංකාර හිමි**

අපේ ගමට ගම් කිහිපයක් ඈතින් පිහිටි එක්තරා පෙදෙසක දේවාලයක කපු මහත්තයෙක් පිළිබඳව සත්‍ය සිදුවීමක් තමයි මේ කියන්න යන්නේ. ඒ අය කැමති නොවන බව වැටහුණු නිසා නම් ගම් සඳහන් කිරීම සුදුසු නෑ. මේ සිද්ධියත් 1986/87 වගේ කාලයක සිද්ධ වූවක්.

එක්තරා කෙට්ටු පුද්ගලයෙක් දිනක් මා හමුවීමට පැමිණියේ ඔහුගේ බඩේ ආබාධයක් පිළිබඳව හේතු බලා ගන්නයි. බුලත් කොල කිහිපයක් සමග හුරුල්ලක් තැබූ ඔහු කාරණය නොකියා තමාට යමක් දැනගත යුතු බව පැවසුවා. ඔහුගේ බඩේ තදබල අජීර්ණයක් ඇති බවත්, ඒක එක්තරා යක්ෂණියක් නිසා අල්ලා සිටින බවත්, එය ඇයගේ වාසස්ථානයක් බවත් මට පෙනුනා. එය වසර හයක් පමණ පැරණි ආබාධයක් බවත්, වෙදකම් කරල තිබුණත් සුවයක් නොලැබූ බවත් මම ඔහුට පැවසුවා. ඔහු ඉතා සතුටට පත්වෙලා මෙය කිසිම තැනකින් නොකියවුණ බවත්, මේ කියපු ටික හොඳටම සෑහෙන බවත් පවසා ප්‍රතිකර්ම කෙසේ කළ යුතු දැයි විමසුවා.

මොහුට ඇති අමනුෂ්‍ය බැල්ම ඔහුගේ දේවාලයේ කටයුතු කරගන්න පහසුව සඳහා බැඳගත් එකක් බවත්, එය කර තිබෙන්නේ හාමුදුරු කෙනෙක් බවත් ඔහු මට පසුව පැවසුවා. ස්ථානයේ යම් බන්ධනයක් කපා කෙනෙකුට සෙත් කරන කොට ඒ බන්ධනය (කපු මහතාගේ ඇඟට ඇති දිෂ්ඨිය) නොකැපී අදාල ආතුරයාගේ ඇඟට ඇති බන්ධන පමණක් කැපී යන ලෙස ආරක්ෂා මන්ත්‍රයක් ගැට හිර කර තබන ක්‍රමයක් කපු මහතාට කියාදී තිබුණා (මෙය ඇදුරු ආරක්ෂාවයි). ඒකත් ඔහු පමණක් දන්න රහසක් වුණා. නමුත් ඔහුට තියෙන රෝග කාරක බලවේගය එය බව ඔහු විශ්වාස කළේ නෑ.

මොහුට කළ යුතු ප්‍රතිකර්මය ගැන අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයෙන් පරීක්ෂා කරල බලන කොට ඇඹුල් පහ බෝතල් බාගයක් පමණත් (දෙහි, දොඩම්, නාරං, නස්නාරං, කාමරන්කා..... ආදී) පස් පැඟිරි දර (පැඟිරි දර වර්ග 5 ක්) සහ කපුරු පෙති ලොකු පැකට්ටුවකුත් සොයා තබන ලෙස දැනුම් දුන්නා. (දැන් විස්තර කරන්නේ ඉතා කෙටියෙන් විශේෂම කරුණු පමණයි) නියමිත දින මා එම ස්ථානයට රැගෙන යන්න ඔහු පැමිණියා. මම එතැනට ගිහින් කරන දේ මොකක්ද කියල මමවත් දැනගෙන හිටියෙ නෑ. නමුත් සමාධි ක්‍රමවේදය තුළින් ඒ කටයුත්ත මනා ලෙස එහිදීම නැගී එන බව මට විශ්වාසයක් තිබුණා.

නිවසට ගියාම පෙර මවපු ගුරුවරයාගේ හඬත් ඇහුණා. කපු මහත්තයා සමග දේවාලයට යන ලෙස ඔහු මට දැනුම් දුන්නා. ඔහු සමග අඩි පාරක් දිගේ ගිහින් කැලෑ පෙදෙසක තිබ්ච්ච දේවාල ගෙයකට අපි ගියා. එහි දොර ඇරල බැලුවාම විවිධ දේව රූපත් , පිඹින හක් ගෙඩියකුත් තිබුණා. ගගනය නමින් හඳුන්වන පොඩි සීනුවකුත් එහි තිබුණා. ඒ ඔහුගේ කටයුතුවලදී ආවේස වෙන්න ශබ්ද කළ යුතු දේවාභරණ යැයි කියන උපකරණයක්.

පළමුව හක් ගෙඩිය මගේ අතට ගන්නැයි මවපු ගුරුතුමාගෙන් හඬ නැගුණා. මම ඒක අතට ගත්තා. හත් වාරයක් එය පිඹින ලෙස අණ ලැබුණා. හක් ගෙඩියක් පිඹල නැති මම, එය පිඹින හැටි නොදැන හිටියත් ඒ ක්‍රමය මොහොතින් දැනුණා. වතා තුනක් පිඹින කොට කපු මහතාට විවිධ ආවේස නැගී දේව භාෂා කියන විවිධ භාෂාවලින් කතා කර මගෙන් මොනවදෝ ඇහුවා. ඒ භාෂාව මට තේරෙන්නෙ නෑ. නමුත් අහන්නේ මෙබඳු දෙයක්ය කියන එක වැටහෙනවා. තමන්ට අඬගහන්න හේතුව කුමක් දැයි ඒ ඒ ශුද්ධ බලවේග (දේවතාවෝ) අහන බව වැටහුණා. මම සිංහලෙන් කතා කරල මේ වගේ ආබාධයක් කපු මහතාට තිබියදී ඒ කටයුත්තට ප්‍රතිකර්ම නොපෙන්නුවේ ඇයි කියල ටිකක් සැරෙන් ඇහුවා. සමාවෙන්න එය කර දෙන්න අවසරයි කියා අදහසක් ඒ භාෂාවෙන්ම කියා ඒ ආවේසය ඉවත් වුණා. හතර පස් වතාවක් පිඹින කොට තවත් කිහිප දෙනෙක් ඒ විදිහටම ආවේස වෙලා යන්න ගියා. හත්වෙනි වතාව පිඹින කොට දෙමළ භාෂාව වගේ භාෂාවකින් කතා කරමින් පෙර කියපු යක්ෂණිය ආවේස වුණා. ගුප්ත ලොවේ කවුරුන් හෝ ''ඔන්න ආව බඩු කැල්ල'' කියන හඬක්ද ඇහුණා. ඇය මගෙන් වේගයෙන් මොනවදෝ දෙමළ වැනි භාෂාවකින් අහන්න පටන් ගත්තා. ''අම්මේ මම ඔබේ භාෂාව දන්නෙ නෑනේ! අම්ම මට ඉගැන්නුවෙ නෑනේ!'' මේ විදියට මම දැන් කතා කරන්නෙත් අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයේ අනුසාරයෙන්. මං අම්ම වුනේ කොහොමද කියන අදහසක් ඇය ඇගේ භාෂාවෙන් අහන බව මට දැනුනා. මම සිංහල බසින්ම ''අම්මට තාත්ත මතක නැද්ද අර උඩ ඉන්නෙ, උඩ බලන්න, තව තව හුඟක් උඩ, තව උඩ බලන්න'' යනුවෙන් මෙහෙම කියන කොට ඇයට කිසිවක් මතක නැතිව ඉතා ඉහළ ආකාශයට ගියා වගේ මට වැටහුණා. නැවත අධිෂ්ඨාන කරන කල් පහතට බහින්න බැරිවෙන ලෙස හිතා කුඩා සීනුව වරක් ''ක්ලිං'' යන නාදයෙන් නාද කර එහි මැද ඇති ශබ්ද නැගෙන ගෙඩිය ඇඟිල්ලෙන් තද කර ගත්තා. එතකොට කපු මහතාට මනා සිහිය ලැබුණා.

ඉන්පසු දේවාලය වසා දේවාභරණයක් ලෙස සැලකූ ගෙඩි සීනුව (ගගනය) නොසෙල්වෙන්න අතින් තද කරගෙන මීටර් 150 ක් පමණ දුර අඩි පාර දිගේ ඔහුගේ ගෙදරට පැමිණියා. ඒ ☞

ශාන්තිය සඳහා වෙන් කර තිබිච්ච බිම ගොම පිරියම් කර තිබුණු කාමරයක්. එතැනට කපු මහත්තයත් ලං කර ඔහුට තිබිච්ච අමනුෂ්‍ය ආවේසය නැවත ගත යුතු වූ නිසා හිර කරගෙන හිටපු ගගනය ඔහුගේ අතින් අල්ලා තුන් පාරක් නාද කළා. වටයෙන් වටය අමනුෂ්‍ය බලවේගය උඩ පටන් පහතට එන බව මා හට අධ්‍යාත්මිකව දැනුණා. ඒ සමගම ඔහු ආවේස වෙලා නැවතත් දෙමළ වැනි භාෂාවකින් කතා කරන්න වුණා. මම දැන් ක්‍රියා කරන්නේ අධ්‍යාත්මික ගුප්ත බලය අනුවයි. නිකන් බොරු නොකර සිංහලෙන් කතා කරපන් කිව්වත් ඇය (යක්ෂණිය) කතා කළේ දෙමළ වැනි භාෂාවකින්. උපක්‍රමයකින් සිංහල කතා කරවිය හැකි ක්‍රමයක් මගේ හිතට ඇදී ආවා. එතැන හිටපු කාන්තා පක්ෂයට නොපෙනෙන්න, කාන්තාවන්ව කුස්සිය දෙසට යන්න සලස්වා ක්‍රියාත්මක කරපු ක්‍රමවේදයකින් යක්ෂණිය කුණු හරුපයෙන් බැණ වැදුනා. ඔය අපූරුවට සිංහල කතා කළේ යැයි කියා, සිංහල මිනිස්සු සමග කොලොප්පම් වැඩ නොකර උඹට හිමි දෙසකට අර ජනේලයෙන් පැනල පලයං කියා මා තර්ජනය කළා. මා හට යළිත් ඉහලින් පනිවුඩයක් ලැබුණා දැන් පැත්තකට ගිහින් බුලත් විටක් එහෙම කන්න කියා. මම කපු මහතා හිටපු කාමරයේ උළුවස්ස පාමුල බිම, විෂ්ණු වරමයි කියමින් අතේ තිබිච්ච ගගනයෙන් (කුඩා සීනුවෙන්) බිම ඉරක් ඇන්දේ ගුප්ත ක්‍රමයේ මෙහෙයවීම අනුවමයි.

ඉන් පසු බඹ දෙකක් පමණ දුරින් මේසයක් මත තිබූ දැහැත් වට්ටියෙන් බුලත් පුවක් ආදී හතර පංගුව කටේ දමා ගත්තා පමණයි. ආවේසවෙලා හිටපු කපු මහතා සැනෙකින් උඩපැන හරස් අතට ඉදිමින් උඩ උළුවහු පතේ ගැටෙන තරමට උඩින් කාමරයෙන් එළියට පැන කුස්සියේ දොරෙන් පිටවෙලා වේගයෙන් දිව්වේ දේවාලයට යන අඩිපාර දිගේ.

මමත් මා මෙහෙය වෙන පරිදි ඔහු පසුපස ලුහු බැන්දා. නමුත් ඔහු බඹ 25 ක් පමණ මට වඩා ඉදිරියෙන් දිව්වා. මම ගගනයේ කොනක් ඔහුට දිගු කර නවතිනු යන විධානය තදින් කරමින්, නවතන ස්වභාව විධානයක් කරනවාත් සමගම ඔහු ගල් ගැසුණා සේ හිටියා. නැවත මා එතෙන්ට ගිහින්, පැනලා යන්නද හැදුවේ? ඇයි නොගියේ? කියමින් මෙහෙ එනවා ගෙදර කියා ඔහු ඇදගෙන නිදන කාමරයට ගෙනාවා. ඒ මොහොතේ කාමරයේ දොර උළුවස්ස ලඟට පිටුපස හරවාගෙන හිටපු ඔහුගේ කකුල් දෙක පිටුපසට මාගේ වම් කකුල යවා උරහිසින් හෙමින් කාමරයට තල්ලු කළා. වාරු ගන්න බැරි වූ ඔහු උඩුහුරුව කාමරයේ බිම පතිත වුණා. වැටෙන්න නොදී බිමට පහත් කර ඔහුගේ ඇඟට බරදී ඉඳගත් මම, ඒ කවි ක්‍රම රටාවෙන් නැගෙන්නා වූ බලයක්, ආවේස වූ ඔහු වෙතම එල්ල කළා.

මෙතනදී මුලින් කියන්න තිබිච්ච දෙයක් දැන් කියන්න සිද්ධ වෙනවා. එනම් මා මේ කටයුත්තට නිවසින් පිටවෙන්න පෙර තෙරුවන් ගුණ උදෙසා පහනක් හා හඳුන්කූරු දල්වා තබා කවි කිහිපයකින් පූජා කර ආසිරි ගැනීමයි.

අපමණ ගුණ ඇති සම්බුදු රජිඳුට
මෙපහන් ආලෝකය පුදමී
තුන් ලෝ එළි කළ නැණ එළි ගුණ දැක
පුදමින් මෙම ආසිරි පතමී
සත සෙත කරනට ගුණ බල වඩනට
බුදු අම සොම් ආසිරි ලබමී
වඳිනෙමි බුදු රජ දිවමන් කල ලෙස
ආසිරි සෙත් සුව ගෙන දිලෙමී

සම්බුදු රජිඳුනි දෙසු දම් කඳ වෙත
සුවඳ දුමින් මෙලෙසට පුදලා
සදහම් ගුණ බල සුවඳ නැගෙන්නට
ආසිරි ලබනෙමි සෙත පතලා
සදහම් ගුණ බල සෙත සලසාවා
සියලු සතගෙ දොස දුරු කරලා
වඳිනෙමි සම්බුදු රජ දෙසු දම් කඳ
ආසිරි නෑවේවා නැගිලා

උතුම් මහා සඟ රත්නය වෙත වැඳ
එසඟ ගුණේ ආසිරි ගන්නේ
මහ සඟ පෙරටුව යන ගමනක් ලෙස
රැකවරණද සුව ලැබ ගන්නේ
තෙරුවන් ගුරු කර මුනි රජ මුල් කර
ආසිරි මහ සෙත ලබමින්නේ
අවසර පතනෙමි සත සෙත වේවා
සියලු සතට අම සෙත දෙන්නේ

මේ එබඳු වතාවත් කරන සෑම දිනකම උදේට, කවි නැගී සෙත ලබන ක්‍රමයක්. මේ කවි ඒ පදවලින්ම නෙවෙයි, අදහස ගැලපිලා මෙබඳු කවිවලිනුයි ඒ ආසිරි ලබන්නේ. එදිනත් මේ විදිහට ආසිරි ලබන කොට ඉහළින් හඬක් ඇසුනා. ''පුතා අමනුෂ්‍යයාට බල වැඩියි. නමුත් බය වෙන්න එපා. ඔබට බල ලැබේවි.''

මේ කියපු සිද්ධිය සිද්ධවන මොහොත දැන් ලංවී ඇති බව මට පෙනුනා. උඹට වඩා මට බල තියෙනවා යැයි කියපු ඔහු ආවේසෙන් මා ඔසවා නැගෙන්න වුණා. ඉතා කෙට්ටු සිරුරක් ඇතිව උඩුහුරුව හිටපු ඔහු, ඔහුගේ පපුව මත උරහිස් දෙකට අත්දෙක තබා ඉඳගෙන සිටින මා රැගෙන නැගිටින්න හැකිවීම ගැන මටද පුදුම හිතුනා. ඒත් සමගම කවියක් නැගී ඇත් බල නම් බල ශක්තියක් ඇඟට ආපු බව මට දැනුණා. කපු මහත්තයා යළිත් පණ නැතිව ඇදගෙන වැටුණා. (පෙර නැගී සිටියේ අඩියක් පමණයි. ඊට වඩා නැගිටින්න පෙරයි මේ කවිය සමග ඇත් බලයක් නමැති ශක්තිය ආවේ.) යළිත් ඔහු මට තව ශක්තිය තියෙනවා යැයි කියමින් පෙර සේම මා ඔසවාගෙන නැගිටින්න වුණා. පෙර සේම බල නැගෙන කවියක් වේගයෙන් පිටවී දෙවැනි ඇත් බලයත් මා වෙත ඇතුල් වුණා. මේ විදිහට හය වතාවක් සිද්ධ වුණා.

සකලසත බල ගෙන
ආවත් යකුන් තෙද ගෙන
අප මුනිඳු බල දැන
ගනිම් ඇත් බලය බල නසමින

අපමණ බල ඇතේ -
මුනිඳුගෙ බලය සුරතේ
වලකනු කිසි නැතේ -
ගනිම් දෙවැනි වු බලය සුරතේ

තෙද ගුණැති බුදු බල -
අසීමිත වෙයි ලොව තුළ
රැගෙන තුන් වැනි බල -
බිඳිමි යකු බල බිමට හෙල හෙල

සිව් බල මුනිඳු වත -
ඇඟිලි පුරුකෙන් බල වෙත
සුන් කර බල මෙවත -
ගනිම් සිව් වැනි මුනිඳු බල වත

පයේ සුලැඟිල්ලේ -
මුනිඳු ගුණ බල දැල්ලේ
ගන්නෙමි ඇසිල්ලේ -
යකුගෙ බල සුන්ය වල පල්ලේ

මුනිඳු පෙල බලවත -
සමයෙක් කිසි ලොවක නැත
වැඳි මුනි රජිඳු ගත -
ගනිම් සවැනි වු බලය තෙද ඇත

සත් සියක් යකුනේ -
ආවත් බලය රැගෙනේ
සත් මග බුදු ගුණේ -
බලෙන් බිඳිනෙමි බලය යකුනේ

එදා ඇත් බල හයක් වන තුරු යකුන්ගේ බලය ගෙන නැගී සිටිය හැකියි කියා ආවේස වූ කපු මහතා සත්වැනි බලය ඉදිරියේ බැගෑපත් වුණා. නමුත් සත්වන කවිය සමගම අටවන කවියෙන් අමතර බල හතරක් ලැබෙන බවට ඇති වූ සංඥාවත් සමගම තවත් කවියක් නැගුණා.

දස බල මුනිඳු වෙත -
පය ලන කෙනෙක් ලොව නැත
එබඳු දස බල වත -
ගනිමි බුදු සව් වතට හිමි වෙත

මේ විදිහට ඇත් බල දහයක් ලැබුණු බවත්, මෙබඳු යකුන්ගේ බල බිඳ හරින්න එය හොඳටම සෑහෙන බවත් හඬ සමගම දැනුණා.

ආවේස වෙච්ච කපු මහතා දැන් පාංකඩයක් වගේ වාරු නැතිව මත් වූවෙක් ලෙස ඉන්නවා. ඉන්පසු නැගිට ගන්න පුළුවන් බල ඉතිරිවන ලෙස ගගනයෙන් හත් පොලකට තබා පොළවට බල තබා ඇන, හිර කරන ලෙස කවි නැගෙමින් නලල, දෙවුර, නාභිය, ඉඟටිය දෙපස, වලලු කර දෙක යන තැන්වල බල පොළොවට හිර කරල ඔහුට නැගී සිටින්න ඉඩදීල මම නැගී සිටියා. ඉන්පසු ආවේස වූ යක්ෂණිය බැගෑපත් වෙලා යන්න අවසර ඉල්ලමින්, හැබැයි මට යන්න නම් නරබිලි 7 ක් සහ කුකුලන් 14 දෙනෙක් අවශ්‍ය බව කියා සිටියා.

මේ අවස්ථාව වෙනකොට පාරෙන් එහා පැත්තේ ගෙදරකත් තොවිලයක් කරන්න කට්ටඩි මහතුන් පිරිසක් ඇවිත් හිටියා. ඒ අයත් මේ අරුම පුදුම ශාන්තිය බලන්න මෙහි පැමිණියේ, මීට පෙර දිනක මේ කපු මහතාගේ දිෂ්ටිය හරින්න ඒ පිරිසත් උත්සාහ කරන කොට කපු මහතා ගත් පොල් මලකින් තැලුම් කා තොවිලය හැර දැමූ කෙනෙකුත් ඒ පිරිසේ හිටපු නිසයි.

සාම්ප්‍රදායික තොවිල් ක්‍රම අනුව එබඳු බිලි ඉල්ලන නමුත් කිසිසේත් දෙන්න පොරොන්දු වෙන්නෙ නෑ. ඒ පිරිස අතර හිටපු කෙනෙක් ''යක්ෂණීට හිතේ ඇති නරබිලි ගන්න හෑ'' යනුවෙන් කියනු ඇසුනා. නමුත් මම, ආවේස වෙලා හිටපු යක්ෂණියගෙන් නර බිලි 7 කට 14 ක් දෙන්න දැයි ඇහුවේ ගුප්ත ක්‍රමවේදයක් අනුවයි. එපා 7 ක් ඇති යැයි කපු මහතා ආවේසයෙන් පැවසුවා. මේ විදිහට තුන් පාරක් ගිවිසවා ගත්තා. පාරෙන් එහා පැත්තේ තොවිලය සඳහා පැමිණ හිටපු පිරිස මොහොතකින් ඉවත්වී ගියා. පොරොන්දු වෙච්ච විදිහට සුරතේ සුලැඟිල්ලෙන් කවියෙන් කවිය බිලි හත මවා ආවේස වෙලා හිටපු කපු මහතා වෙත ගුප්ත ක්‍රමයෙන්ම යැව්වා. මැවී විසිවෙන නර බිල්ල ඇහැට පෙනෙන සේ මටත් පේනවා. කපු මහතා පැනපු ගමන් මවපු නරබිල්ල කඳෙන් හා හිසෙන් අල්ලා අඹරවා, "හෑ" යන හඬකින් ගිලින විදිහට පෙන්නුවා. ඒ විදිහට කළේ ඇඟට සම්බන්ධ වෙලා හිටපු යක්ෂණියයි. මේ විදිහට බිලි හත මවල දුන්නා.

දොල රිසි විලසිනා
ගනු මවා දෙමි ඉතිනා
පළමු බිලි මෙවනා
මෙන්න දුන්නා ගනින් රිසිනා

යලි දෙවන නර බිලී
අඩු නැත මවන මෙම බිලී
රස කරම පෙර කලී
අරන් ගිලපන් ඔන්න රස බිලී

තෙවන බිලි දෙන්නේ
තුඹටයි මේ මවන්නේ
කරදර නොදෙන්නේ
අරන් ගිලපන් ඔන්න දුන්නේ

සිව් වැනිව මවලා
හිතූ ලෙස රස කරලා
ගිලින ලෙස කියලා
මෙන්න දුන්නා ගිලින් මෙකලා



පස්වැනිව නර බිලී
දෙනවා මවා රස ගුලී
හපන විට දිව ගැලී
විඳින් රස කර මෙන්න එම බිලී

සය වැනිව මැවුනේ
උඹට නර බිලි දෙවුනේ
ගිල රස කරමිනේ
විඳින් මෙය රස කරම තොසිනේ

ඉල්ලූ හත මෙන්න
නර බිලි රස බලන්න
මැව්වා ඉතින්න
ගනින් අඩු නැත දුන්න මෙන්න

එදා නරබිලි මැව්වේ මේ වගේ කවිවලින්.

සතුටෙන් ඉහවහා ගිය යක්ෂණිය, "අනේ කවද වින්ද රසයක්ද? කවුද මට ඉල්ලපු තරම් මෙහෙම දුන්නේ? ඔබතුමාට යහපතක්ම වේවා! අනේ මගෙ කුකුලො දාහතරත් දෙන්නැ"යි කියමින් සතුටු හිනාවක් දමා බලා හිටියා. 14 ට 28 ක් දෙන්න දැයි මම අහන කොට, එපා 14 ක් ඇතියි කියමින් ඇය තුන් වතාවක් ගිවිස්සවාගෙන, පෙර සේම කවිවලින් රතු පාටට හුරු ගම් කුකුලන් 14 දෙනෙක් මවල දුන්නා. කුකුලා කොක් කොක් හඬ නගමින් ඉගිල්ලී කපු මහතා අසලින් යන හැටි මගේ මස් ලේ ඇහැටත් මැවිල පෙනුනා. ආවේස වෙලා හිටපු කපු මහතා සැනෙන් පැන ඌ අල්ලාගෙන ''හිහ්'' යන හඬ නගා ලේ උරා ගිලින හැටි හැමෝටම පෙනුනා. නමුත් ඒ ඉරියව්ව මිසක් අනිත් අයට කුකුලා පේන්නෙ නෑ.

කුකුලු බිලි මෙන්න
රතට හුරු විලසින්න
රිසි පරිදි ගන්න
දෙමි මවා සැනෙකින් ගිලින්න

දෙවැනි ලොකු කුකුලා
මැව්වා සඳා මෙකලා
ගිලගෙන රස බලා
සිඳින් දොල දුක රසට ගිලලා

මේ විදිහට කවි 14 කින් කුකුලන් 14 ම මවල දුන්නා. වඳින ලෙස අත් දෙක පපුවට තියාගෙන කපු මහතා ආවේසයෙන්ම බැගෑපත් ගරු සිතින් මෙහෙම කිව්වා. ''මගේ දොල සපිරුණා. මම හිතුවෙ නෑ මට මෙහෙම ඉල්ලපු දෙයක් දෙයි කියල. ඔබතුමා බුදු වෙන්න ඕනෑ මගේ මන දොල සංසිඳෙව්වට. මට යන්න අවසරයි.'' මෙහෙම කියපු කපු මහතා හෙමින් බිම ඇද වැටුනේ නැවත ආවේසෙන් කතා නොකරමින්.

මට නැවතත් මෙහෙම හඬක් ඇහුණා. ''ඕකි කපටියි. තවම ගියේ නෑ, හැංගුණා. තව යවන්න වැඩ තියෙනවා.'' සිහිසුන් වෙලා ඉන්න කපු මහතා පාංකඩයක් වගේ ඔසවා ඇඳේ තබා මමත් ඇඳ උඩ ඉඳගෙන කවිවලින් මේ අදහස මෙහෙම කිව්වා.

''ඇයි අම්මෙ තනියෙන් යන්නෙ, මාව දාල යන්න එපා. මාවත් අරගෙන යන්න. අම්මට දුක නැද්ද මාව දාල යන්න. මමත් පස්සෙන් එනවා.''

මෙහෙම කව්වලින් කියන කොට මටත් පෙනුනේ, යක්ෂණියට යන්න කැලෑවක අඩි පාරක් මවා ඇයට මාර්ගය පෙනෙන්න සලස්වා, කැලෑව මැදින් වලගොඩැලි ඇති පාර දිගේ ඇය සමග මහා හුදෙකලා අඳුරු පැත්තක යන ලෙසයි.

දැන් මේ දර්ශනය මටත් පේනවා. මටත් දැනෙන්නේ පොඩි ළමයෙක් විදිහට ඇය පසු පස මහ කැලෑවේ අඩි පාරක් දිගේ යන ආකාරයටයි. මීළඟට මේ අදහස එන විදිහට කව්වලින්ම කියවුනා. ''අනේ අම්මේ ඉක්මනට යන්න එපා, මේ කැලේ කොටි වලස්සු ඉන්නවා. උන් මාව අල්ලගෙන කයි. අනේ මාව දාල යන්න එපා.'' මෙහෙම කියන කොට යක්ෂණියත් නැතිගෙන වටපිට බල බලා අඩි පාර දිගේ යනව පේනවා. බොහෝ දුර ගියාම පෙනෙන තෙක් මානයේ යක්ෂ පුරයක් තියෙනවා. අඩි පාර ඉන් එහාට පහසුවෙන් යන්න පුළුවන් විදිහට පේනවා. ''අනේ අම්මේ මට චූ බරයි. මම චූ කරල එනකල් පොඩ්ඩක් ඉන්න.'' මම මෙහෙම කව්වලින් කියන කොට වටපිට බලපු ඇය කොටි එයි කියන බයෙන් ගමන ඉක්මන් කරන්න වුණා. මට දැන් මුත්‍රා කරන්න නැවතිලා ඉන්න විදිහට දැනෙනවා. ''අනේ අම්මේ කොටියෙක් කොටියෙක්! ලොකු කොටියෙක්! මාව බේරගන්න. අනේ ඌ මාව අල්ල ගත්තා. අනේ මාව බේරගන්න.'' මේ අදහස් කව්වලින්ම නැගුණා. යක්ෂණිය පස්ස නොබලා මා දමා යක්ෂ පුරයට දිව්වා. සැනෙකින් කැලෑව අතුරුදන් වුණා. නැවතත් බැල්ම නොහෙලන ලෙස ඇය දැන් යක්ෂ පුරයේ. මම දැන් ඇඳ උඩ. කපු මහතාට නින්ද ගිහින්.

මට දැන් මෙහෙම හඬක් ඇහෙනවා. ''ඉදිරිපස බිත්තිය දිහා බලාගෙන දකුණු පයේ මාපට ඇඟිල්ලෙන් පොළවට අනින්න.'' මේ හඬ අනුව මමත් එහෙම කළා.

බිත්තිය ළඟ තිබුණේ පැදුරු මාගල් එල්ලා තියෙන ලොකු තේඩා පොටවල් දෙකක්. එහි ගැටයක් දමා තිබුණා. ඒ මොහොතේම ගැටය සරස් ගාල ලිහිල ගියා. තේඩා පොටවල් දෙක දෙපසට විහිදිලා වැනෙන්න වුණා. ගෙදර පිරිසටත්, බලා හිටපු පිරිසටත් එය පෙන්වා, ''අන්න ගැට ගහල තිබ්බ බන්ධනය අදින් ඉවරයි. මාව කොටු කරන්න බෑ. මම සිංහල කොල්ලෙක්'' යැයි මෙහෙම කියමින් "මම යනව යන්න ඕං ලෙඩාට සනීපයි " කියා මම ඇඳෙන් නැගිටල එලියට ගියා.

මේ කතාවත් සමග මට දැනුනේ කපු මහතා ඇතුලු පිරිස මාව අමාරුවේ දාන්න කරපු වැඩක් කියලමයි. මම ඇඳගෙන හිටපු කමිසයත් ගලවා එල්ලා තැබූ තැනින් නැවත අරගෙන වහාම යන අදහසින් එලියට ගියා. එවිට නැවතත් හඬක් ඇසුණා. ''හා හා යන්න එපා. ඒ එතනින් ඉවතට ගත් ආකාරයයි (ආතුරයාගේ දර්ශන පථයෙන් ඉවතට ගත් ආකාරය). තව කටයුතු තියෙනවා.'' මේ හඬත් සමග මමත් ශාන්ත විදිහට පුටුවක වාඩිවෙලා හිනා වුණා.

''දැන් බයවෙන්න දෙයක් නෑ. කපු මහත්තයට නින්ද ගිහින් ඉන්නෙ. තව ටිකකින් ඇහැරෙයි.'' මම මෙහෙම කියල බුලත් විටකුත් හපමින් ඉන්න කොට කපු මහතා නිදා පිබිදියා සේ ඇඟ මැලි කඩමින් ඉස්තෝප්පුවට ඇවිත් වාඩි වුණා. ඉන් පසු මම කට සෝදා දමා මුලදී සකස් කරල තිබුණ ඇඹුල් වර්ග පහ භාජනයකට අරගෙන, බැඳිච්ච අජීර්ණය ගැලවිලා යන්න සෙත් කවි මගින් සෙත් කරමින් කපු මහතාට උගුරක්ද, මම උගුරක්ද ලෙස පාවිච්චි කර ඒ ශාන්ති කටයුත්තේ පුද්ගලික කොටස ඉවර කළා.

මීළඟට පස් පැඟිරි දර අරගෙන අමනුෂ්‍ය බලය හිර කරපු තැන බිම අතුරා කපුරු පෙති දමමින් ගිනි දල්වා සෙත් බල කවි මගින්ම එතන හිර කරපු බල කපා එතැන පස් පැඟිරි දර අලුවන කල් ශුද්ධ කළා. ඉන් පසු පවුලේ සැමට ආරක්ෂා වශයෙන් සෙත් කවි මගින්ම දෝතින් කැටි කරල හදපු කිරණ බෝලයක් යැව්වා. මේ කිරණ බෝලය වොලිබෝලයක් තරම් ලොකු කාන්දම් ශක්ති බෝලයක්. අද බර මනින මිම්මේ හැටියට ග්‍රෑම් හත්සිය පනහක තරම් බරක් මගේ අතට දැනුණා. කවි පහක් පමණ කියමින් අත් දෙක බලය කැට්වන ලෙස කැරකැව්වාම මේ බෝලය හැදෙනවා. එක් එක්කෙනාගේ හිස මතට මේවා යවන්න පුළුවන්. එය හිසට පාත්වන බවත් මට දැනෙනවා. යවපු අයගේ හිස පටන් ඇඟට විදුලි සැරක් යන්තමට වැදුනා වගේ ඇඟ ගැස්සෙනවා. මේ තමයි ඔවුන් එකිනෙකාට ආරක්ෂා බල පිහිටවපු ආකාරය.

පස් පැඟිරි දර තදින් අලු වුණාට පසු ශක්තිය අධිෂ්ඨාන කරල වේගයෙන් අත්පුඩි 3 ක් ගැහුවා. ඒ තමයි හඬ ඇසෙන මානයට ආරක්ෂා බලය පිහිටවපු ආකාරය. සීමාව ඇතුලත තියෙන විෂ කිරණ ඉවත්වන බවත්, නයෙක් ඇවිත් ඒ විෂ ඊගෙන ගොස් කිරි ගසකට ගහන බවත්, වරු තුනකින් ඒ විෂ ඉවර කර නාගයා යන තුරු කපු මහතාට නිවසින් ඈතට නොයන ලෙසත් කියවුණේ, ඉහත කියපු ගුප්ත බල ශක්තියේ ක්‍රමවේදයකින්.

මෙහෙම කියන කොට කුස්සිය පැත්තේ මිදුලේ මහ නයෙක් පෙනේ පුප්පගෙන ඉන්නව දකපු ගෙදර අය, අන්න නයා ඇවිල්ල කියල ගේ ඇතුලටම ආවා. මටත් හරි පුදුමයි. ලෙලි ඇරපු කරුංක ගෙඩියක් දමන්න තරම් කට ඇරගෙන විනාඩි 2 ක් පමණ පෙනේ කරගෙන හිටපු නයා, ඊළඟට ටික දුරක් ඈතින් තිබුණු වල් දෙල් ගසකට පෙනය පුප්පා ගසා නැවතත් ආවා. මගේ ඇඟත් හිරි වැටිල ගියේ මෙදින කරපු මේ ශාන්ති කර්මයේ හොඳ වගේම භයානක බවත් වැටහෙමින්.

වරු තුනකින් පසු පැඟිරි දර අලු ටික ගෙට සහ වත්තට ඉසින ලෙසත් උපදෙස් දී, කපු මහතා දුන් රු.138/- ක් තබන ලද (පෙර දැනුම් දී තිබුණ මුදලකි) බුලත් හුරුල්ලක්ද අරගෙන මම නිවසින් පිටවුණා. නයා මා පසුපස ඒ දැයි කියා හිතට බයකුත් දැනුණා. ඒ වෙලාවෙම ගෝනගල්දෙනියට යන බස් රථයක් ආපු නිසා ඒකෙ නැගල ගමට ආවා. ගෙදර ඇවිත් ඉහළින් එන හඬට හිත යොමු කර, මේ තරම් භයානක දේට මා යොමු කළේ ඇයි දැයි අසා සිටියා. ඊට ලැබුණු පිළිතුර තමයි මේ.

''පුතා වක්කලමෙ (දිය සුළියේ) නොපිහිනා කිමිදුම්කරුවෙක් වෙන්න පුළුවන්ද? එසේම විරුද්ධ බලවේග සමග සටන් නොකර බලය ලබන්න බෑ. මින් පසු මෙබඳු කටයුතුවලට යන්න අවශ්‍ය නෑ. නිවසේ සිටම කර දෙන්න දැන් බලය තියෙනවා.''

මේ කතාව කෙනෙකුට කොහොමටවත් විශ්වාස කරන්න බැරි වෙන්න පුළුවන්. නමුත් මම මේක ප්‍රකාශ කළේ කිසිම ලාභ, කීර්ති, ප්‍රශංසාවක් ලබන්න නෙවෙයි, අති දුර්ලභ ගුප්ත බලවේග ලෝකයේ තියෙන බවත්, මිනිස් මනසකින් ඒවා පාලනය කරන්න පුළුවන් ක්‍රමවේද තියෙන බවත් දැනුම් දෙන්නයි.

**මානසික ගුප්ත පර්යේෂණ කරලා, මෙබඳු හැකියාවන් යමෙක් ලබාගෙන ලෝකයට ප්‍රකාශ කරනව නම්, දස වස්තුක මිත්‍යා දෘෂ්ටියෙන් වෙන් වෙන සම්මා දිට්ඨියට පත් වෙන්න බොහෝ අයට ආධාරයක් වන නිසාත්, බුදු දහමේ වටිනාකම දැකල භයානක සසරේ ස්වභාවය වටහාගෙන, සිවුසස් දහම් (චතුරාර්ය සත්‍යය) දකින්න මනා පිටිවහලක් ලැබෙන බව පෙනෙන නිසාත්, මේ දේවල් දයානුකම්පාවෙන් ප්‍රකාශ කරපු බව සැදැහැවතුන් සලකත්වා!**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන :-**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අහෝ ගුරුතුමනි, කථාව බුදු පුරේ ත්‍රිපිටක ධර්ම රත්නය අනතුරේ....

වර්ෂ 2012 ක් වූ ජුලි මස 3 වැනි කුජ දින ආලෝකය නම් පත්‍රයක එක්තරා ගුරු මහතෙකු විසින් ''හෙළ බොදු පියුම'' දහම් සඟරාවේ පලවූ ලිපි කිහිපයක් පිළිබඳව කර තිබූ විවේචනාත්මක ලිපි කිහිපයක් කියවා බලන්න අවස්ථාව ලැබුණා.

ඒ ගුරුතුමන්ගේ දේශනා පිළිබඳව වැඩි විස්තර දන ගැනීමට එතුමන්ගේ තවත් එබඳුම පත්‍ර කිහිපයක් අපට කියවා බලන්න අවස්ථාවක් ලැබුණු අතර කථාවෙන් බුරුත කඳක් සේ වූ එතුමාගේ අදහස් ගැබ් කළ ලිපි සියුම්ව විමසා බලන කොට බුරුත කඳක් නොව පිට පළුවක් ලෙසයි වැටහුනේ. එතුමා ඉදිරිපත් කර ඇති අදහස් සහ අපගේ අදහස් පිළිබඳ ධර්මානුකූල විමසුමක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නේ.



2011 මැයි 17 කුජ දින ආලෝකය නම් පත්‍රයේ මුල් පිටුවට අනුව - දුක්ඛ සත්‍යය, දුක්ඛ සමුදය සත්‍යය, දුක්ඛ නිරෝධ සත්‍යය, දුක්ඛ නිරෝධ මාර්ග සත්‍යය බුදුන්වහන්සේ වදාල චතුරාර්ය සත්‍යය නොවේලු. ඒවා චතු අනාර්ය සත්‍යලු. ත්‍රිපිටක ධර්මයේ ඊට සාක්ෂි පෙන්නන්න ගිහින් තීර්ථායතන සූත්‍රයේ ඉමානි චත්තාරි අරිය සච්චානි යන සූත්‍ර පාඨය අනරිය සච්චානි කියා ගුරුතුමාගේ මතයකට අනුව වෙනස් කර තියෙනවා. එසේම ධාතු විභංග සූත්‍රයේ ඇති චතුරාධිෂ්ඨානය ගුරුතුමාගේ නිගමනය පරිදි චතුරාර්ය සත්‍යය කරගෙන තියෙනවා.

ඒ පත්‍රයේ දෙවන පිටුව - තීර්ථායතන සූත්‍රයේ (අං.නි.1-310 පිටුව) පෙන්වා ඇති දුක්ඛ, සමුද, නිරෝධ, මාර්ග යන හතර තම අදහස් ලෙස අර්ථ ගන්වා අනාර්ය සත්‍ය ලෙස හුවා දක්වා තියෙනවා. පටිච්ච සමුප්පන්නව ඵස්ස පච්චයා වේදනා, වේදිය මානස්සබෝ පනාහං ඉදං දුක්ඛන්ති පඤ්ඤ පේමී.... ආදි ලෙස ත්‍රිපිටකයේ දක්වා තියෙනවා.

මෙහි පටිච්ච සමුප්පාද නිරෝධය දුක්ඛ නිරෝධය බව පෙන්වා තිබියදීත් (අවිජ්ජා යත්වේව අශේෂ විරාග නිරෝධා සංඛාර නිරෝධෝ ආදී ලෙස පෙන්වා තිබියදීත්) ආර්ය අදහස කනපිට හරවමින්, සූත්‍රයේ අදහස කනපිට පෙරලා අනාර්ය වූ දුක්ඛ නිරෝධයක් සහ මාර්ගයක් පෙන්වා පාඨකයා මුලා කරන්න ක්‍රමයක් අරගෙන ඇති බව පෙනී යනවා. එය ගොරක දඩමස් කරන්නා වැනි ක්‍රියාවක්. සත්‍ය වූ දහම් පාඨවලට විකෘති අදහස් කාවද්දා පාඨකයා මුලා කරන අමන වැඩක්.

මුලාවෙන් විකෘති වූවක් ආර්ය සත්‍යය ලෙස පෙන්වා ඇතැයි මේ ධර්මානුකූල වූ සූත්‍රයට නිගරු කර, ක්‍රි.ව 411 දී ලංකාවට පැමිණි අපගේ හෙළ අටුවා සහ පිටක, පාලි භාෂාවට මෙසේ විකෘති කර ලිව්වේ බුද්ධඝෝෂ හිමියන් යැයි අපවාදයක්ද කරමින් ගුරුතුමා තම අදහස මුදුන්පත් කර ගන්න (චතුරාර්ය සත්‍යය චතු අනාර්ය සත්‍යයක් කිරීමට) ප්‍රයත්න දරා ඇති බව පෙනී යනවා.

මේ ගුරුතුමා පාලි, සංස්කෘත සහ වේද සාහිත්‍යය ගැන නිපුනත්වයක් ලබාගෙන ඒ දැනීම දඩමීමා කර ගනිමින් සච්චකයෙක් මෙන් අන්‍යයන් මෙල්ල කර ගනිමින් තම අදහස් සමාජයට කාවද්දන්න ප්‍රයත්න දරා ඇති ආකාරය පෙනී යනවා. ත්‍රිපිටක ධර්මරත්නය තුල ආර්ය සත්‍යය දේශනා කර ඇති සූත්‍ර දහස් ගණනකට, බුද්ධඝෝෂ හිමි බමුණු අදහස් ඇතුලත් කළා යැයි බාල්දු කර ඉවත දමන්න කරන උත්සාහය මේ පත්‍රය බලන කොට මනාව වැටහී යනවා.

තවද ඒ පත්‍රයේ තුන්වන පිටුවේ පෙන්වා ඇති පරිදි මජ්.නි.(1) හි එන සම්මා දිට්ඨි සූත්‍රයේ සැරියුත් හිමියන්, සම්මා දිට්ඨි වීමට චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න අවශ්‍ය නැති බව පෙන්වා ඇතැයි මුලා මතයක් ගෙන හැර දක්වා තියෙනවා.

මේ සූත්‍රයේ සම්මා දිට්ඨියට පත්වන ක්‍රම 16 ක් පෙන්වා තියෙනවා. මේ ක්‍රම 16 න් 15 ක් ම ආර්යාෂ්ඨාංගික මාර්ගය එල්ල කරම පෙන්වා ඇති අතර මේ ගුරුතුමා ඉතිරි එක පෙන්වා, සම්මා දිට්ඨි වීමට චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න අනවශ්‍ය බව පෙන්වා ඇතැයි කියමින් පිරිසත් මුලා කර තියෙනවා. ඒ චතුරාර්ය සත්‍යය අවබෝධය සඳහා ඒ සත්‍ය හතරෙන් එකක් දකින කොටම ඉතිරි තුනත් දකින බව බුද්ධ දේශනාවේ පෙන්වා තියෙනවා. එහෙනම් මේ 15 ම ආර්යාෂ්ඨාංගික මාර්ගය අත්‍යවශ්‍යයෙන්ම සම්බන්ධ කර ඇති නිසා චතුරාර්ය සත්‍ය අවබෝධය හා සම්බන්ධ වෙනවා. ආර්ය සත්‍යය අවබෝධයෙන් සම්මා දිට්ඨිය ලබන ආකාරය මේ සූත්‍රවලින් මනාව පිළිබිඹු වෙනවා.

ඉතිරි වූ පළමුවැන්න මේ සත්‍ය හතර ගැනම විද්‍යමානව නැති ලෙස පෙනෙන නිසා එයම හුවා දක්වා සම්මා දිට්ඨි වීමට චතුරාර්ය සත්‍යය අවශ්‍ය නොවන බව පෙන්වන්න උත්සාහ කර තියෙනවා. නමුත් ඒකත් ගෝචර වන පටිච්ච සමුප්පාද දෙකක් තියෙනවා. එකක් කුසල මූල පච්චයා සංඛාරා කියාත් අනික අකුසල මූල පච්චයා සංඛාර කියාත් ඇති අතර එහි අවසානය ඒව මේ තස්ස කේවලස්ස දුක්ඛක්ඛන්දස්ස සමුදයෝ හෝති කියා පෙන්වා ඇති නිසා, එයින්ද දුක උපදින හැටි දකින නුවන පහල වන නිසා චතුරාර්ය සත්‍යය දැකලම සම්මා දිට්ඨි වන බව පෙනී යනවා.

මීළඟට පරායන වර්ගයේ සූත්‍රවලින් නිවන් දැකීමට සිව්සස් දැකීම අවශ්‍ය නැති බවට සාධක පෙන්වා තියෙනවා. ඛුද්ධක නිකායේ සූත්‍ර නිපාතයේ පරායන වර්ගය 306 පිටුව - භාවරී තවුසාගේ ශිෂ්‍යයන් වන අජිත, තිස්සමෙත්තෙයිය, පුණ්ණක, මෙත්තගු, ධෝතක, උපසීව, නන්ද, හේමක, තෝදෙයිය, කප්ප, ජතුකණ්ණී, භද්‍රායුධ, උදය, පෝසාල, මෝඝරාජ පිංගිය යන මේ බමුණු 16 දෙනාට නිවන් පිණිස කළ දේශනා පාඨ 16 ක් මෙහි අඩංගු වෙනවා.

තෘෂ්ණාවෙන් දුක්ඛයත්, ☞ යම් වින්දනයක් නැතිකර ගන්නට ඔහුගේ හිතේ තිබෙන කැමැත්ත යැයි නිරෝධයට අර්ථ පෙන්වා තියෙනවා. එනම් තමන් අකමැති විරුද්ධ අදහසක් ආවොත් ඊට විරුද්ධව ගැටී තමන් දිනුවා යැයි ලබන මුලා සැනසීම දුක්ඛ නිරෝධය ලෙසටයි ඒ අදහස හැඟී යන්නේ. ඊට මාර්ගය ලෙස ඒ තමන්ගේ ලෞකික වූ සහනයට විරුද්ධ දෙයින් වෙන් වෙන්න ද්වේශ සහගතව හෝ කරන ක්‍රියා සහ කියන වචන පාවිච්චිය දුකෙන් මිදෙන මාර්ගය ලෙස මෙහි පෙන්වා ඇති බවක් පෙන්වමින් මේ

තෘෂ්ණා සමුදයෙන් දුක්ඛ සමුදයත්, තෘෂ්ණා නිරෝධයෙන් දුක්ඛ නිරෝධයත් පෙන්වා තෘෂ්ණාවේ ආදීනව දක මිදෙන ලෙස මාර්ගයත් පෙන්වා දේශනා කර තියෙන්නේ චතුරාර්ය සත්‍යය බව වටහා නොගෙන දුක්ඛාර්ය සත්‍යය, දුක්ඛ සමුද ආර්ය සත්‍යය ආදී වචනයෙන්ම කියා නැති නිසා මේ 16 දෙනාට නිවන් දකින්න සිව් අරිසස් පෙන්වා නැතැයි පැවසීමෙන් මෙතුමා ලෞකික ශාස්ත්‍ර කොතෙක් ඉගෙනගෙන තර්කවාදී අදහස් දෙන්න හැදුවත්, ඒ අදහස්වල බොළඳ බව නුවණැත්තන්ට නම් වැටහෙනවා.

තවද චුල්ල හත්ථිපදෝපම සූත්‍රයත් (මජ්.නි. 1 - 426 පිටුව) උපමාවට පෙන්වමින් තම මතය ප්‍රකාශ කරන්න හැදුවත් එයින් ඊට පිළිසරණක් නොවූ නිසා බුද්ධඝෝෂ හිමි පිට පටවා, ඒ අදහස් හා දහම් කරුණු බමුණන්ගේ කදමල්ලට දමා තම මතය රැක ගන්න උත්සාහ කර ඇති බව පෙනී යනවා.

එසේම මේ පත්‍රයේ 6 වන පිටුවෙත් ආර්ය සත්‍යය අනාර්ය සත්‍යය කරන්න එය හටගන්නා ක්‍රම වේදයක් පෙන්වා, අද ත්‍රිපිටක සූත්‍රවල පෙන්වන්නේ මෙබඳු වැරදි ආර්ය සත්‍යයක් බව පෙන්වන්නේ මේ ආකාරයටයි.

''ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් හයට ගෝචර වන අරමුණු නිසා සැප, දුක්, උපේක්ෂා යන ස්වභාවයන්ට 18 ආකාර සිතිවිලි ධාරා (මනෝ පවිචාර) නිසා පටිසං වේදනාමය දුක උපදී..''. අද දුක්ඛ සත්‍යය කියන්නේ මේකටලු. මේ දුක හටගන්නා පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය දුකට හේතුව ලෙසත්, දුක ගොඩ නැගෙන ක්‍රමය දුකට අයිති මුලා වැඩපිළිවෙලක් නිසා එයද අසත්‍යයක් බවත් පෙන්වා, දුක්ඛ නිරෝධය ලෙස පෙන්වා ඇත්තේ තමන් අකමැති දෙයින් ඉවත් වෙන්න ඇති අවශ්‍යතාවය බවත් (එය අද පෙන්වන නිරෝධ සත්‍යය නමැති බොරුව බවත්) ඒ සඳහා කරන තරඟකාරී සිතිවිලි ක්‍රියා වදන් ක්‍රියාත්මක කිරීම අද හිතන් ඉන්නා මාර්ග සත්‍යය නමැති බොරුව බවත් කියමින් ත්‍රිපිටක සූත්‍රවල තිබෙන මේ ක්‍රමය බුද්ධඝෝෂ හිමිගේ බමුණු මත නිසා මේවා චතුරාර්ය සත්‍යය ලෙස සූත්‍රවලට ඇතුලත්කර ඇති බවත් මේ ගුරුතුමාගේ අදහසයි.

චංකී සූත්‍රයේ (මජ්.නි.(02)) කාපටික නම් තරුණයාට වේදයම සත්‍යයි අනික්වා අසත්‍යයි කීම අන්ධ වේනුවක් බව (හෙවත් කණ වැල අල්ලාගෙන එන පිරිස) කීම උදාහරණ ලෙස පෙන්වමින්, දැනට ආර්ය සත්‍යය ලෙස පාරම්පරිකව පවත්වාගෙන එන අනාර්ය සත්‍යය අත්හැර නුවනින් කටයුතු කරන්න යැයි ත්‍රිපිටක සූත්‍ර ධර්ම බමුණන්ගේ දෑවැද්දක් ලෙස පෙන්වමින් හැල්ලුවට ලක් කිරීමට මේ ගුරුතුමා මේ සියළුම ආලෝකය නම් පත්‍ර පෙලින් උත්සාහ ගෙන තියෙනවා.

නමුත් මෙතුමා චතු අනාර්ය සත්‍යය යැයි මෙසේ අර්ථ පෙන්වා තියෙන්නේ මිත්‍යා දිට්ඨි, මිත්‍යා සංකප්ප, මිත්‍යා වාචා, මිත්‍යා කම්මන්ත, මිත්‍යා ආජීව ආදී මිත්‍යා අටමගටයි. අද පවතින නිර්මල ත්‍රිපිටක ධර්මයේ මේ අට ආකාර මිත්‍යා මාර්ගය පැහැදිලිව පෙන්වා තියෙනවා. චතුරාර්ය සත්‍යය ලෙස පෙන්වා ඇත්තේ මේ කුණුගොඩට නොවන බව මෙතුමාට නොවැටහී ඇති බව නම් හොඳින් පෙනීයනවා.

විඳින්නාට දුක පනවමි යන බුදු වදන විග්‍රහ කර නොගෙන, යම් දැනීමක් පහළවී නම් දුකයි කියා තිබෙන ලෙස විග්‍රහ කරන්න ගිහින් පටලවා ගෙන තිබෙන ආකාරය පෙනී යනවා.

සං.නි.(4) හි ආරම්භයේ පටන් අනිච්ච වර්ගයේ සූත්‍රවලින් පටන්ගෙන දුක් ඇතිකරන සියල්ල පෙන්වා තියෙනවා.

ඇස, කන, නාසය, දිව, කය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස , ස්පර්ශ, ධර්ම සහ අතීතයේ තිබූ, අනාගතයට හටගන්නා සේම දැන් විද්‍යමාන වන මේවා ඇතුළු සියලු සංඛත ධර්ම අනිච්ච බවත් දුක්ඛ බවත් පෙන්වා තියෙනවා.

වේදනාව නැත්නම් දුකක් දැනෙන්නෙ නෑ. ඉහත කී සංඛත ධර්මයෝ දුකට හේතුවන ස්පර්ශ ගොඩ නගන නිසා ඒ ස්පර්ශ නිසයි වේදනා හටගන්නේ. එවිටයි දුක් වේදනා මූලිකව දුක ගොඩනැගෙන්නේ.

අවිද්‍යා තෘෂ්ණා දෙකෙන් මුසපත් වෙලා ඉන්න ලෝ සතුන් සුවසහගත කාමාස්වාදවලට වසඟ වෙලා ඒවා ලබාගන්න තරඟ කරමින් ඕනෑම දුකක්, සැප ලබන්න ඇති මඟක් යැයි සිතාගෙන ඒ ආස්වාද බලාපොරොත්තුවෙන් ආස්වාදයන්ගේම ගුණ කියමින් සුව සිහි කරමින් කටයුතු කරන කොට, ඒ ප්‍රිය අදහසින් දුක යටපත් වෙලා යහපත් දේම කරන උත්සාහයක් ලෙස රැවටිලා ක්‍රියා කරනවා. තෘෂ්ණාවෙන් මෙසේ මුලාවෙලා ආස්වාද ලෙස හිතන තරමට අවිද්‍යාවෙන් මනස වැසෙන නිසා කාම අරමුණු දකින හෝ අරමුණු වන කොට ආයාසයෙන් මැඩ පවත්වා කුසල් සිත් හටගන්වන්නට කීම තපස් ක්‍රමයක් බව මේ ගුරුතුමාට නොවැටහෙන බව පෙනී යනවා. (තපස, බමුණන්ට අයිති දෙයක් යැයි කීම මේ ගුරුතුමාගේ මතයකි.)

මේ සඳහා පූර්ව භාග නුවණ ඇතිකරන අනිච්ච, දුක්ඛ, අනත්ත යන ත්‍රිලක්ෂණය අනුව නිතර ආදීනව බලන්න පුරුදු විය යුතුයි. එවිටයි දුක, දුක ලෙස දකින නුවණ පහළ වෙන්නේ.

මෙසේ දුක, දුක ලෙස දකින ඥානයක් ඇත්ද එය ඉහත කී මුලා දුක නොවෙයි. වේදනා චෛතසිකයෙන් විඳින්න වෙන මහ දුක දැන ගන්නා ඥානයත් අනිච්ච ලෙස දකින කොට එහිද අල්ලා ගන්න සැපයක් නැතැයි දකින කොට දුක්ඛේ ඥානං යන වැටහීම ඇතිවෙනවා. දුක්ඛ ආර්ය සත්‍යය කියන්නේ මේකටයි.

ඉහත කී දුක් ස්පර්ශවලට හේතු කාරක වස්තූන් නිච්ච, සුඛ, අත්ත ලෙස මුලා වූ මත් වූ මනසින් ආස්වාදයට ගෝචර ලෙස හිතන කොට අවිද්‍යාව ගොඩ නගමින් ඒවාට වටිනාකමක් දෙන මුලා මානසිකත්වයක් ගොඩ නැගිලා ඒ පසු පස හඹායන ඡන්ද රාගය ගොඩනැගෙන හැටිත්, ඒ නිසාම දුකෙන් වෙන් වෙන්න බැරි හැටිත් නුවණින් දකින කොට එසේ දකින නුවණත් යහපත් යැයි අල්ලා ගන්න වටිනා දෙයක් නොවන හැටිත් දකින ඥානයටයි දුක්ඛ සමුදයේ ඥානං කියන්නේ. ඒ ඥානය දුක්ඛ සමුදය සිදුකරන තෘෂ්ණාව නොවෙයි.

ඉහත කී දුක හටගන්වන්න හේතු වන, උපනිශ්‍රය වන වස්තු කෙරෙහි මුලා වෙලා වටිනාකමක් දී ඒ පසුපස හඹා යන තණ්හාවක් ඇත්ද, වටිනවා යැයි බදාගන්නා උපාදානයක් වේද අනිච්ච, දුක්ඛ, අනත්ත බව නොවැටහුන නිසාම යලි යලි ගොඩනැගෙමින් ඒ වස්තු පසුපස හඹා යන බව දැක, ත්‍රිලක්ෂණ අවබෝධය සමඟ ඒ මුලා ඡන්ද රාග මානසිකත්වය දුරු වන බවත් එවිට දුක් ගොඩනඟන හේතුව කෙළවර වන බවත් දකින නුවණ පහළ වුනාද, ඒ නුවණේද වටිනවා යැයි අල්ලන්න දෙයක් නැති බවත් දකින කොට ඒ ඥානයටයි දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය කියන්නේ. එසේ නැතිව තමා බලාපොරොත්තු ලෝක සුවයට විරුද්ධ දෙයක් එන කොට එයින් පැන යන්න හදන මානසිකත්වයක් හෝ ඕනෑම ජඩ ආස්වාදයක් විඳල බලාපොරොත්තුව ඉටු වුනා යැයි සැනසෙන මුලාවකට නොවෙයි.

ඉහත කී ඥාන තුන පහළ වුනාම ලොව නියම ස්වභාවය නුවණින් ආවර්ජනය කර සත්‍යය පූර්ණ කර ගැනීමට නියම දුකින් මිදෙන මඟ අරි අටඟි මග බව දකින නුවණ පහළ වෙනවා. එහිද අල්ලා ගන්න වටිනාකමක් නැති බව වැටහෙන්න වෙනවා. මේ ඥානයටයි දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව කියන්නේ. එහෙම නැතිව තමන්ට එන ලෞකික බාධක ඉවත්කර ගන්න යොදන පැලැස්තරවලට නොවෙයි. මේකටයි ආර්ය විනයේ ඇති චතුරාර්ය සත්‍යය කියන්නේ. ඒ නිසයි දුක්ඛේ ඥානං, දුක්ඛ සමුදයේ ඥානං, දුක්ඛ නිරෝධේ ඥානං, දුක්ඛ නිරෝධ පටිපදාය ඥානං අයං වුච්චති භික්ඛ වේ සම්මා දිට්ඨි කියල දේශනා කරල තියෙන්නේ.

මෙසේ පැහැදිලි නිරවුල් චතුරාර්ය සත්‍යය තේරුම් ගන්න බැරි මුලාව නිසා උතුම් ශ්‍රී සද්ධර්මය බමුණන්ගේ කදමල්ලට දමන්න, හැල්ලුවට ලක් කරන්න මේ ගුරුතුමා මෙන්ම එවැනි සමහරු දඟලන ආකාරය පෙනී යනවා.

තවද ඉහත කී 6 වන පිටුවෙන්, පොත හා අටුවා ටීකා බලන්නා පොතේ වහලෙක් වී දිට්ඨි ගතිකයෙක් වන බවත්, ඔහුට කිසි දිනක ආර්ය හෝ අනාර්ය චතුර් සත්‍යය දකින්න බැරි බවත් කියා සිටිනවා. නමුත් මෙකල පෙළ පොත් සහ අටුවා ටීකා සහමුලින්ම ඉවත දමා තිබුණ නම් බුද්ධ දේශනාවක් පිළිබඳ එක වදනක්වත් තමන්ටම දැනගන්න සමතෙක් බිහි නොවනු ඇත.

බුද්ධඝෝෂ හිමියන්ගේ සම්බන්ධයකින් ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය ☞

බමුණු මත පිරුණු කදමල්ලක් ලෙස හැල්ලුවට ලක් කරමින්, එතැන් පටන් වසර 1600 ක් දිවි පරදුවට තබා ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය රැකගෙන ආ මහ තෙරුන් වහන්සේලාට බමුණු පරපුරක් යැයි කියන මේ ගුරුතුමා, ඒ පරපුරෙන්ම ගෙනා ධර්ම කරුණු ගනිමින් ඒ පොත් පත් ඇතුළු සඟ පරපුරටත් වඩා දනුමක් ගොඩනගන්න හදන ආකාරයක් පෙන්වනවා.

තවද සබ්බේ සංඛාරා අනිච්චාති, දුක්ඛාති, අනත්තාති යන ගාථා තුනේම අවසන් පද, ඒස මග්ගෝ විමුක්තියා කියා මේ ගුරුතුමා විසින් සංස්කරණය කරන්න හදන ආකාරය පෙනී යනවා. ඊට හේතුව විසුද්ධිය බමුණන්ගේ නිසාලු. සීල විසුද්ධි, චිත්ත විසුද්ධි ආදී සප්ත විසුද්ධිය ත්‍රිපිටකයෙන් කපා හැර බමුණන්ගේ කදමල්ලට දමා ඇත්තේ මේ ගුරුතුමාය. සප්ත විසුද්ධිය ඔප් නංවා ඇති බොහෝ සූත්‍ර මෙතුමා මෙසේ බමුණු මත යැයි කපා හැර තියෙනවා. මේ සියල්ල බුද්ධඝෝෂ මත ලෙස ප්‍රතික්ෂේප කර තියෙනවා.

ඉහත කී 2011.05.17 කුජ දින ආලෝක නම් පත්‍රයේ 10 වැනි පිටුවේ, නිදහස් චින්තනය එනම් කිසිවෙකුගේ කිසිම තීරණයක්, මතයක්, දෘෂ්ඨියක් නිසා තම චින්තනයට බාධා වුනොත් කිසිම දාර්ශනිකයෙකුට චින්තකයෙක් වෙන්න බාධාවක් බවත්, ඊට නිදසුන් ලෙස ලෝකය මැව්වේ සර්ව බලධාරී දෙවියන් විසින් යැයි යන මතය එල්බ ගත් විට ඉන් ඉදිරියට පර්යේෂණයක් සිදු නොකරන්නෙක් වනු ඇති බවත් කියනවා. මේ ගුරුතුමා ත්‍රිපිටක ධර්මය තුල පෙන්වන චතුරාර්ය සත්‍යයත් එකී ඊශ්වර නිර්මාණය වැන්නකට ඇතුළත් කර එය ඇසුරු කරන අයටත් කිසි ලෙසකින් නිවනක් නැති බව කියනවා.

ත්‍රිපිටක ධර්මය, තීර්ථායතනයක් ලෙස පෙන්වූ ඊශ්වර වාදයට සම කරන මේ ගුරුතුමා, බුදු දහම ගැන දක ඇත්තේ කුමක් දැයි සිතිය නොහැකියි. කියන්නන් වාලේ පිළිගන්න හැදූ කිසිවක් ත්‍රිපිටක ධර්මය තුල අප දක නැත. චතුරාර්ය සත්‍යය පෙන්වා ඇත්තේ නුවණින් විමසා බැලීමට නිදහස දීමෙන්. දී ඇති තීරණය ඥාන ගෝචර නිසා නුවණින් විමසන කොට තමන්ටම වැටහෙන බව නැණවතුන්ට පෙනී යනු ඇත. මුලා තීරණයෙන් බලන අයට නම් ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය ඊශ්වර වාදයක් සේ පේන්න පුළුවන්. එනිසා මෙබඳු අය ලියන ලිපි සහිත පත්තර හෝ පොත් පත් බලන කොට විමසිලිමත් වීම නම් ඉතා වැදගත්.

2008 ජුනි 18 බදාදා ආලෝකය නම් පත්‍රයේ පළවෙනි පිටුවේ බොහෝ භික්ෂූහු අබ්භෝකාසයේ සක්මන් කරති කියා මේ ගුරුතුමාම සාක්ෂියක් පෙන්වා තියෙනවා. තවත් තැනක සක්මන් කිරීම අන්‍ය තීර්ථකයන්ගේ වැඩ මිස බුදු දහමට අයිති නැතැයි පවසා තියෙනවා.

සබ්බ ඒකත්ත ලෙස දකින අමුතු ක්‍රමයක විදර්ශනාවක් මෙහි 9 වන පිටුවේ තියෙනවා. මේ පත්‍රයම උපමා කර මෙසේ කියනවා. ''කඩදාසි තැනීමට ගත් පිදුරු මෙහි ඇත. පිදුරු තැනූ ගොයම් ගස් මෙහි ඇත. කුඹුරු ගොවිතැන් කළ ගොවියාද මෙහි ඇත. ගොවිතැන් කළ ජලයද මෙහි ඇත. ජලය සැපයූ වැස්සද ඇත. වැස්ස ලබා දුන් වලාකුළුද මෙහි ඇත. වලාකුළු ඇති කළ වාෂ්පද ඇත. වාෂ්ප ඉපදුණු සාගර ද ඇත. වාෂ්ප ලබාදීමට හේතු වූ සූර්යා ද ඇත. මෙසේ මේ කඩදාසිය තුල විශ්වයම ඇත. මෙසේ මේ සියල්ල සංයුක්ත කොට ගෙන මේ කඩදාසිය පවතී.''

අඹ ගෙඩියක් ගැනද මෙසේ බලාගෙන යන ලෙස කියා සූර්යා ලඟටම සම්බන්ධය බලන්න පෙන්වා තියෙනවා. මේවාට කියන්නේ උඩුගම් බලා යාමලු. මේවා මෙතුමාගේම නන් දෙඩීම් බව පෙනී යනවා.

බත් ඇටය හැදුණු හැටි කියා තවත් අමුතු විදර්ශනාවක් 2012.07.30 පත්‍රයේ දෙවන පිටුවේ මෙසේ තියෙනවා. ''බත් ඇටය හැදීමට වී ඇටය තිබිය යුතුය. ඊට ගොයම් ගස තිබිය යුතුය. ගොයම් ගස ඇතිවීමට කුඹුර තිබිය යුතුය. කුඹුරු ඇතිවීමට පස් තිබිය යුතුය. පස් මඩ වීමට වතුර තිබිය යුතුය. වතුර ඇති වීමට වැස්ස තිබිය යුතුය. වැස්ස ඇතිවීමට වළාකුළු තිබිය යුතුය. වළාකුළු ඇතිවීමට වාෂ්ප තිබිය යුතුය. වාෂ්ප ඇතිවීමට සාගර තිබිය යුතුය. ජල වාෂ්ප ඇති වීමට තාපය තිබිය යුතුය. තාපය ඇති වීමට සූර්යා තිබිය යුතුය. කුඹුරු තැනීමට ගොවියා සිටිය යුතුය. සී සෑමට ගවයා සිටිය යුතුය. උදැල්ල හා නගුල තැනීමට කම්කරුවා සිටිය යුතුය. බත් ඇටයට මේ සියල්ල සංයුක්තය. බත් ඇටය තුල වළඳත් වළං තනන්නාත් සිටිති.''

මේවා අමුතුම අදහස්. බත් ඇටය තුළ වළඳ තිබෙනවා, ගොවියා ඉන්නවා කියන මේවා මොන විකාරද? වසර 2500 ක පටන්වත් ත්‍රිපිටක ධර්ම රත්නය පවත්වාගෙන ආ සිව්පිළිසිඹියාපත් මහරහතන් වහන්සේලාගේ පටන්, මග ඵල ලාභීන් මෙන්ම මේ ධර්මය පවත්වාගෙන ආ මහා සංඝ රත්නය තුලවත් මේ ගුරුතුමා පෙන්වන අමුතු විදර්ශනාවේ අබ ඇටයක් තරම්වත් අදහසක් තිබූ බවට කිසිම සාධකයක් මේ වන තුරු ලැබී නෑ.

බත් ඇටයක් තුල සිටින අය සහ තිබෙන දෙය මේවා යැයි කීම මොන න්‍යාය ධර්මයකට අයිතිද? මේ අදහස් නම් හේතුඵල ධර්ම නියමය පිළිබඳව විකෘති අදහස් බව පෙනී යනවා.

මේ න්‍යාය බුදු දහමේ ඥාන ගෝචර ලෙස මෙසේ පෙන්වා දෙන්න පුළුවන්. එනම් ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදයයි. නමුත් මේ ගුරුතුමාට නම් ඒවා බමුණු මත විය හැකියි. මේ න්‍යාය ධර්මය සුළු අතීතයක පටන් මෙසේ සිහිකර බැලිය හැකිය.

වළාකුළු හේතුවෙන් වැස්ස ඇතිවේ. වැස්ස නමැති ඵලය දී වළාකුළු ගෙවී නිරුද්ධ වේ. ඒ ඵලය වූ වැස්ස වැව් කෙත් පුරවයි. වැව් පිරවූ වැහි හේතුව ගෙවී ඇත. වැව් පිරුණ නිසා කුඹුරුවලට වතුර ලැබී වැව් බැස යනවා. වතුර නමැති ඵලයෙන් කුඹුරු මඩවා ගොවියා කුඹුර සකසයි. සැකසුන කුඹුර එහි ඵලයයි. ගොවියාගේ ක්‍රියාව ගෙවී ඇත. සැකසූ කුඹුරේ ගොවියා වී වපුරයි. වැපුරූ කුඹුර ඵලයයි. ගොවියාගේ ක්‍රියාව අවසන්ය. කුඹුරේ පොහොර , ජලය, බීජ, හිරු එළිය ආදී හේතු නිසා ගොයම වැඩී පීදී පැසේ. පැසුණ කුඹුර ඵලයයි. හේතු ගෙවී ඇත. පැසුණු ගොයම ඵලයයි. ගොවියා ක්‍රියාත්මක වී අස්වනු නෙලා වී සකසයි. වීගොඩ ඵලයයි. හේතුව ගෙවී ඇත. පිරිස වී කොටා සහල් සකසයි. සහල් ඵලයයි. හේතුව ගෙවී ඇත. වළඳේ සහල් දමා පදමට ජලය දමා ලිපේ තබා උයයි. බත නිපදවේ. ඒ ඵලයයි. හේතු ගෙවී ඇත. බත ආහාරයට ගනී. බඩ පිරීම ඵලයයි. බත සහ ආහාර ගැනීමේ ක්‍රියා හේතුව ගෙවී ඇත. ආහාර දිරවා කය පෝෂණය වේ. හේතු වූ ආහාර ක්‍රියාවලිය ගෙවී ඇත. කායික පෝෂණය ඵලයයි. ඒ ශක්තියෙන් ජීවිතය ගෙවයි. හේතු වූ පෝෂණය ගෙවේ. ජීවත්වන අවිද්‍යා තෘෂ්ණා ජාතිකයා නොකටයුතු කම් කරමින් කාලය දුක් විඳිමින් ගත කරයි. ජීවිත හේතුව ගෙවේ. ඒ හේතුවෙන් ඵලය ලෙස නිපද වූ සංඛාර යළි දුක්ඛිත ජාතියක් බිහි කරයි. සංඛාර හේතුව ගෙවෙයි. ජාති දුක යළි විඳී. මෙසේ යමක් වේද එය හේතුවක ඵලයකි. ඒ ඵලය තව දේකට හේතුවකි.

මෙසේ බලන කොට මේ හේතු ඵල ධර්මතාවය දුන් සාරත්වයක් නොමැති බව නුවණින් දකිනවා. මේ අනුසාරයෙන් අතීත හේතුඵල ධර්මයෝ වුනා නම්, අසාර වූවක්ම ගෙවී ඇති බවත් දුන් ක්‍රියාත්මක වන හේතුඵල ධර්මත් කිසි සාරත්වයක් නොවන බවත්, අනාගතයේදී හටගත්තත් හටගන්නේ මෙබඳුම අසාර වූ හේතු ඵල ධර්ම පරපුරක් බවත් නුවණින් දකිනවා.

එවිට තුන් කාලයේම හේතු ඵල ධර්ම පිළිබඳව නොබැඳෙනවා, නොඇලෙනවා, විමුක්ත වෙනවා. එවිට විමුක්ත වූ බව දන ගන්නවා. මේ ත්‍රිපිටක ධර්ම අනුව ආර්ය විනයේ විදර්ශනාවකි. බුද්ධඝෝෂ හිමි කිව්වත්, බමුණන් කිව්වත් සත්‍යය හිතා නුවණින් බලා වටහා ගැනීම බෞද්ධ කමයි.

තවද මේ ගුරුතුමා ධාතු විභංග සූත්‍රය සාක්ෂි කොටගෙන චතුරාර්ය සත්‍යය බොරුවක් ලෙසත්, යථා තත්ත්වය නම් චතුරාදිශ්ඨානය බවත් විසි අවුරුද්දක් තුල කළ පර්යේෂණයක් තුලින් දනගත් බවත් කියනවා.

නමුත් මේ සූත්‍රයෙන් පෙන්වන්නේ අරිහත්වයට පත්වන තුරු අප්‍රමාදව දැඩි වුවමනාවෙන් පැවැත්විය යුතු අධිෂ්ඨාන හතරක්ම මිසක් චතුරාර්ය සත්‍යය නම් නොවෙයි. මෙහි පළමුව පෙන්වා ඇති ප්‍රඥාවෙහි නොපමා වීම පෙන්වනවා. ප්‍රඥාවෙහි නොපමාවීම කියල පෙන්වා තියෙන්නේ පුක්කුසාති භික්ෂූන්ට වහා දහම් අවබෝධය ලැබෙන ධර්ම ක්‍රමය වූ අනත්ත ලක්ෂණය මුල් කරගෙන ධාතු විදර්ශනාවත්, වේදනානුපස්සනාවත් වඩන ක්‍රම වේදයයි. ආශය අනුශය ඥාන, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාන... ආදී බුදුපියාණන් වහන්සේට ආවේණික වූ ප්‍රඥා ක්‍රම වේදයෙන් පුක්කුසාති භික්ෂූන්ට ☞

ගැළපෙන ක්‍රමයයි මෙහි දේශනා කර තියෙන්නේ. එනිසා පුක්කුසාති භික්ෂූණ්ට ධාතු විභංගය දේශනාකර තියෙනවා.

මේ ශරීරයේ කෙස්, ලොම්, නිය, දත්, සම් ආදී තද කොටස් 20 ක් මුල් කොට ඇති සියලු තද දේවල් පඨවි ධාතුවට අයිති බවත්, මේ කයෙන් බැහැරව ඇති පඨවි ධාතුවම මිස මම යැයි, මගේ යැයි සාරත්වයෙන් යුක්ත යැයි (අනත්ථං අසාර බට්ඨේනාති) ගන්න වටිනා දෙයක් නැතැයි සිහි කරන ලෙස පෙන්වා තියෙනවා.

එසේම පිත, සෙම, සැරව, ලෙය ආදී ද්‍රව කොටස් 12 ක් ඇතුළු සියලු ද්‍රව කොටස්, පිටත ඇති ද්‍රව කොටස් යන දෙකම එක ස්වභාව ඇතැයි පෙන්වා ඒවාටත් අයිතිවාසිකම් කීමට හරයක් නැති බව හෙවත් මම, මගේ කර ගන්න සාරත්වයක් නැති බව නිතර මෙනෙහි කරන ලෙස අධිෂ්ඨාන කර ගන්නයි පෙන්වා තියෙන්නේ.

එසේම යම් උෂ්ණත්වයක් කය තුල ක්‍රියාත්මකද, බාහිර ලෝකයේ ඇති උෂ්ණත්වය මෙන් මෙහිද උෂ්ණත්වය ක්‍රියාත්මක වන හැටි බලා මම, මගේ යැයි ගන්න හරයක් නැති බව දකින ලෙසයි පෙන්වා තියෙන්නේ.

වායුව ගැනත් එසේමයි. කය ඇතුළත තියෙන වායුව හා කයෙන් පිටත තියෙන වායුව යන දෙක වායුවම මිසක් මෙහිද මම, මගේ යැයි ගන්න, හිමිකම් කියන්න කිසිම හරයක් නැති බව නුවණින් දකින්නයි පෙන්වා තියෙන්නේ.

පුක්කුසාති හිමියන්ට මනා නුවණ ඇති නිසා මෙසේ ප්‍රඥා මාර්ගය විස්තර කරමින් මේ කයේ ඇතුලත ආකාශය හා පිටත ආකාශයත් ආකාශයම මිසක් මම, මගේ යැයි ගන්න හරයක් නැති බවත් (අනත්ත බව) පෙන්වූ විට මහා ප්‍රඥා ඇති නිසා බොහෝ කොට වැටහීම ලැබිල තියෙනවා.

කන ආහාර ආදිය බාහිර ලෝකයේ පඨවි ධාතුව බවත්, ශරීරයට ඇතුල්වන ඒවා නැවත සිරුරින් බැහැර වන්නේත් සත්ත්ව පුද්ගල වශයෙන් නොව ඇතුළු වූ පඨවි ධාතුව වශයෙන්ම බවත්, මේ කයේ තියෙන්නෙත් ඒ පඨවි ධාතුව හැර අන් කිසිවක් නොවන බවත් මහා ප්‍රඥාවට වැටහී යනු ඇත. ඉතිරි ධාතු 5 ගැනත් දකින්නේ එසේමයි.

අධික නුවණ ඇති නිසා ඇස, කන, නාසය, දිව, කය ආදී ඉන්ද්‍රියන් හැදිල තියෙන්නෙත් ඒවාට ගොදුරු වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ යනාදියට අරමුණු වන්නේත් මේ ධාතු 6 බව වැටහෙන කොට අසාර වූ හෙවත් අනත්ත වූ අභ්‍යන්තර හා බාහිර ලොවක්ම ප්‍රඥාවට වැටහෙනු ඇත. එවිට යම් පංච කාමයක් හෝ ඒ පසුපස හඹායන අයට ඇතිවන කම්පනයක්, ද්වේශයක් හෝ ඇති නොවී ප්‍රඥාව ජයගනු ඇත.

මේ අවබෝධයට උදව්වක් වශයෙන් සුඛ, දුක්ඛ, උපේක්ෂා වශයෙන් ඉන්ද්‍රිය 6 මගින් 18 ආකාරයෙන් දැනෙන වේදනාවල උපත, අදාල ඉන්ද්‍රියන් බාහිර අරමුණු සමඟ ස්පර්ශ වෙන කොට ගොඩනැගෙන හැටිත්, ඒ හේතුවෙන් ගොඩනැගෙන ස්පර්ශ හේතු ගෙවෙන කොට ගෙවිල අතුරුදන් වෙන හැටිත් විග්‍රහ කර, ලී දෙකක් එකට ඇතිල්ලෙන කොට උෂ්ණය නැගෙන මෙන්ද ලී දෙක වෙනස් කළාම උෂ්ණය නිවී සිසිල් වන මෙන්ද උපමා පෙන්වා දේශනා කළේ අනත්ත ලක්ෂණයෙන් වේදනානු පස්සනාව වඩන ආකාරයයි. මෙසේ සිත පිරිසිදුව ප්‍රභාෂ්වර වී කරන කටයුතු නිවනටත් යෝග්‍ය වෙලා පිහිටන ප්‍රභාෂ්වර සිත උපේක්ෂා ඒකග්ගතාවයයි.

කවුරු පිළිගත්තත් නැතත් ඒ චතුර්ථ ධ්‍යානයයි. බුදුපියාණන් වහන්සේ ඒ ඒ චිත්ත ස්වභාවයන් අරිහත්වයට සුදුසු බව දකිනු ඇත. එවිට තව තවත් ප්‍රමාද නොකර අරූප ධර්මයන්ගේත් අසාරත්වය පෙන්වා සියලු භව විභව බැඳීම් කෙළවර වෙන්න මඟ පෑදීම් වශයෙන් දහම් දේශනා කරනවා.

මෙසේ ප්‍රඥාවෙන් වැඩෙන කොට සැප, දුක්, උපේක්ෂා වේදනා ඒ ඒ ස්පර්ශ හේතුවෙන් නැගෙන බව දකින අතර ඒවා අනිච්ච බව දැන ගන්නවා. මෙහි අනිච්චයි කිව්වේ කුමන අරුතින් දැයි බුද්ධ දේශනාව තුලින්ම දැන ගත යුතුයි. අං.නි.(6) හි එන ගිරිමානන්ද සූත්‍රය - ''ඉදානන්ද භික්ඛු සබ්බ සංඛාරේසු අට්ඨීයති, හරායති, ජිගුජ්ඡති, අයං වුච්චතා නන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා'' - මෙහි පෙන්වන්නේ පෙළෙන ලක්ෂණය, ඇසුරට ලැජ්ජා විය යුතු බව, මළ මුත්‍ර මෙන් ඇසුරට නුසුදුසු බවයි.'' බැසගෙන සිටින්න, විඳ විඳ සතුටුවෙන්න නුසුදුසු බවයි. එවිට එබඳු වේදනා සමඟ බැඳෙන්නෙ නෑ. වින්දනය කරන්නෙත් නෑ. නමුත් කාය ජීවිත පරියන්තික වේදනා විඳින්න වුණත් ඒවා අභිනන්දනය කරන්නෙ නෑ.

මෙහිදී පෙනෙන දෙයක් තියෙනවා. මේ ධාතු විභංග සූත්‍රයේ දහම් මඟ අනුව අනිච්ච, දුක්ඛ, අනත්ත දැකල තියෙනවා. මෙසේ ආදීනව දකින නුවණක් ඇත්ද එය දුක්ඛාර්ය සත්‍යයයි. එබඳු මුලා ආස්වාදයන්ගේ යථාර්ථය නොදැන එහි බැඳෙන චන්ද රාග නිසා ඒ දුක් කඳ පසුපස හඹා යන ආකාරය දකින නුවණක් වේද එය දුක්ඛ සමුදය ආර්ය සත්‍යයයි.

ඒ ඡන්ද රාග නිරෝධය නිසා ඒ ස්පර්ශ ආයතනයන්ගේ නිරෝධ වීම වන බව දකින නුවණක් ඇත්ද ඒ දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයයි. මෙසේ ප්‍රඥාවෙන් ඒ ඒ අවස්ථා මෙසේ දකින කොට සංසිඳීම කරා යාමක් වේද, ඒ බව දකින නුවණ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යයයි.

සමහරු හිතන්නේ මේ සතර ආකාර නුවණ වචන වශයෙන් නැති නිසා මෙහි චතුරාර්ය සත්‍යය සඳහන්ව නැති බවයි. එය තේරුම් ගත නොහැකි පින්වතුන්ගේ මුලාවක්.

අරිහත්වයට පැමිණෙන තුරු මේ චතුරාධිෂ්ඨානය අත් නොහැර අප්‍රමාද විය යුතුයි. අරිහත්වයේදී මේ අධිෂ්ඨානය පූර්ණ නිසා එයට පරම ප්‍රඥා අධිෂ්ඨානය කියල කියනවා. යමක් නැසෙන ස්වභාවය ඇත්නම් ඒ විතථයි. නොනැසෙන නිවන අවිතථයි. මේ සත්‍ය ධර්මතාවයේ නොසැලෙන පිහිටීමක් ඇත්ද එයයි සත්‍යාධිෂ්ඨානය. අරිහත්වයේදී මෙසේ පරම අරිය සත්‍යාධිෂ්ඨානය කියල කියනවා.

ඒවගේම පෙර අවිද්‍යාශ්‍රව ලෙස ගන්නා ලද ස්කන්ධ ආදී උපධීහු වෙත්ද ඒවා සියල්ල ප්‍රහීන වෙනවා. සහමුලින් දුරුවෙනවා. නැවත හටනොගන්නා ස්වභාවයට පත් වෙනවා. මතුවට කිසි ලෙසකවත් පහල වෙන්නෙ නෑ.

මේ ආකාර වූ අත්හැරීම පරම වූ ත්‍යාගාධිෂ්ඨානයයි. මේ ආකාර වූ සියළු උපදීන්ගේ පිළිනොගැන්මක්, සියලු කෙළෙස් සංසිඳීමක් වීද, ඒ තාක් උත්සාහය වීර්ය විශ්වාසය අත් නොහැරීම පරම වූ උපසමාධිෂ්ඨානයයි.

මෙසේ ප්‍රඥාවේ අප්‍රමාදයත්, නිබ්බාන නම් වූ ශාන්තියේ පිහිටීමටත්, සකල ක්ලේෂයන් පහ කර නිදහස් වීමටත්, උප සමය හෙවත් සංසිඳීම් සුවයට පත්වීමටත්, නොපසුබට වීර්යෙන් අධිෂ්ඨාන කර පූර්ණ කර ගන්නා තුරු අප්‍රමාද වීමටත් කටයුතු කිරීමයි චතුරාධිෂ්ඨානය කියන්නේ.

මේ සූත්‍රයේ ගැබ්වෙලා තියෙන චතුරාර්ය සත්‍යය සොයා ගන්න බැරිව අධිෂ්ඨාන හතරක් චතුරාර්ය සත්‍යය කරන්න උත්සාහ කිරීම මුලාවක් බව පෙනී යනවා. එසේම මේ සූත්‍රයේ පෙන්වා ඇති පරිදි පත්ත චීවර පරිපූර්ණත්වයට සහ භ්‍රාන්ත වූ දෙනක් ඇන ජීවිතක්ෂයට පත්වීම ආදී මේවාට නොයෙක් අර්ථකථන දෙන්න ගිහින්, එම සූත්‍රාන්තයන්ට අනුව කරුනු කාරණා අහන කොට ගලපල කියන්න බැරි වුනාම ඒ සියලු කොටස් බුද්ධඝෝෂ හිමියන් ඇතුලත් කළ බමුණු මත යැයි පොට බේරාගන්න සුදුසු නැති බව කිවයුතුයි.

මේ ධාතු විභංග සූත්‍රයේ අවසානයට ඇත්තේ පුක්කුසාති භික්ෂුව පාත්‍ර සිවුරු පූර්ණ කර ගන්න සැරිසරන කොට භ්‍රාන්ත වූ දෙනක් ඇන ජීවිතක්ෂයට පත්වූ බවත්, එවිට බොහෝ භික්ෂූන් බුදුරජාණන් වහන්සේ වෙත පැමිණ ඒ පුක්කුසාති කුල පුත් කලුරිය කළ බවත්, ඔහුගේ ගතිය හා මරණින් පසු තත්ත්වය කුමක්ද කියා ඇසූ බවත්ය. (දෙනක් ඇන මිය යාම නම් තම චරිතය කෙලෙසා ගැනීම යැයි මේ ගුරුතුමා පවසනවා.)

බුදු පියාණන් වහන්සේ එවිට දේශනා කළේ පුක්කුසාති කුල පුත් පණ්ඩිත බවත්, ධර්මානුධර්ම අවබෝධ කළ අතර ධර්ම හේතුවෙන් බුදු රජුන් පෙළීමට පත් නොකළ බවත්, මේ කුල පුතු පස් වැදෑරුම් ඕරම්භාගීය සංයෝජන ප්‍රහානය කිරීමෙන් බඹ ලොව ඉපිද යලි මෙලොවට නොපැමිණ එහිම පිරිනිවෙන බවත්ය. මේ අනුව දෙනක් ඇන මියගියා කියන්නේ චරිත කෙලසා ගැනීමක් නොවන බව ඔප්පු වෙනවා.

මේ සූත්‍රය ගැන ගුරුතුමා ආලෝකය නම් පත්‍රවල සිය පොළකට වැඩිය කරුණු පෙන්වමින් විවිධ අර්ථකතන ඉදිරිපත් කළත් සූත්‍රාවසානය ගැන බිඳක්වත් කරුණු ඉදිරිපත් නොකළේ දෙනකගේ ඇනීම නිසා මිය ගියා යැයි කීම චරිත කෙලසා ගැනීමක් යැයි දුන් අර්ථ කථනයට පහරක් වන නිසයි. ලෞකික වූ වේදය, භාෂා දැනුම දඩමීමා කර ගනිමින් තම ශ්‍රාවක පිරිස් මැඩ පැවැත්වීම සුදුසු නෑ.

<u>මේ කුමන දහමක්ද?</u> 2007.09.26 දින ආලෝකය නම් පුවත් පතේ 2 පිටුවේ අනාගත වංශ දේශනාව යනුවෙන් ලිපියක් තියෙනවා. සොබා දහම යැයි යමක් ලොව තුළ පවතින බවත්, මිනිසා සහ සියලු සතුන්, ඉර හඳ, සතර මහා භූත ඇතුළු සියලු වස්තූන්ද සොබා දහමෙන් පාලනය වන සොබා දහමේ රාජධානියක්ලු. මිනිසා ඇතුළු සැම දේම පාලනය වන්නේ සොබා දහම විසින්ලු. විදර්ශනාව යැයි අමුතු අර්ථ කථනයක් දෙමින් උඩුගම් බලා යාම යැයි හැම දෙයක්ම හැදුන හැටි මුලට බලා යන භෞතික ක්‍රමයක් පෙන්වා සූර්යා මූලික කොට නවතනවා. පෙර වේදධාරීන් සූර්යා ඊශ්වර කියලත් පවසා තියෙනවා. මේ ගුරුතුමාත් වහෙන් ඔරෝ කියන්නා සේ වෙනත් ක්‍රමයකින් බුදු දහමත් මුලට ගාවා ගනිමින් ඊෂ්වර නිර්මාණයෙන් ටිකක්ද, ඉබේ පහළ වුණා කියා කොටසක්ද අමුණාගෙන (අං.නි.1 - 310 පිටුව තිර්ථායතන සූත්‍රය) පාඨකයා නොදැනුවත්වම බමුණු මතවලට යොමු කරන ආකාරය පෙනී යනවා.

බුදු දහමේ පෙන්වන්නේ ලෝක විනාශයකින් පසු ආභස්සර බඹ ලොවින් චුතව ප්‍රථමධ්‍යාන තලයේ පහළ වන බ්‍රහ්මයන්ගේ සංක්‍රමණයෙන්, යලි ලෝකය සහ සත්ත්ව ප්‍රජාව සැකසුන හේතු ඵල දහම් ක්‍රමයයි. මනුෂ්‍යයාගේ මූලික පුණ්‍ය ශක්තියෙන් සම්පත්තිකර මහාමේඝය නම් වළාකුළු, වැස්ස මූලිකව හටගෙන ජල ගෝලයක් ඇති වී ලෝකාරම්භ වූ හැටිත්, පළමුව දිය මත කිරි යොදයක් වැනි රස ධාතුවක් පහල වී ඒ රසයට ගිජුව ආදී බ්‍රහ්ම කල්පික මිනිසා පොළවේ වාසයට යොමු වූ හැටිත්, ඉර හඳ පහළ වීම සිදු වූ හැටිත්, බුදු දහම තුළ අග්ගඤ්ඤ සූත්‍රයේ ලෝකෝප්පත්ති වංශ කථාවේ ඇතුළත් වෙලා තියෙනවා. මෙහි මිනිසා යන්න සූත්‍රවල ඇත්තේ ''සත්ත්වයා'' කියා නිසා, අද ලෝක ව්‍යවහාරය පරිදි සත්තු යැයි ගුරුතුමා අර්ථ පෙන්වනවා.

ගුරුතුමාගේ ඒ මතයන්ට විරුද්ධව ත්‍රිපිටක ධර්මය තුලින් පෙන්වන සැම කරුණක්ම, බුද්ධඝෝෂ හිමියන් විසින් කළ බමුණු මත යැයි පාඨකයන්ට හුවා දක්වන්න කරන ප්‍රයත්නයක හැටි නම් එතුමාගේ පුවත්පත්වලින් පාඨකයන්ට දැකිය හැකියි.

මීට අමතරව මුළු බුද්ධ චරිතයම සිද්ධාර්ථ කුමාරෝප්පත්තියේ පටන්ම විවිධ අර්ථකථන දෙමින් කණපිට ගසා තියෙනවා. මේ ගුරුතුමාගේ ප්‍රධානත්වයෙන් මුද්‍රණය කර ඇති ආලෝකය නම් පත්තර කලාප සිය ගණනකින් කලාප නවයක් අපට බලන්න ලැබුණා. ඒවායේ බුදු දහමේ දැනට පවතින කරුණුවල වසර 2500 ක පමණ කල් පටන් කිසිම හිමි නමක් හෝ ධර්මාවබෝධය ලබා සිටි උපාසක මහතෙක් හෝ උපාසිකා මව් කෙනෙක් මෙබඳු අර්ථකථන දී ඇති බවට සලකුණක්වත් නෑ. මේ ගුරුතුමා කියන අදහස් මතුවන්නේ ධර්මාවබෝධය ලැබූ අයට පමණයි කියා කියනවානම්, වසර 2500 ක පටන් මේ දක්වා එබන්දෙක් බිහිවී නොසිටිය යුතුයි. මෙන්න ඒ අදහස් කිහිපයක්.

2008.08.16 ආලෝක පත්‍රය 10 වැනි පිටුව පළවැනි තීරුව ''සිදුහත් බෝසතුන්ගේ උප්පත්ති කථාවේ මෙය ඉතා මැනවින් දර්ශනය කෙරේ. සිදුහත් දරුවා උපන් විගසම මහා බ්‍රහ්මයා වඩාගන්නවා කියන්නේ එම ළදරු නාම කය (නාමය) රාග ද්වේශ සිතිවිලි නොමැති බ්‍රහ්ම චින්තනයක් බව පෙන්වා දීමටයි. (ම.නි.2. මහා මාලුංක්‍ය සූත්‍රය බලන්න) ඉන් පසු ශක්‍රයා වඩාගන්නවා කියන්නේ සක්කායෝ ශක්තිය (පංච උපාදානස්කන්ධය) ක්‍රියාත්මක වීමෙන් සිත තුලට සතර වරමක් ලැබෙන බවයි. එනම්, 1. දිට්ඨි 2. සුත 3. මුත 4. විඤ්ඤාන යන ලෝක ව්‍යහාර ධර්මතාවලට සිත පත්වන බවයි. ඒ බව පෙන්වන්නේ ශක්‍රයා වඩා ගැනීමෙන් පසු සතර වරම් දෙව්වරු මේ ළදරුවා වඩාගන්නා බව පැවසීමෙනි.''

මේ අමුතු විදිහේ අර්ථකථනයත් සමඟ ශක්‍ර, බ්‍රහ්ම, සතර වරම් දෙවි යන පිරිස් මුල් කර ත්‍රිපිටකයේ තියෙන සියලු සූත්‍ර ප්‍රතික්ෂප වෙනවා. මේ පුංචි පත්තර පිටු කෑල්ලක මේ ටික විස්තර කළා නම් ත්‍රිපිටක ධර්මයට අටුවා ටීකා ටිප්පනි ආදිය කරපු කිසිම ඇදුරෙකුට, ආදී හිමි වරුන් විසින් මේ අරුත කියා දීල නැද්ද? සටහන් මාත්‍රයක් නොකළේ ඇයි? විමසා බලන්න.

මේ ගුරුතුමාම විමසා බලන්න දුන් මහා මාලුංක්‍ය සූත්‍රයේ, උඩුහුරුව හොවනා කුඩා දරුවාට සක්කාය යයි දැනුමක් නොවන බව බුදු රජුන් දේශනා කරල තියෙනවා. දරුවෙක් බිහිවන අවස්ථාව උඩුකුරුව හොවනා අවස්ථාවටත් වඩා ළඳරුයි. ශක්‍රයාගේ ගැනීම යනු සක්කාය පහළ වීමයි කීම දැන් කොහොම ගලපන්නද? මේවාට තමයි නොගැලපෙන මනෝ විකාර කියන්නේ.

තවද ජාතක කතා කොටසකට ගොඩනැගූ අර්ථකථනයක් දෙමින්, ගල්ලෙන ඉදිරිපිට පොකුණේ නෙළුම් මලේ උපන් ළදැරිය පෝෂණය කළ තවුසාගේ කතාවක් උපමා කර එය නෙළුම් මල නමැති හිත තුල උපන් රාගය නමැති ළදැරිය පෝෂණය කළ තවුසා ලෙස යැයි සිදුහත් තාපස තුමා යන්නට අර්ථ දී තියෙනවා. මේ කියමන් අනුව සිදුහත් බෝසතුන් පමණක් නොවෙයි කුමන ජාතියක, ආගමක, කුලයක උපදින සියලු ගැහැණු පිරිමි ළදරුවන් පළමුවම බ්‍රහ්මයා ගෙන තියෙනවා. දෙවනුව ශක්‍රයා ගෙන තියෙනවා. තෙවනුව සතරවරම් දෙවියෝ ගෙන තියෙනවා. මේ සියලු දරු දැරියෝ තාපසයෝය, තාපසිකාවෝය. නමුත් බුද්ධ චරිතය සම්බන්ධ තවත් කිසිම දරු දැරියෙක් මෙසේ පිළිගත් බවට කිසිම ලිඛිත හෝ පාරම්පරික සාධකයක්ද නෑ.

ඉතින් මේවා, බුද්ධ ශ්‍රාවක මහතෙරුන් වහන්සේලා විකෘති අදහස් මිශ්‍රවෙන්න ඉඩ නොදී වසර 2500 කට වැඩි කලක පටන් මෙතෙක් රැකගෙන ආ ත්‍රිපිටක ධර්ම රත්නයට කරන නිගාවක් නොවේ දැයි පාඨක පිංවතුන් විමසා බලත්වා.

මීළඟට 2008.10.14 දිනැති ආලෝක පත්‍රයේ 2 පිටුවේ 3 වැනි තීරුවේ පහතින් දක්වෙන කොටසේ සිදුහත් කුමරු ඉපදී හත්වැනි දින විඤ්ඤාණය පහල වීම, නම් තැබීම නම් වූ බවත්, මහාමායා මරණය, ප්‍රජාපතී ගෝතමිය කිරිමව් තනතුරට පත්වීම ආදිය එහිම යට ඇති අර්ථකථනයන් ලෙසත් හඟවා තියෙනවා.

මේ අනුව සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය ඇතුළු බුද්ධ චරිත කතාව ලෝක සම්මත සිදුවීමක් නොව හුදු මනඃකල්පිතයක් කරමින් මෙතෙක් සම්මත කතාවකින් වැසී ඇති මෙය විවෘත කළ බවත් මේ ගුරුතුමා පවසනවා. නමුත් පුදුමය නම් ගුරුතුමාගේ කතා සත්‍ය නම්, වසර 2500 ක් මේ දහම් මග ගෙනා මහ තෙරුන් වහන්සේලාට මේ පිළිබඳව පත් ඉරුවක්වත් ලියා තබන්න දැනීමක් වැටහීමක් නොතිබීමයි. මේ පෙන්වන මනඃකල්පිතවලින් බුදු දහම වැසේද විවර වේද කියා නැණවතුන් කල්පනාකර බලත්වා.

ඉන්පසු මේ පත්‍රයේම 5 වැනි පිටුවේ දෙවැනි තීරුවේ මැද පටන් මජ්.නි.(1) හි ඇති අරිය පර්යේෂණ සූත්‍රයේ 407 පිටුවේ ඇති කොටසේ සිංහල තේරුම මෙසේ දක්වා තියෙනවා. 23 වන ඡේදය ''බෝසතාණන් වහන්සේ කුසලය කුමක් දැයි අනුත්තර උතුම් නිර්වාණ පදය සොයමින් මගධ දනව්වෙන් පිළිවෙලින් සැරි සරමින් උරුවෙලායෙහි සේනානි ගම කරා පැමිණ එහි සිත්කළු භූමි භාගයද පහදවන වන ලැහැබද වැලිතලා ඇති මනා තොටු ඇති සිත්කළු ගලා බස්නා නදියද හාත්පස ගොදුරු ගම්ද දිටිමි. පධන් වීර්ය වැඩීමට ඒ බෝ මැඩ පෙදෙස සුදුසු බව දැක හුන්නෙමි. (දහම් පොතේ සිංහල අර්ථය කෙටියෙන්)

මේ ගුරුතුමා මේ විස්තරයෙන් පෙන්වන්නේ එබඳු ලොව ඇති භූමි පෙදෙසක් නොවන බවයි. එය හුදු මනඃකල්පිතයක් යැයි ඊට අර්ථකථනයක් දී තියෙනවා. මේ සූත්‍රයේ 23 වන ඡේදයේ පාලි පාඨයත් පෙන්වා ඊට දී ඇති මනඃකල්පිත අර්ථකථනය මෙසේය.

''ශ්‍රාවකයිනි, ඒ මම අනුත්තර ශාන්ත භාවය සඳහා අවශ්‍ය කුසලතා මොනවා දැයි පර්යේෂණයක යෙදුනේ මනෝමය මහා ආගාධයන්හි අනුපිළිවෙලින් සැරිසරා අවසානයේ පරතෙරක් නොමැති වෙරළ ඇති සිත නමැති මහා සාගරයේ පිහිටි මම නමැති සෙන්පතියාගේ ගමට පැමිණියෙමි.'' මෙය මෙහි ඇතුළත කථාවලු. මින් පෙන්වූයේ සිත තුලින් සත්‍යය සෙවීම සඳහා විදර්ශනා කිරීමට පැමිණි

23 වෙනි පිටුවට...

# මොකක්ද මේ උපාදාන කියන්නේ...?

පසුගිය ලිපිවලින් තණ්හාව කියන්නේ තන්හි තන්හි (තැන තැන) හාවීම වශයෙන් පැහැදිලි කළා. මේ තන්හි තන්හි කියන්නෙ මොකක්ද කියල බැලුවම එය රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පංචකයේ හාවීම වශයෙන් දැකගත යුතු බවත් පැහැදිලි කළා. තණ්හා පච්චයා උපාදාන කියන මෙසේ හාවීම නිසා ඇති වන උපාදානය මොකක්ද කියල පැහැදිලි කර ගැනීම තමයි මේ ලිපියේ අරමුණ.

පලමුවෙන්ම උපාදාන කියන වචනය තේරුම් ගත යුතුයි. මේ වචනය "උප + ආදාන" වශයෙන් කොටස් දෙකකින් පෙන්වන්න පුළුවන්. උප කියන පදයේ තේරුමට උප ඇමති, උප විදුහල්පති ආදී වශයෙන් යෙදෙන අවස්ථා ගැන බැලිය යුතුයි. ඉන් එහා ඇති අවස්ථාවට පත් වෙන්න ආසන්නතම තත්ත්වය බවයි මේකෙන් කියන්නේ. එනම් උප ඇමති කියන්නේ ඊළඟ අවස්ථාවේ දී ඇමති බවට පත්වෙන්න ඔහුට අවස්ථාව තියෙන බවයි. උප විදුහල්පති කියන්නේ විදුහල්පති වීමට හැකියාව පිලිබිඹු කරන බවයි.



උප කියන වචනයෙන් කුමක් තේරුම් ගත යුතුද යන්න මේ උදහරණවලින් පැහැදිලි වෙනවා. ආදානය කියන්නේ ආසන්නයට ඇදී සිටීම වශයෙන් තේරුම් ගන්න ඕන. ආසන්නයට ඇදී සිටිනවා කියන්නේ ඊළඟ පියවරට, ඊළඟ පියවරේ ආසන්නයටම ඇදී සිටිනවා කියන එකයි. උපාදාන පච්චයා භවෝ කියල ගත්තොත් ඊළඟ පියවර භවයි, භව කියන තත්ත්වයයි. එනම් භව කියන තත්ත්වයට ආසන්නයේම පිහිටි, ඊට යටින් පිහිටි තත්ත්වය තමයි උපාදාන. මේ අදහස තහවුරු කරගන්න අපි ත්‍රිපිටකයෙන් උදහරණ කිහිපයක් අරගෙන බලමු.

මජ්ජිම නිකාය (2) 262 පිටුවේ එන අග්ගිවච්චිගොත්ත සූත්‍රයේ මෙසේ සඳහන් වෙනවා. මෙහි දී අග්ගිවච්චිගොත්ත පරිබ්‍රාජකවරයා බුදු පියාණන් වහන්සේගෙන් අහනවා, මේ ගිනි ගොඩක් දිගටම දැල්වීම සඳහා උපාදාන වන්නේ කුමක් ද කියා. තොප ඉදිරියේ යම් ගින්නක් දිලෙන්නේ ද, එය කුමක් නිසා දිලේ ද වච්චය. භවත් ගෞතමයනි, මා හමුවේ යම් ගින්නක් දිලෙන්නේ ද මේ ගින්න තෘණකාශ්ඨ උපාදානය නිසා දිලේ.

තෘණකාශ්ඨ වශයෙන් දැක් වූයේ වියලී ගිය තණකොළවලටයි. මෙන්න මේ තණකොළ ගොඩක් නිසා ඇවිලෙන ගින්න ගැනයි මෙහි දී කථා කරල තියෙන්නේ. එනම් මෙහිදී ගින්නට උපාදාන වෙලා තියෙන්නේ වේලිච්ච තණකොළ ටිකයි. එහෙනම් ගින්නට ආසන්නම හේතුව (උප + ආදාන) මෙන්න මේ තණකොළයි. තණකොළ ඉවර වුනොත්, එනම් උපාදාන වෙච්ච දේ ඉවර වුනොත්, කෙලවර වුනොත් ගින්නත් නිවිල යන බව ඒ අවස්ථාවේ දී පැහැදිලි කළා. ගින්න දිලෙමින් ඇවිලී යාමටත් ආසන්න හේතුව තෘණ වශයෙන් හැඳින්වූ වියලි තණකොළයි. යම් හෙයකින් මේ තෘණ කාශ්ඨ උපාදාන කරමින් හටගත් දැවෙන ගින්න තෘණ කාශ්ඨ ක්ෂය වීම නිසා නිවී යන්නේය යනුවෙන් එහි සඳහන් වෙනවා.තවත් උදහරණයක් සංයුක්ත නිකාය (4) 703 පිටුවේ සඳහන් වෙනවා. මෙහිදී තථාගතයන් වහන්සේ සාකච්ඡා කරල තියෙන්නේ ගිනි ගොඩේ ගිනි සිලු ඈතට හෙවත් ඉහලට එස වී යන්න හේතු වන්නේ, උපාදාන වෙන්නේ මොනවද කියන කාරණය. ඒ තමයි වච්ච අහපු ප්‍රශ්නය. එතකොට බුදු පියාණන් වහන්සේ උත්තර දෙනවා, මේකට වාතය උපාදාන වෙනව කියල. ඊකෙන් පැහැදිලි වෙන්නේ මේ ගිනිසිල ඉහළට නැගීමට හේතුව, ඒ ගිනි සිළුවලට ආසන්නයේ තියෙන වාතස්ථරය බවයි. රත් වෙමින් ඉහළ නගින වාතස්ථරය සමග ගිනි සිලත් ඉහළට නගිනවා. එහෙනම් ගිනි සිල ඉහළට නැගීමට ආසන්න වශයෙන් හේතු වුනේ ඉහළට නගින වායු ස්ථරයයි. එතනින් ආසන්නයට ඇදී සිටින හේතුව හෙවත් උපාදානය, ඒ රත්වන වායු ස්ථරය බවයි බුදු පියාණන් වහන්සේ දේශනා කළේ.

මෙයින් අපට තව දුරටත් පැහැදිලි වෙනවා, උප + ආදාන හෙවත් උපාදානය වශයෙන් විස්තර කරන, ආසන්නයට ඇවිත් සිටින හේතුව කියන නිර්වචනය හෙවත් අදහස ස්ථිර වන බව.

දැන් මේ උපාදාන කියන පදය අවිජ්ජා පච්චයා පටිච්ච සමුප්පාද චක්‍රයේ යෙදෙන්නේ කොහොමද කියල බලමු. ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ආදී දුක් ගොඩකින් කෙලවර වන්නේ අවිජ්ජා පච්චයා පටිච්ච සමුප්පාදයයි, අවිජ්ජා පච්චයා සංඛාර, සංඛාර පච්චයා විඤ්ඤාණ යනාදී වශයෙන් කියවෙන අවිජ්ජා පච්චයා පටිච්ච සමුප්පාද චක්‍රයයි. මෙහි තණ්හා පච්චයා උපාදාන වශයෙන් යෙදිල තියෙනවා. එතකොට තණ්හාව කියන්නේ තන්හි තන්හි හා වීම බවත් මෙසේ හා වෙන්නේ ආස්වාද බලාපොරොත්තුවෙන් කියලත් අපි සාකච්ඡා කළා.

එහෙනම් මෙහෙම හාවෙන කොට නැවත නැවත ඒ හාවීම තුලින් ලබාගන්නා වූ ආස්වාදය නැවත නැවත ලැබීමේ බලාපොරොත්තුවක් ඇති වෙනවා. මේ විදිහට බලාපොරොත්තුවක් ඇති වීම උපාදාන වශයෙන් හඳුන්වනවා. මෙසේ බලාපොරොත්තු වීම නිසා තමයි භව කියන තත්ත්වය ගොඩ නැගෙන්නේ.

මජ්ජිම නිකාය (1) 705 පිටුවේ එන චූළවේදල්ල සූත්‍රයේ මෙසේ සඳහන් වෙනවා.

ඇවැත් විසාකයනි, ඒ උපාදාන හා ඒ පංච උපාදානස්කන්ධ එකක්ම නොවේ. (පංච උපාදානස්කන්ධය පියා (අතහැර) උපාදාන නොද අනිකක් වේ.) ඇවැත් විසාකයනි, පංච උපාදානස්කන්ධය කෙරෙහි යම් චන්ද රාගයක් ඇත් ද ඒ එහි උපාදානයක් නම් වේ. මෙහි වරහන් කොට දක්වා ඇති වාක්‍යයෙන් කියවෙන්නේ උපාදානය කියන්නෙ පංච උපාදානස්කන්ධයෙන් වෙන් වූ අනෙකක්ද නොවේ යන අර්ථයයි.

මේකෙන් අදහස් කළේ පංචස්කන්ධය සහ පංච උපාදානස්කන්ධය කියන්නේ එකක්ම නොවන බවයි. එහෙනම් අනිකක් ද නොවේ. පංච උපාදානස්කන්ධය තුළ යම් චන්දරාගයක් තිබේ කියල කිව්වේ ඒකයි. පංච උපාදානස්කන්ධය කෙරෙහි යම් චන්දරාගයක් ඇත්ද, ඒ එහි උපාදානයයි. එහෙනම් උපාදානයට හේතු වුනේ පංචස්කන්ධය කෙරෙහි තිබිච්ච චන්දරාගයයි. එහෙනම් චන්දරාගය කියන්නේ මොකක්ද කියල තේරුම් ගන්න සිද්ධ වෙනවා. චන්ද, රාග වශයෙන් මෙය කොටස් දෙකකට බෙදන්න පුළුවන්.

කැමැත්ත යන්නටත් චන්ද යන වචනය යෙදෙනවා. ඒ එක්කම "ච" යන අර්ථයෙන් සිත නිරූපනය කරන අතර ''ච + අන්ධ'' යන්නෙන් සිත අන්ධ කරන ස්වභාවයත් නිරූපනය වෙනවා. රාග කියන වචනය තේරුම් ගැනීමට එහි නිර්වචනය මෙසේ තේරුම් ගත යුතුයි. "රා" කියන්නෙ ආස්වාද බලාපොරොත්තුවයි. "ග" යන වචනයෙන් අග්‍ර වීම නිරූපනය වෙනවා. රා+අග්‍ර කියන්නේ ආස්වාද බලාපොරොත්තුව අග්‍ර කොට සැලකීමයි. යමෙක් සිත අන්ධ කරගනිමින්, ආස්වාද බලාපොරොත්තුව අග්‍ර කරගන්නවා නම්, එයට චන්දරාග කියන වචනය යෙදෙනවා. කුමක ආස්වාදයද? රූපවල, වේදනාවල, සංඥාවල, සංඛාරවල, විඤ්ඤාණවල ආස්වාදයයි.

අපි සසර ගමනේ ඉදිරියට තල්ලු කරගෙන යන්නේ මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයේ ආස්වාදය නැවත නැවත ලැබීමට බලාපොරොත්තු වෙන නිසා. මේ ආස්වාදය නැවත නැවත ලැබීමට බලාපොරොත්තු වීම හෙවත් පංචස්කන්ධය කෙරෙහි තිබෙන්නා වූ චන්දරාගය, උපාදාන වශයෙන් අවිජ්ජා පච්චයා පටිච්ච සමුප්පාදයේ තේරුම් ගත යුතුයි. යම්කිසි දවසක මේ පංචස්කන්ධයෙන් ලබන්නා වූ ආස්වාද නිසරු දෙයක්, අසාර දෙයක් ආදී වශයෙන් ඒ ආස්වාදවල ආදීනව දැක්කොත් ඔහු ඒ ආස්වාද නැවත නැවත ලැබීමේ බලාපොරොත්තුවෙන් ඉවත් වෙනවා. මෙය චන්දරාගයෙන් ඉවත් වීම වශයෙන් තේරුම් ගත යුතුයි.

පංච උපාදානස්කන්ධය හැදිල තියෙන්නේ පංචස්කන්ධය සමග ඒ චන්දරාගය ගොනු වීමෙන්. යමෙක් පංච උපාදානස්කන්ධයෙන් චන්දරාගය ඉවත් කළොත් ඔහුට ඉතිරි වන්නේ පංචස්කන්ධය පමණයි. මෙය රහතන් වහන්සේගේ ස්වභාවයයි. රහතන් වහන්සේටත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ තියෙනවා. මේ පංචස්කන්ධයම උන් වහන්සේටත් තියෙනවා. නමුත් ඒ එකකදීවත් උන්වහන්සේ ඒවායින් ලැබෙන ආස්වාදයන් කෙරෙහි බලාපොරොත්තු තියන්නෙ නෑ. ආස්වාද ලබන්න ඒවායේ හාවෙන්නෙත් නෑ.

රහතන් වහන්සේ, මේ ලබන ආස්වාදයන්ගේ ආදීනව මහා භයානක බව තේරුම් අරගෙන ඉවරයි. ඒ නිසා උන්වහන්සේට පංචස්කන්ධය පිළිබඳව තිබුන චන්දරාගය අවසන්. ඒ කියන්නේ උපාදාන අවසන්.

බුදු පියාණන් වහන්සේගේ ප්‍රථම ධර්ම දේශනාවේ දී, එනම් දම්සක් පැවතුම් සූත්‍ර දේශනාවේ දී දුක් ගොන්න විස්තර කරන වෙලාවේ ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ආදී වශයෙන් විස්තර කරල, ඉන් පස්සේ අන්තිමට සංඛිත්තේන (සං + කිත්ත + ඒන -පංච උපාදානස්කන්ධය පිළිබඳව එකතු කිරීමේ වැඩ පිළිවෙලක් වේද ඒක වෙහෙසක්) පංච උපාදානස්කන්ධා දුක්ඛා කියල විස්තර කළා. එනම් සංක්ෂිප්ත වශයෙන් ගත්තම මේ සියලු දුක් පංච උපාදානස්කන්ධය නිසාම උපදින බව උන්වහන්සේ දේශනා කළා.

පංච උපාදානස්කන්ධයෙන් මිදුනනම්, කෙනෙක් මේ සියලු දුක්වලින් මිදීම ආරම්භ කළ බව එයින් අදහස් කරනවා. එහෙනම් සසරෙදී අපට තියෙන ගැටළුව මොකක්ද? අපි උපාදාන කරමින්, උපාදාන හදමින් පංච උපාදානස්කන්ධයක් ගොඩනගාගෙන සිටීම තමයි සසරේ මෙතෙක් කල් ගමන් කිරීමට සැලැස්සුවේ.

විභංගප්පකරණය (1) 246 පිටුවේ උපාදාන පිළිබඳව මේ විදිහට සඳහන් වෙනවා. තත්ථ කථමා තණ්හා පච්චයා උපාදානං, කාම උපාදානං, දිට්ඨි උපාදානං, සීලබ්බතු උපාදානං, අත්ථවාදූ උපාදානං, ඉදං වුච්චති තණ්හා පච්චයා උපාදානං. මේ කිව්වේ මොකක්ද?

එනම් ප්‍රධාන වශයෙන් අපේ ජීවිතයේ තියෙන බලාපොරොත්තු හතරකට බෙදිලයි තියෙන්නේ. කාම උපාදාන කියල අදහස් කරන්නේ පංච කාම සම්පත්තියෙන් ලබන්නා වූ ආස්වාදයි. මේකට කාමරාග කියලත් කියනවා. ලබන්නාවූ ආස්වාද නැවත නැවත ලැබීමේ බලාපොරොත්තුවකින් ඉන්නව නම් ඒකට කියනවා කාම උපාදානං කියල.

ඊළඟට දිට්ඨි උපාදාන කියන්නේ ලෝකය සාරයි කියන අදහසින් ගත්තු දෘෂ්ටියයි. ලෝකය වශයෙන් හඳුන්වන්නේ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම හෝ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ලෝකයයි. සබ්බ ලෝකය කියන්නේ මේකටයි. මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවලින් ලබන ආස්වාදය මත තමන් තීරණය කරනවා සබ්බ ලෝකය සාරවත් කියල. ඒ පිළිබඳව බලාපොරොත්තු ඇති කරගන්නේ පංචස්කන්ධය මගින් ලබාගන්නා ආස්වාද සාරයි යන හැඟීමෙන්. මෙය සත්කාය දිට්ඨි වශයෙනුත් හඳුන්වනවා. එනම් ලෝකය සත් බවින් අරගෙන හොඳයි, සාරයි යනුවෙන් ඇතිකර ගත්තු හැඟීමයි. එහෙනම් යම්කිසි දවසක සෝතාපන්න වෙනකොට දෘෂ්ඨි වශයෙන් යම් තාක් ලෝකය සාරයි යන හැඟීමක් හිතේ තිබුනනම්, දිට්ඨි උපාදාන බිඳ වැටෙනවා.

එහෙනම් අපි බලමු සීලබ්බත උපාදාන කියන්නේ මොකක්ද කියල. යම් යම් පිරිස් ඉන්නවා තමන් දරන සීල ව්‍රත දිගටම පවත්වා ගෙන යෑමේ බලාපොරොත්තුවෙන්. ඈත අතීතයේ ගෝව්‍රත, අජව්‍රත.... ආදී වශයෙන් නොයෙකුත් සීල ව්‍රත තිබුණා. ඒ සීල ව්‍රතයන්ගෙන් ඒකටම ඇලිල ගැලිල හිටියම විමුක්තිය ලැබෙනවා, එහෙම නැත්නම් දුකින් නිදහස් වෙන්න ලැබෙනවා කියන අවිද්‍යා දෘෂ්ඨියෙන්, ඒ අවිද්‍යා දෘෂ්ඨිය කරගහගෙන ඒ සීල ව්‍රතම ඉදිරියට ගෙන යෑමේ බලාපොරොත්තුවෙන් ඉන්න පිරිසක් ඉන්නවා. මේක සීලබ්බත උපාදාන වශයෙන් හඳුන්වනවා.

අත්තවාද උපාදාන කියන්නේ ආත්මීය වශයෙන් මමය, මගේය කියල සාරවත් යමක් තියෙනවා කියන දෘෂ්ඨිය. පැත්තක් අරගෙන මගේය යන දෘෂ්ඨිය තව තවත් ආරක්ෂා කරගනිමින්, මමත්වය ආරක්ෂා කරගනිමින් දිගටම ඒ පිළිබඳව බලාපොරොත්තුවෙන් කටයුතු කිරීම අත්තවාද උපාදානයයි.

එහෙනම් මේ උපාදාන හතරෙන් බලාපොරොත්තු 4 ක් ගැනයි කියවෙන්නේ. සෝවාන් මාර්ගඵලවලට පත්වූ පුද්ගලයෝ සතර අපායේ උපදින මට්ටමේ කාම උපාදානවලින් බැහැර වෙනවා. දිට්ඨි උපාදානවලින් පූර්ණ වශයෙන් බැහැර වෙනවා. සීලබ්බත උපාදානවලින් පූර්ණ වශයෙන් බැහැර වෙනවා. අත්තවාද උපාදාන එනම් මම කියන හරවත් පුද්ගලයෙක් ඇතැයි යන හැඟීමෙන් ඒ පුද්ගල භාවය ආරක්ෂා කිරීමේ බලාපොරොත්තුවෙන් දිගටම පවත්වන අත්තවාද උපාදානයෙන් මුළුමනින්ම ඉවත් වන්නේ රහත් ඵලයේ දීයි.

උපාදාන සහ උපාදානීය ධර්ම පිළිබඳව පටලවා ගැනීමක් බොහෝ අය තුළ තියෙනවා. උපාදානීය ධර්ම මොනවද, උපාදාන මොනවාද යන්න පිළිබඳව ගැටළු සහගත තත්ත්වයක් බොහෝ අයට තියෙනවා. මේ ගැටළුව විසඳා ගන්න සංයුක්ත නිකාය (4), 224 වෙනි පිටුවේ එන <u>උපාදාන සූත්‍රය</u> දෙස බලමු.

මහණෙනි, උපාදානයන්ට හිත (හිතවත්) දහම් ද, උපාදානද දේශනා කරන්නෙමි. එය අසව්. මහණෙනි, උපාදානයන්ට හිත වූ දහම් හු කවරහු ද, උපාදාන කවරද යත්, මහණෙනි, ඉටු කැමති මන වඩන පිය දෑ වූ කාමයේ යුත් ඇළුම් කටයුතු ඇසින් දත යුතු රූ ඇත. මහණෙනි, මොහු උපාදානයන්ට හිත දහම් යයි කියනු ලැබේ. එහි යම් ඡන්දරාගයක් වේ නම් එය උපාදානයයි. මහණෙනි, කනින් දත යුතු සද්ද ඇත, නහයෙන් දත යුතු ගඳ ඇත, දිවෙන් දත යුතු රස ඇත, කයින් දත යුතු පහස් ඇත. මහණෙනි, ඉටු කැමති මන වඩන පිය දෑ වූ කාමයේ යුත් ඇළුම් කටයුතු සිතින් දත යුතු දහම් ඇත. මහණෙනි, මොහු උපාදානයන්ට හිත දහම් යයි කියනු ලැබේ. එහි යම් ඡන්දරාගයක් වේ නම් ඒ එහි උපාදානයයි.

එහෙනම් පැහැදිලිව පේනවා උපාදානීය ධර්ම කියන්නේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන මේ හයට බව. උපාදාන කියන්නේ මේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන ඒවා පිළිබඳව යම් ඡන්දරාගයක් ඇති වුනා නම් ඒකයි. ඡන්දරාගය කිව්වේ ඒවායින් ලබන්නා වූ ප්‍රිය මධුර ස්වභාවයේ මුලා සහගතව මත්වීමෙන්, ඒවා අතහරින්න බැරි විදිහට බැඳෙමින් යලි යලිත් බලාපොරොත්තු වන මානසිකත්වයයි. රාග වශයෙන් හැඳින්වෙන අග්‍ර කර ගැනීමක් තිබුන නම් එය එහි ඡන්දරාගයයි.

මේ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන මේවායින් ස්පර්ශ කරන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන මේ කොටස් පිළිබඳව යම් ඡන්දරාගයක් ඇති වුනොත් එහි උපාදාන වශයෙනුයි විස්තර වෙන්නේ. උපාදාන පිළිබඳ පූර්ණ වශයෙන් දැන ගැනීමට නම් උපාදාන පිළිබඳ ඥානය, උපාදාන සමුදය පිළිබඳ ඥානය, උපාදාන නිරෝධය පිළිබඳ ඥානය, උපාදාන නිරෝධ මාර්ගය පිළිබඳ ඥානය අප විසින් ඇති කරගත යුතුයි. උපාදාන කියන්නේ මොකක්ද කියල හරියට තේරුම් නොගත්තොත් ඉන් එහාට උපාදාන පිළිබඳව ඉතුරු ඥාන ලබා ගන්න බෑ.

උපාදාන සමුදය පිළිබඳ ඥානය කියන්නේ උපාදන ඇති වීමට හේතුව කුමක් ද යන්න දැනගැනීමේ ඥානයයි. තමන් විඳපු ආස්වාද නැවත නැවත විඳීමේ බලාපොරොත්තුවක් හෙවත් ඒ ඇස, කන, නාසය, දිව, ශරීරය ආශ්‍රිතව විඳින ලද ආස්වාද නැවත නැවත විඳීමේ බලාපොරොත්තුව වන උපාදාන වීමට හේතුව මේ ආස්වාදවල ආදීනව නොදැකීමයි. ආස්වාද, ආස්වාද වශයෙන්ම දකිමින් වෙසෙන්නෙකුගේ තෘෂ්ණාව වැඩෙන බවත්, ආස්වාදයන්ගේ ආදීනව නිතර මෙනෙහි කරමින් වෙසෙන කෙනෙකුගේ තෘෂ්ණාව ප්‍රහීන වෙන බවත් සං.නි (2) 144 පිටුවේ එන <u>නිදාන සූත්‍රයේ</u> සඳහන් වෙනවා.

එහෙනම් උපාදාන සමුදය, එනම් උපාදාන ඇති වීමට හේතුව ආස්වාදවල ආදීනව මෙනෙහි නොකර සිටීමයි. ආස්වාදවල ආදීනව මොකක්ද කියල තේරුම් ගත යුතුයි. ඇසින්, කනින්, නාසයෙන්, දිවෙන්, ශරීරයෙන්, මනසින් ලබන්නා වූ ආස්වාදවල අනිච්ච බව තේරුම් ගත්තම ආස්වාදයන්ගේ දුක තේරෙන්න පටන් ගන්නවා. අපි ජීවත්වන කාලය තුල මහා දුක් කන්දරාවක් විඳිමින් සසර ගමන් කරමින් ඉන්න බව අපි දන්නවා. මේ දුක් කන්දරාව වැහිල තියෙන්නේ ආස්වාද මාත්‍රයකින්. ආස්වාදයක්, ආස්වාදය වශයෙන්ම දැකිය යුතු බවත්, ආස්වාදයේ ආදීනව වෙනම දැකිය යුතු බවත් බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

ලෝකයේ ආස්වාද තියෙන බව උන්වහන්සේ දේශනා කළා. අපිට ඇති ගැටළුවත් ඒකමයි. ආස්වාද මාත්‍රය දෙස බලමින් එහි ආදීනව නොබලමින්, එහි අනිච්චතාවය , දුක්ඛතාවය, අසාරතාවය නොබලමින්, තේරුම් නොගනිමින් ඉදිරියට ගමන් කරන්නෙකුගේ උපාදාන වැඩෙන්න පටන් ගන්නවා. තණ්හාව වැඩෙනකොට උපාදානත් වැඩෙන්න පටන් ගන්නවා. එහෙනම් උපාදානවල සමුදය කියන්නේ ආස්වාදයට ඇති තණ්හාවයි. ආස්වාදයට ඇති තණ්හාව නිරෝධ කළොත් උපාදානත් නිරෝධ වන බව තේරුම් ගත යුතුයි.

එහෙනම් උපාදාන නිරෝධ කිරීමේ මාර්ගය වශයෙන් අපි දකින්න ඕන මොකක්ද? මේ ආර්ය අෂ්ඨාංගික මාර්ගයමයි. එහෙනම් යම් දවසක ආස්වාදවල ආදීනව දකින්නා වූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම යන උපාදානීය ධර්ම කෙරෙහි ඡන්දරාගය වඩන්නේ නැතුව එයින් නිදහස් වෙනවා. එයයි උපාදාන නිරෝධ කිරීමේ මාර්ගය.

උපාදාන නිරෝධය සඳහා අපි ප්‍රායෝගිකව මොකක්ද කරන්න ඕන? පටිච්ච සමුප්පාද චක්‍රයට අනුව අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර කරන බව අපි මුලින්ම තේරුම් ගත්තා. සංඛාර වශයෙන් අපි හැඳින්වූයේ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන උපයෝගි කර ගනිමින් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම සමග පටිච්ච වීමයි. මේ පටිච්ච වීමේ ක්‍රියාවලිය නිසා විඤ්ඤාණ නිපදවන බව අපි මුල්ම සාකච්ඡාවලදී තේරුම් ගත්තා.

එහෙනම් අවිද්‍යාව පහවෙලා විද්‍යාව පහළ වෙච්ච අයට, ලෝකය අනිච්ච බව තේරෙන අයට ආස්වාදත් අනිච්ච බව තේරෙන්න පටන් ගන්නවා. ඇසෙන් රූප සමග අපි පටිච්ච වන්නේ ආස්වාද ලබන්නයි. මේ ආස්වාද නැවත නැවත බලාපොරොත්තු වෙනකොට ඒ ආස්වාදය සඳහා නැවත නැවත පටිච්ච වෙනවා. එහෙනම් අපි නැවත නැවත විඤ්ඤාණ ගොඩනගමින් නාම රූප, සලායතන ආදියේ පටිච්ච සමුප්පාද චක්‍රය පූර්ණ කරමින් උපාදාන ගොඩනගනවා.

ආස්වාදවල අනිච්චතාවය, දුක්ඛතාවය, අසාරතාවය දැකපු මොහොතේ පටන් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම සමග පටිච්ච වීමේ ක්‍රියාවලියෙන් ඒ පුද්ගලයා ඉවත් වෙනවා. එනම් සං කිරීමේ ක්‍රියාවලියෙන් ඔහු ඉවත් වෙනවා. මේ තමයි සම්මා දිට්ඨිය ප්‍රායෝගිකව ක්‍රියාවට නංවන අවස්ථාව. සංවලින් "මා" වන්නේ නම් ඇස, රූප... ආදී වශයෙන් සං වීමේ ක්‍රියාවලියෙන් වෙන් වන්නේ නම් උපාදාන බිහි වීමත් නවතිනවා. උපාදාන නිරෝධය මේ ආකාරයෙන් සිදුවන බව තේරුම් ගත යුතුයි. මීලඟ කලාපයෙන් උපාදාන ප්‍රත්‍යයෙන් භව ඇතිවන හැටි සාකච්ඡා කරමු.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**
**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**
MBBS/DFM/MCGP/MPFAM

# ලෝකය අනිසි බව, දුක්ඛ බව, නිසරු බව වටහා ගනිමු

තථාගතයන් වහන්සේ විසින් දේශනා කර වදාළ ශ්‍රී සද්ධර්මයේ අතිශය වැදගත් දහම් කාරණා කිහිපයක් තමයි පටිච්ච සමුප්පාද ධර්මතාවය සහ ඒ ධර්මතාවය ඇසුරෙන් පැහැදිලි කරන්න පුළුවන් අනිච්ච, දුක්ඛ, අනත්ත නම් වන ත්‍රිලක්ෂණය. ඒ වගේම මේ අනිච්ච, දුක්ඛ, අනත්ත නම් වන ලෝක පැවැත්මක ලක්ෂණ තුන හේතු ඵල ලෙසින් එකිනෙකට සම්බන්ධ වන ආකාරය උන්වහන්සේ දේශනා කරන සද්ධර්මයේ ඇතුලත් සමහර සූත්‍රවල දකින්න පුළුවන්.

එවැනි එක් සූත්‍ර දේශනාවක් ලෙස සංයුක්ත නිකායේ, ඛන්ධ සංයුක්තයේ, ඛජ්ජනිය වග්ගයේ ඇතුලත් කර ඇති පිණ්ඩොල්‍ය සූත්‍රය ගැන විමසා බලමු. සං.නි (3) 156 පිටුව

මෙහිදී විශේෂයෙන්ම ඒ සූත්‍ර දේශනාව අපේ රාගක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය වීම සඳහා යොදා ගත හැකි ආකාරය විමසා බලමු. තම තමන්ගේ සිතිවිලි, ක්‍රියා, වදන් පිරිසිදු කර ගැනීමට යොදා ගත හැකි ආකාරය මෙහිදී විමසා බලන නිසා නුවණින් විමසමින් ලොව්තුරා සම්බුදු පියාණන් වහන්සේ විසින් අවබෝධ කර දේශනා කරන්නට යෙදුනු දහමේ උපරිම ප්‍රයෝජන ලබන්න උත්සාහ ගනිමු. මෙහිදී චතුර් ආර්ය සත්‍ය නම් සූත්‍රයටත්, පටිච්ච සමුප්පාද ධර්මයටත්, රාග, ද්වේශ, මෝහ ක්ෂය වී ලබන විනයටත් බහා බලන්න ඕන. (මේ බහා බලන සූත්‍රය හා ධර්මයත් සසඳන විනයත් පටිසම්භිදා මග්ගප්‍රකරණයේ විග්‍රහ කර ඇත.)

මේ සූත්‍ර දේශනාව දේශනා කිරීමට මුල් වෙච්ච කාරණය වුණේ භාග්‍යවතුන් වහන්සේ නිග්‍රෝධාරාමයේ වැඩ වසන දිනක උන්වහන්සේට පැන නැගිච්ච චිත්ත පරිවිතර්කයකුයි. එනම් ආධුනික භික්ෂුන් වහන්සේලා සසර දුක නිවීම පිණිස පැවිදි බිමට පිවිසුනාට පසු භාග්‍යවතුන් වහන්සේගේ දහම් ඇසුර නොලබන විට රාග, ද්වේශ, මෝහ සිත් ඇතිව වසන්නේ නම් ශ්‍රමණ දිවියට ඇතුලත් වෙලා පලක් නොවන බව දැක, එමගින් සිදු වන මහත් අවැඩ දැක, එම භික්ෂුන් වහන්සේලා කෙරෙහි මහත් කරුණාවෙන් තමයි මේ සූත්‍ර දේශනාව සිද්ධ කළේ.

''තයෝ මේ භික්ඛවේ අකුසල විතක්ක. කාම විතක්කෝ, ව්‍යාපාද විතක්කෝ, විහිංසා විතක්කෝ.... ආදී වශයෙන් තුන් ආකාරයක අකුසල විතර්ක නැගෙන බව එහිදී උන්වහන්සේ වදාරනවා. එනම් කාම විතර්ක, ව්‍යාපාද විතර්ක සහ විහිංසා විතර්කයි. ඒ වගේම



මේ තුන් ආකාර විතර්ක සහමුලින් නිරෝධ කිරීම සඳහා සතර සතිපට්ඨානය වඩමින් අනිමිත්ත සමාධිය නම් වූ සමාධිය වැඩිය යුතු බවත්, එසේ බහුලව වඩන ලද අනිමිත්ත සමාධිය මහත් ඵල මහානිසංස පිණිස පවතින බවත් එහිදී සඳහන් වෙනවා.

මෙහිදී අනිමිත්ත සමාධිය කියන්නේ මොකක්ද? යම් අරමුණක් පැමිණෙන කොට ඒ සමග රාග වශයෙන් හෝ ද්වේශ වශයෙන් හෝ මෝහ වශයෙන් හෝ නිමිති නොනැගෙන විටදී අනිමිත්ත සමාධියක් නැගෙනවා. මෙහිදී නිමිති නොනැගීමට සිදු කළ යුත්තේ සතර සතිපට්ඨානය වැඩීමයි. සතිපට්ඨානය වැඩීමේදී ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත යන ලක්ෂණ තුනින් සමන්විත බව අවබෝධ වෙන කොට ඒ වැටහීමේ මට්ටමට අරමුණු සමග රාග, ද්වේශ මෝහ නිමිති නොනැගී යනවා. මොකද ලෝකයේ නිසරු බව වැටහෙනව නම් ඒ වැටහීම නැගුනු මට්ටමට නිමිති නොගන්නා සමාධියක් හේතුවට ඵලය ලෙස ලැබෙන නිසයි. මේ සමාධිය රාග, ද්වේශ මෝහ උදා නොවීමෙන් ලැබුණු නිසා එයින් නැගුනු ජාතිය සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ගෙන් කෙලවර වෙන්නෙ නෑ.

ලෝකයේ උපාදාන වශයෙන් ගැනීමට සුදුසු කිසිවක් හෝ ඇත් දැයි විමසන කොට එවැනි කිසිවක් නොමැති බව සෘතවත් ආර්ය ශ්‍රාවකයා දැනගන්නවා. එනම් රූප, වේදනා, සංඥා, සංඛාර සහ විඤ්ඤාන උපාදාන කෙරෙනව නම් පටිච්ච සමුප්පන්නව උපාදාන පච්චයෙන් භව වෙනවා. භව පච්චයෙන් ජාති වෙනවා. ජාති පච්චයෙන් ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස උරුම වෙනවා. මේ විදිහට උපාදානය දුක් රැසෙහි හට ගැනීම පිණිස හේතු වෙනවා.

ඉන් පසු භාග්‍යවතුන් වහන්සේ මෙසේ විමසනවා. ''තං කිං මඤ්ඤත භික්ඛවේ, රූපං නිච්චං වා අනිච්චං වාති? අනිච්චං භන්තේ යම්පනානිච්චං දුක්ඛං වා තං සුඛං වාති?...''. එනම් රූපය නිච්ච වේද, අනිච්ච වේද කියල විමසනවා. රූපය අනිච්ච බව ප්‍රකාශ වෙනවා. එලෙසින්ම ඒ අනිච්ච රූප දුක්ඛ වේද, නොඑසේ නම් සුඛ වේද කියල විමසනවා. රූපය අනිච්ච බැවින් දුක්ඛ බව දේසනා කරනවා. මෙහිදී රූප ස්කන්ධය ඇසුරු කරන්න ගිහින් ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස උපායාස උරුම කර දෙන නිසා රූපය අනිච්ච වෙනවා.

එනම් රූපය ඇසුරු කිරීමෙන් යමක් බලාපොරොත්තු වුනාද ඒක නොලැබී, කෙසේවත් බලාපොරොත්තු

නොවන, කැමති නොවන, නිසි නොවන ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස (පෙර ඡේදයේ පටිච්ච සමුප්පාදයට බහා දැක්වූ පරිදි) ලබාදෙනවා. මෙහිදී වැදගත් කාරණයක් වන්නේ රූප ස්කන්ධය ඇසුරට වැටීමම අනිච්ච බවයි. (එනම් රූපස්කන්ධයේ උපාදනයම අනිච්ච බවයි) එනම් තමන් බලාපොරොත්තු නොවන අසහනයකට, දුකකට ඇද දමන ක්‍රියාවලියක් අනිච්ච වෙනවා. හෙවත් අනිසි වෙනවා.

මේ නිසා රූප අනිච්ච (අනිසි) වන අතර එම අනිච්ච ස්වභාවය මේ විදිහට දුක්ඛ වෙනවා. එනම් රූප ස්කන්ධයේ විද්‍යමාන වන ආස්වාදය කොතරම් ආස්වාද ජනක වුනත් අප්‍රමාණ දුක් කන්දකට ඇද දමන නිසා (ලැබුණු ආස්වාද මාතෘයත් ගෙවී ගිහින්) ඉන් බලාපොරොත්තු වන දෙය නොලැබී භයානක දුක් රැසකට ඇද දමනවා. අනිච්ච ලක්ෂණයත් රූපස්කන්ධයේ උපාදානයට උරුම නිසා එවන් යමක් අනිච්ච වෙයිද එබැවින් ඒක දුක්ඛ ලක්ෂණයෙන් යුක්ත වෙනවා. රූපස්කන්ධය එවැනි ලක්ෂණවලින් යුක්ත නිසා මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ සාරවත් වස්තුවකැයි ගැනීමට සුදුසු වෙන්නෙ නෑ. එනම් රූප ස්කන්ධය තමන් පෙර හිතන් හිටිය වටිනාකමින්, සාරවත් බවින් යුක්ත නොවන බව හෙවත් අසාර ලක්ෂණය වැටහෙන්න පටන් ගන්නවා. මේ විදිහට වේදනා, සංඥා, සංඛාර සහ විඤ්ඤාණ ස්කන්ධ ගැනත් විග්‍රහ කෙරෙනවා.

''ඒවං එස්සං භික්ඛවේ සුත්වා අරිය සාවකෝ රූපස්මිම්පි නිබ්බින්දති, වේදනායපි නිබ්බින්දති, සංඥායපි නිබ්බින්දති, සංඛාරේසුපි නිබ්බින්දති, විඤ්ඤානස්මම්පි නිබ්බින්දති, නිබ්බින්දං විරජ්ජති. විරාගා විමුච්චති. විමුත්තස්මිං විමුත්තමිති ඥානං හොති. ඛිණා ජාති වුසිතං බ්‍රහ්ම චරියං කතං කරණියං නාපරං ඉත්තතායති පජානාති''

යනු වෙන් පංච උපාදානස්කන්ධයම අනිසි වූ, දුක් වූ, නිසරු වූ ලක්ෂණයන්ගෙන් යුතු බව වටහා ගැනීමට සෘතවත් ආර්ය ශ්‍රාවකයා යොමු වෙනවා. (මේ විදිහට සතර සති පට්ඨානය වඩමින්) මෙතෙක් අවිද්‍යාවෙන් ඇසුරු කරමින් හිටපු උපාදානස්කන්ධයේ නිසරු බව වැටහුණාම එහි උපාදානය පහ වෙලා යනවා. මෙහෙම වෙන කොට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාන සමග බැඳෙන්නෙ නෑ. නොබැඳුනේ නොඇලෙනවා. නොඇලුනේ ඉන් මිදෙනවා (එම දුක් කඳින් නිදහස් වෙනවා) මේ විදිහට මිදුණු විට, මිදුණු බව වැටහෙන නුවණ පහළ වෙනවා. එතකොට ජාතිය ක්ෂය වූ බව, එනම් මතු උපතක් නැති බව දැන ගන්නවා. බ්‍රහ්ම චරියාව පූර්ණ කිරීමට කළ යුතු සියල්ල අවසන් බව දැන ගන්නවා.

පෙර සඳහන් කරපු අනිච්ච, දුක්ඛ, අනත්ත පිලිබඳ යථාර්තය මේ විදිහට පටිච්ච සමුප්පාද ධර්මතාවයට බහා බලන්න පුළුවන්. යම් උපාදානයක් අනිච්ච වුනාම ඒක දුක්ඛ වන්නේ කොහොමද කියල විමසා බලමු.

ලෝක සත්වයා කොහොමටවත් බලාපොරොත්තු නොවන, කැමති සේ නොමැති දේවල් ලෙස, තමන් පැවැත්වීමට බලාපොරොත්තු වූ ජාතිය ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසවලට ගොදුරු වීම ගන්න පුළුවන්. නමුත් තමන් කැමති වුනත් නැති වුනත් ජාතියක උරුමය ජරා මරණයි. එහෙනම් දුක් දීල තියෙන්නෙ තමන් බලාපොරොත්තු වන ජාතියකට ජරා, මරණ උරුම වීම නිසයි. තව ක්‍රමයකින් කියනවනම් දුකට හේතු වන ස්පර්ශයන්ට ගොදුරු වෙනකොට දුක් වේදනා උරුම වෙන නිසයි. එහෙනම් එවන් වටිනා කමක් දුන් ජාතියම තමන් කැමති සේ නැති දුකකට තමාව ඇද දමන්න හේතු වෙලා තියෙනවා.

ඉතින් කොච්චර ආස්වාද ජනක ලෙස පෙනුනත් ජාතිය තමන් කැමති විදිහට නෑ. මේ කාරණය අවබෝධ වෙනකල් සසර සැරි සැරීම නවතින්නෙ නෑ. එහෙනම් එවන් ජාතියක් ගොඩ නගන භව ශක්තියත් තමන් කැමති විදිහට නෑ. (කැමති සේ නැති ජාති ගොඩ නගන නිසා) ඒ භව ශක්තිය ගොඩ නගන උපාදානයත් එලෙසම තමන්ට කැමති සේ නැති දුක් රැසකට ඇද දමන්න හේතු වෙනවා.

**ලෝක සත්ත්වයා උපාදාන කරන්නේ ප්‍රිය මධුර ස්වභාවය ඇති දේ මිසක් අප්‍රිය අමධුර දේවල් නෙවෙයි. අප්‍රිය අමධුර දේවල්වලට අපි ආරම්භයේදීම කැමති නෑ (අනිසියි). එහෙනම් අපි අවබෝධ කර ගත යුතු කාරණය තමයි යම් ප්‍රිය ස්වභාවයක්, මධුර ස්වභාවයක් ඇත්නම් ඒක අපි කෙසේවත් කැමති සේ නැති පැවැත්මකට ඇද දමන බව. එනම් මේ ප්‍රිය මධුර ස්වභාවය නිසි නොවන බව, කැමති සේ නැති බව වටහා ගත යුතුයි.** (පටිච්ච සමුප්පාදයෙන් දුටු පරිදි එය මෙසේ වේවා හෝ මෙසේ නොවේවායි පැතුවත් එය බලාපොරොත්තු වන පරිදි නොවන බව.)

දුක්ඛ ලක්ෂණයක් විද්‍යමාන වන්නේ මේ අනිච්ච හෙවත් අනිසි ස්වභාවය නිසයි. මේ කාරණය උදාහරණයකින් මේ විදිහට පැහැදිලි කර ගනිමු.

**අපි මලක දර්ශන ආස්වාදය බලාපොරොත්තුවෙන් අපේ ගෙදර තියෙන මල් පෝච්චියක ඇති මලක් නරඹනව කියල හිතමු. මල් පොහොට්ටුව ඇසුරෙන් මේ මල පිපෙන කොට මලේ දර්ශනය ක්‍රමයෙන් වෙනස් වෙන්නේ ප්‍රිය මධුර ස්වභාවය වැඩි වන ලෙසයි. එනම් වෙනස් වන ස්වභාවය මේ විදිහට සුව දෙමින් ගිහින් පිපීම පූර්ණ වුනාම ඉන් ලබන ආස්වාදය උපරිමයකට එලඹෙනවා. ඉන් පසු මල වෙනස් වෙන්නේ පරවෙන පැත්තටයි. මලේ පරවීම අපි කැමැත්තෙන් බලාපොරොත්තු වන දෙයක් නොවන නිසා, ඒක අපේ කැමැත්තට විරුද්ධ ලෙස ක්‍රියාත්මක වන නිසා දුකක් ගෙන දෙනවා. එනම් අපේ කැමැත්තට එරෙහි වන අවස්ථාවේදී අපි දුකක් විඳිනවා. නමුත් මෙහි නොදුටු දුක දකින්න තවත් ගැඹුරින් විමර්ශනය කරන්න ඕන. එතකොට පෙනී යන්නේ මලේ දර්ශනය උපාදාන කළොත්, ඒ දර්ශනය දෙන ඇස හරි සාරයි කියල උපාදාන කළොත්, එලෙස කැමැත්තෙන් (ඉච්ඡාවෙන්) උපාදාන කිරීමම මතු කෙලවරක් නැති සසර ගමනක ජරා ගිනි, මරන ගිනි, සෝක ගිනි.... ආදී වශයෙන් එකොලොස් ගින්නක් ලැබෙන ගමනකට ඒකාන්තයෙන් හේතු වන බවයි. එහෙනම් ඒ ප්‍රිය, මධුර රූපය අපි කෙසේ වත් කැමති සේ නැති දුක් කන්දකට අපිව ඇද දමනවා.**

ඒ වගේම ඒ ප්‍රිය ස්වභාවය පැමිණියත් ඒක උපාදාන කිරීම **සංතෘප්තියක් ඉතිරි නොකර අසහනයක්ම ගොඩ නගනවා.** අනන්ත සසර ගමනක ආස්වාදයෙන් සංතෘප්තියක් නොලැබුණේ මේ විදිහටයි. ''දැන් ආස්වාදය ලැබුව ඇති. තව නම් මට ආස්වාද කිසි දිනෙක එපා'' ලෙස කිසි දිනෙක නොකිව්වේ මේ නිසයි. ඒ නිසා ඒ ආස්වාද ස්වභාවයත් අනිසි වෙනවා.

මස් ලේ නැති ඇට බලු ලෙව කන්නේ<br>
කූස් පිරුමක් පලයක් නොලබන්නේ<br>
ලෙස් ඒ සැපතෙහි ලොබ නොසිතන්නේ<br>
දොස් නොපෙනෙනු මිස දුක්මයි වන්නේ

ලෙසින් වීදාගම මෛත්‍රී හිමියන් ලෝ වැඩ සඟරාවේ කවියක සටහන් කරන්නේ මේ යථාර්තයයි.

මේ විදිහට නුවණින් විමර්ශනය කළාම සැප, දුක, උපේක්ෂා කියන්නේ හේතු ඵල නිසා ඒවා කැමති සේ නොමැති බව, නිසි නොවන බව, ඒ නිසා දුක්ඛ බව වැටහෙන්න පටන් ගන්නවා. **මේ ලෝක ධර්මතාවය ඇත්තේ අපේ කැමැත්තට අනුකූලව නොවන බව වටහා ගත්තම ලොව අනිසි බව වැටහෙනවා.** මේක යථා අයුරින්ම අවබෝධ කර ගත්තම දුක කියල යම් තැනක ගොඩ නැගීමක් වෙනවද, ඒක මේ අනිච්ච (අනිසි) ධර්මතාවයේම ඵලයක් ලෙස ගොඩ නැගෙන බව දකිනවා. ජරා, මරණ, සෝක, පරිදේව... ආදී දුක් ගෙනදෙන නිසයි ඒවා අනිසියි කිව්වේ. හෙවත් අනිච්චයි කිව්වේ. යමක් අනිසි හෙවත් අනිච්චනම් ඒ සියල්ල දුකයි කිව්වෙත් ඒ නිසයි. **ඒකට විරුද්ධව කොච්චර තරග කළත් එබඳු ලෝකය තුල සැනසුම් තැනක් ඇතැයි ජයග්‍රහණයක් ලබපු කෙනෙක් පෙරත් ඉඳල නැති බවත්, දැන් හෝ මතු ඉන්න බැරි බවත් වටහා ගන්නවා.** එවැනි ලෝකයක් තුල වටිනා, සාර පැවැත්මක් ගොඩ නගන්න හෝ තියෙන්න බැරි බව අවබෝධ කර ගන්නවා.

යමක් අනිසි නම්, දුක්ඛ නම් ඒක අනත්ත (එනම් අසාර) ලක්ෂණයෙන් යුක්ත වෙනවා. එවැන්නක් මම කියල ගන්න, මගේ කියල ගන්න, මගේ මේ සාරත්වයයි කියල ගන්න සුදුසු වෙන්නෙ නෑ. මේ විදිහට යමක නිසරු ස්වභාවය වැටහෙනකොට ඒ හා බැඳිච්ච ඡන්දරාගය නිරෝධ වෙනවා. ඉච්චා නිරෝධ වෙනවා. උපාදාන නිරෝධ වෙනවා. යමක් උපාදාන නොකෙරෙයිද, භව නිරෝධ වෙනවා. භව උදා නොවෙයිද ජාති උදා වෙන්නෙ නෑ. මේ විදිහට ඒ ඒ මොහොතේම අවිජ්ජා පච්චයෙන් ජාති උදා වීම නැවතුනාම ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන දුක් රැසෙහි හට ගැනීමක් වෙන්නෙ නෑ. (අසාර පැවැත්මක ගොඩ නැගීම කෙළවර වෙනවා.)

සද්ධර්ම ශ්‍රවනයකින් මේ ධර්මාවබෝධය ලබපු සෘතවත් ආර්ය ශ්‍රාවකයාට පංච උපාදානස්කන්ධයම අනිසි, දුක්, නිසරු ලෙස ලබපු අවබෝධය සිහි කරන කොට, ඒ ලබපු අවබෝධය නිසා රාගක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය වීමෙන් අත්දුටු නිවනේ සැනසීම සිහි කරන කොට රාගයෙන්, ද්වේශයෙන් හෝ මෝහයෙන් නිමිති ගැනීම සිද්ධ වෙන්නෙ නෑ. මේ ලැබිච්ච අවබෝධය නිසා නිමිති නොගැනෙන කොට අනිමිත්ත සමාධි නම් වූ ආනන්තරික සමාධියක් ලෝකයේ කිසිම අරමුණක් කෙරෙහි සිත නොපිහිටුවාම ලැබෙනවා. ඒ ආර්ය ශ්‍රාවකයා මේ විදිහට කාය, වේදනා, චිත්ත, ධම්ම පිළිබඳ අනිච්ච, දුක්ඛ, අනත්ත යන අවබෝධය ලබමින්, නිච්ච, සුඛ, අත්ත වූ නිවනේ ආනිසංස සිහිකරමින් (සතර සතිපට්ඨානය වඩමින්) ලබන අවබෝධයේ පූර්ණත්වයෙන් සසර ගමන තුල අවිජ්ජා පච්චයෙන් වන සංඛාර ක්‍රියාවලිය නතර කරනවා.

ඒ අවබෝධය පූර්ණ කරපු රහතන් වහන්සේ තම අවසන් දේහය දරමින් ඉඳල පරිනිර්වාණයේදී සසර ගමන සහමුලින්ම කෙලවර කරනවා. එහෙනම් යමෙක් පංච උපාදානස්කන්ධය අනිසි බව, දුක්ඛ බව, අනත්ත බව අවබෝධ කරනවද ඒ අවබෝධයේ පූර්ණත්වයෙන් ක්ලේශ පරිනිර්වාණය වෙනවා. ඒ අවබෝධය එලෙස රාගක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය කරන්න සමත් වෙනවා. චතුරාර්ය සත්‍ය අවබෝධය වීම පිණිස හේතු වෙනවා. මේ විදිහට වටහාගත් යථාර්තය යලි මෙනෙහි කිරීම සඳහා පහත ආකාරයෙන් කරන්න පුළුවන්. (මෙහිදී එසේ මෙනෙහි කරන කරුණ අනිච්ච, දුක්ඛ, අනත්ත වන ආකාරය විමසා බලන්න පුළුවන්)

රූපයෝ අනිච්චයි, දුක්ඛයි, අනත්තයි. මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ ආත්ම යයි ගැනීමට සුදුසු නොවන්නේමය. වේදනා අනිච්චයි, දුක්ඛයි, අනත්තයි. මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ ආත්ම යයි ගැනීමට සුදුසු නොවන්නේමය. සංඥා අනිච්චයි, දුක්ඛයි, අනත්තයි. මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ ආත්ම යයි ගැනීමට සුදුසු නොවන්නේමය. සංඛාර අනිච්චයි, දුක්ඛයි, අනත්තයි. මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ ආත්ම යයි ගැනීමට සුදුසු නොවන්නේමය. විඥ්ඥාණ අනිච්චයි, දුක්ඛයි, අනත්තයි. මම යයි ගැනීමට, මගේ යයි ගැනීමට, මගේ ආත්ම යයි ගැනීමට සුදුසු නොවන්නේමය. (මෙහි ආත්ම යැයි ගැනීමට කිව්වේ, වේද ධාරී බමුණන්ගේ ආත්ම අදහස නෙවෙයි. කමටහන වඩන කොට පෙර අසා ඇති පරිදි බමුණු අදහස මතුවෙලා වැටහෙනවනම් මගේ සාරත්වයයි ගැනීමට සුදුසු නොවන්නේමය යනුවෙන් කර්මස්ථානය සකස්කර භාවිතා කිරීම සුදුසුයි).

ලෝකය පිළිබඳ යථාර්තය මේ විදිහට අවබෝධ කර ගනිමින් මතු ජරා මරණ ඉක්මවා ලබන ශාන්ත වූ ප්‍රනීත වූ නිවන් සාක්ෂාත් කර ගන්න මේ කරුණු හැමදෙනාටම උපනිශ්‍රයක් වේවා!

සියලු සත්වයෝ නිවන් සුවයෙන් සුවපත් වෙත්වා!!!

**නෙරංග අබයසිංහ**
**BSc (කොළඹ විශ්වවිද්‍යාලය)**
**ආචාර්ය උපාධි අපේක්ෂක**
**(මිචිගන් විශ්වවිද්‍යාලය)**

*17 වෙනි පිටුවෙන්...*

## අහෝ ගුරුතුමනි, කථාව බුදු පුරේ ත්‍රිපිටක ධර්ම රත්නය අනතුරේ....

වගලු.

ඉහත සඳහන් මනඃකල්පිත ප්‍රදේශය නේවසංඥා නාසංඥායතන සමාපත්තිය සම්බන්ධ කරුණක් බව කියා තියෙනවා. මේ ගුරුතුමාගේ අදහස් මනෝ සංකල්ප නම්, සිදුහත් කුමාරෝත්පත්තිය පටන් බෝ මැඩ බුද්ධත්වයට යෑම දක්වා මුළු බෝසත් චරිතයම ලොව භෞතික සිදුවීම් නොව හුදු මනඃකල්පිතයක් වනු ඇත.

ත්‍රිපිටකයේ සූත්‍ර කාණ්ඩ සිය ගණනක මේ විස්තර අතර මැදට මෙසේ ගොනුකළ විට මේ කියන්නේ නියම ධර්මයක් යැයි පාඨකයා මුලාවට පත් කරන බව පෙනී යනවා.

දූන් උරුවෙලාවේ සේනානි ගම, වන උයනේ ජය ශ්‍රී බෝධි මූලයේ බුදු වූ බුදුන් සහ උන්වහන්සේගේ සැරියුත් මුගලන් දෙනමත් මේ ගුරුතුමා මනඃකල්පිතයක් කර ඇති හැටි 2007.09.26 දින ආලෝකය පත්‍රයේ 8 වැනි පිටුවේ දෙවැනි තීරුවේ දක්වා ඇති පහත කොටසින් පෙනී යනවා. ''මෙයින් පෙන්වා දෙන්නේ සත්‍යාවබෝධය සිතට ලබා දෙන්නේ ධර්මය විසිනි. එම ධර්මය සාරිපුත්‍ර නම් වේ. විමුක්තිය (අර්හත්වය =නිවන ) උදාකරන්නේ ශික්ෂණය හෙවත් විනය මගිනි. මෙහිදී ද සාරිපුත්ත මොග්ගල්ලාන යනු ධම්ම =විනය බව පෙන්වා දී ඇත. බුද්ධ යනු ධම්ම විනයයි. බුද්ධත්වයට සාරිපුත්ත මොග්ගල්ලාන දකුණත් සවු වමත් සවු වන්නේ මේ ආකාරයෙනි. ධම්ම විනය එක්වීම බුද්ධ නම් වේ.''

අගසව් දෙනමත් බුදුරජාණන් වහන්සේත් මෙසේ මනඃකල්පිතයක් නම්, අද තියෙන ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය ඇතුළු මුලු බුද්ධ ශාසනයම මනඃකල්පිතයක් වී හමාරයි. මෙතුමාගේ මේ අර්ථකථන මින් එහාටත් කුමකටද? විමසා බලත්වා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# තමන්ගේ වාසියට පින් පව් තේරුම් නොගැනීමේ දෘෂ්ටිය ප්‍රාණ ඝාතයට මුල් වන හැටි සහ කරන දේවල් හා කෙරෙන දේවල් අතර වෙනස

*(පසුගිය කලාපයෙන් - මිනිස් ඇසට නොපෙනී බිත්තරය තුළ සැඟව ගිය ජීවය...)*

අසාධාරණ ලෙස සකසා ගත් මස් මාංශ හා බිත්තර සම්බන්ධයෙන් මෙතෙක් විග්‍රහ කරපු කරුණුවලට අමතරව තවත් වැදගත් කාරණා කිහිපයක් පැහැදිලි කිරීමයි මේ ලිපියේ අරමුණ.

යමක් කෙරෙනවා කියන්නේ හිතාමතා කරන දෙයක් නෙවෙයි. යමක් කරන කොට වෙනත් දෙයක් කෙරෙන්න පුළුවන්. මෙයින් හිතා මතා කරන දේටයි චේතනාව සම්බන්ධ වෙන්නේ. බිත්තරයක් බිඳින කොට එහි ප්‍රාණියෙක් ඇති බව නොදන්නවයි කිව්වට, නොදන්නවා නෙවෙයි, දැනගෙන වසන් කරන කාරණයකුත් තියෙනවා. එනම් ප්‍රාණියෙක් නෑ කියල තමන්ගේ වාසියට හිත මුළා කර ගැනීමයි. මෙතැනදී තමාම රවටා ගැනීමකුයි සිද්ධ වෙන්නේ. පව් දේ පව් නෙවෙයි, පින පින නෙවෙයි කියන දෘෂ්ටිගත වීමකුයි මෙහිදී සිද්ධ වෙන්නේ. ඒක වැටෙන්නේ උච්ඡේද දෘෂ්ටියට. නමුත් මේ කාරණය තේරුම් ගන්න බැරි දෙයක් නෙවෙයි.



උදාහරණයක් විදියට අපි මෙහෙම උපකල්පනය කරමු. මනුෂ්‍යයෝ දරුවො වදන නිසා ප්‍රශ්නයක් නෑ. හැබැයි බැරි වෙලාවත් මනුෂ්‍යයෝ බිත්තර දමන සත්ත්ව ජාතියක් වුණා නම් මොකද වෙන්නෙ? දැනුත් ප්‍රාණියෙක් ඒකෙ නෑ කියන කතාව කියයිද? දැන් ඒක තමන්ගේ වාසියටයි කියන්නේ. **තමන්ගේ දෙයක් නම් ඒක කොහොමහරි ගොඩනගන්නයි බලන්නේ.** දැන් ඉතින් මිනිස් පැටවෙක් හදා ගන්න, පුළුවන් හැම පියවරක්ම ගන්නවා. ඇයි මේක රැකෙන්නෙ නැත්තෙ, වැඩෙන්නෙ නැත්තෙ කියල හැම කාරණයක්ම හොයල බලනවා. ඕක වැඩක් නෑ, ඕකෙ සතෙක් නෑ කියල ඒක විනාශ කරන්නෙවත් නිකන් බලාගෙන ඉන්නෙවත් නෑ. ගැබේ කළලයක් හට ගත්තාම කළලය කියන්නෙ මොකක්ද කියලවත් දන්නෙ නෑ. නමුත් ගැබ ආරක්ෂා කරනවා. මොකද මනුෂ්‍යයා දන්නවා එහි අඟපසඟ නැති වුණාට දරුවෙක් හදා ගැනීමේ මූලධර්මය ගැබේ පිහිටල තියෙනව කියල. හැබැයි මෙහෙම උනන්දුවක් අර කිකිළි බිත්තර සම්බන්ධයෙන් නම් නෑ. මේ වගේ තමා විසින් තමාම රවටා ගෙන බිත්තරයේ සතෙක් නෑ කියල තමන්ගේ වාසියට හරව ගන්නවා.

මරණ චේතනාව කියන්නේ මොන දෙයක් හෝ තමාගේ ප්‍රයෝජනයට ගැනීමට ජීව ශක්තිය නැති කිරීමයි. ජීව ශක්තිය නැති කරල තමන්ට අවශ්‍ය දේට ප්‍රයෝජන ගන්නවා. ඒ සඳහා උපක්‍රම යොදනවා. තමාගේ ඒ ක්‍රියාවන් හේතුවෙන් ජීව ශක්තිය නැති වෙන බවත් දන්නවා. උදාහරණ ලෙස පොල්ලෙන් ගැසීමයි මැරීමයි කියන්නේ කාරණා දෙකක්. පොල්ලෙන් ගහනවයි කිව්වොත් මරන්න පොල්ලෙන් ගහන්නත් පුළුවන්. එහෙම නැති නම් වස දෙන්න පුළුවන්. එතකොට වස දෙනවයි කියන එකයි පොල්ලෙන් ගහනවයි කියන එකයි ක්‍රියාවන්. එහෙනම් මරනවයි කියන එක මොකක්ද? මරනවා කියන එක ඇති වෙන්න මරන බලාපොරොත්තුවක් තියෙනවා. ඒකෙන් සතා මැරෙන බවත් දන්නවා. දැනගෙන ඒ සඳහා උපක්‍රමයක් ගන්නවා. ඒ උපක්‍රමයෙන් සිද්ධ වෙන දේ තමා දන්නා නමුත් උච්ඡේද දෘෂ්ටිය නිසා ඒක වහ ගන්නවා. නමුත් ඇත්ත ලෙසම මෙතන තියෙන්නේ නොදැනීම නෙවෙයි. මේකට තමයි කියන්නේ **පව් පෙනි පෙනී තමන්ගේ වාසියට පව් නෑ කියනවා කියල.**

පින් පෙනි පෙනී පින් නෑ කියන එකත් මේ වගේමයි. වරදක් කරන කෙනෙක් තමන්ගේ වාසියට වරදක් නෑ කියන නිගමනයක් ගන්නවා. ''ඒකෙ ඇති වරද මොකක්ද? ඒක සුළු දෙයක්නේ?'' මේ වගේ ලොකු දෙයක් වුණත් සුළු දෙයක් කරගෙන තමන්ගේ වාසියට යොදා ගන්නවා. මේක කරන්නේ උච්ඡේද දෘෂ්ටිගත වෙලයි. ''සතෙක් ඉන්නව නම් අඟපසඟ තියෙන්න ඕන, මේකෙ සතෙක් නෑ, ඒ නිසා පව් නෑ'' මෙහෙම කියල නිගමනය කරනවා. හොඳයි ගර්භාෂය ඇතුළේ දරුවෙක් ඔක්කන්ති වෙලා සුමානයක් දෙකක් යන කොටත් අඟපසඟ තියේද කියල ඇහුවොත් තියෙනවා කියන්නද? නමුත් කළල රූපය පටන් ගෙනම අපට නොපෙනුණත් අඟපසඟ හටගන්නා ශක්තිය ඒකෙ තියෙනවා. ඉතින් ඒ වගේ නොපෙනෙන අවස්ථාවක් වුණත් අපි ඒක බොහොම ආරක්ෂාකාරීව රකිනවා.



එතකොට බිත්තරයේ සතෙක් නෑ කියන එක නොදැන නෙමෙයි, තමන්ගේ වාසියට එහි සත්‍යය යථාර්ථය වැසීමයි කරන්නේ. අර කතාවක් තියෙනවා **කන්න ඕන වුණාම කබරගොයත් තලගොයා වෙනවා** කියල. ඒ වගේ මිනිස්සු දන්නෙ නැතිව නෙවෙයි බිත්තරයේ ප්‍රාණියෙක් නෑ කියන්නේ. ඒක දැනගෙනත් මොනවා හෝ ලාභ ප්‍රයෝජන බලාගෙන කවුරුන් හෝ උච්ඡේද දෘෂ්ටියේ ඉඳගෙන කරන ප්‍රකාශයක් තමන්ගේ වාසිය නිසා අනුමත කරනවා. ඒ දෘෂ්ටානුගතියට වැටිලයි තියෙන්නේ. එහෙනම් මේ දෘෂ්ටානුගතියට වැටෙන්නත් හේතුවක් තියෙනවා. **කවුරුන් හෝ ලෝක සම්මතයේ පිළිගත් විද්‍යාඥයන් පිරිසක් හෝ ජීව විද්‍යාත්මක කටයුතුවලට සම්බන්ධ නිලධාරීන් පිරිසක් හෝ අහවල් ජාතියේ බිත්තරවල ජීවයක් නෑ කියනවා.** හැබැයි ඒ කියන්නේ පංචේන්ද්‍රියන්ට ගෝචර වන උපකරණවලින් ලබා ☞

**ගත් යම් යම් දත්තයන් මත උපකල්පනය කරල මිසක් අති ඉන්ද්‍රීය ඥානයකින් නෙවෙයි. ඉතින් ඒ දත්ත මගින් ඒ අය යම් මතයක් ප්‍රකාශ කරල ඒක විවිධාකාරයේ මාධ්‍ය මගින් ප්‍රසිද්ධියට පත් කරනවා. ඒ අය සමාජයේ උගතුන්, පණ්ඩිතයන්, විද්‍යාඥයන් ලෙස සලකල සාමාන්‍ය ජනයාත් ඒක විශ්වාස කරල, අහවල් ජාතියේ බිත්තරවල ප්‍රාණියෙක් නෑ කියල නිගමනය කරනවා.**

නමුත් තමා යථාර්ථය නොදන්නවා නම් යථාර්ථය දැනගත් කෙනෙකුගෙන්ම ඒක ඇසිය යුතුයි. හැබැයි **යථාර්ථය දැනගත් අය කියන්නේ ඉහත සඳහන් කළ ලෝක සම්මත උගතුන් නෙවෙයි. මෙලොව පරලොව තත්ත්වාකාරයෙන් දැනගත් ශ්‍රමණ බ්‍රාහ්මණයන්ටයි.** එහෙම නැතිව උච්ඡේද දෘෂ්ටියේ ඉන්න කෙනෙකුගෙන් අහල හරියන්නෙ නෑ. භවයක උප්පත්තිය එන හැටි, ඒක ඇවිත් සම්බන්ධ වෙන හැටි, දන්නා කෙනෙකුගෙන් ඇසිය යුතුයි. කවුරුන් හෝ කිව්වොත් ගස්වලටත් පණ තියෙනවා, ගස් කැපුවොත් පව් සිද්ධ වෙනවා කියල, ඒ කාරණය සාමාන්‍ය පුද්ගලයෙකුට සාමාන්‍ය දැනීමෙන් දැන ගන්න බෑ. එහෙනම් ඒ කාරණය මෙලොව පරලොව තත්ත්වාකාරයෙන් දැකගත්, භව ගමනක සත්ත්වයන් ගමන් කරන හැටි දකින යම්කිසි ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් හෝ එබඳු යම්කිසි ඥානවන්තයෙක් ඉන්නව නම් ඔහුගේ දෘෂ්ටානුගතිය සම්මා දිට්ඨියට සම්බන්ධයි. එවැනි කෙනෙකුගෙන් අහනවා මිසක් වෙනත් කෙනෙකුගෙන් ඇහුවොත් ඒකට දෙන්නේ වැරදි නිගමනයක්. සමහරවිට ඒක උච්ඡේද දෘෂ්ටියෙන් ගත් නිගමනයක් වෙන්නත් පුළුවන්. එහෙම වුණොත් හරි භයානකයි. **තමන් අහවල් තැන ජීවයක් නැති බව කියන්නේ නැති බව දැකලද? කොහොමද දැක්කේ? මෙබඳු ප්‍රශ්නවලට උත්තර දෙන්න සාමාන්‍ය පුද්ගලයෙකුට පුළුවන්ද? සාමාන්‍ය නුවණක් තියෙන කෙනෙකුගෙන් ඇහුවොත් දැක්ක ක්‍රමය මොකක්ද කියල ඔහු කොහොමද උත්තර දෙන්නෙ?** ඔහු කියන්න පුළුවන්, මම මේ විදුලි ආලෝකයක් අල්ලා බලා ඒක තුළ කළල බිංදුවක් නැති නිසා ජීවයක් නෑ කියල නිගමනය කරනවයි කියල. ඉතින් කළලය කියන එකේ තරම ඔබ දන්නවද කියල ඇහුවොත් ඒක දැන ගන්න ක්‍රමයක් ඔහුට නෑ. **ඒ කාරණය අණ්වීක්ෂයකින්වත් බලා ගන්න බැරි නම්, ඒක දන්නේ මෙලොව පරලොව යථාර්ථය තත්ත්වාකාරයෙන් දැකගත් යම්කිසි දිවැසක් ඥානයක් පිහිටපු කෙනායි.** ඉතින් එහෙම අයගෙන් තමයි ඒ කාරණය ඇසිය යුත්තේ.

ගසකට ජීවයක් ඇත්ද නැද්ද යන්නත්, ගසක් සත්ත්වයෙක් වගේ මැරිල ගිහින් උපදිනවද නැද්ද යන්නත් අපට අපේ සාමාන්‍ය දැනීමෙන් තනියෙන් නිගමනය කරන්න බෑ. බුදුන් වහන්සේ හෝ ලොව තතු දත් ඥානවන්තයෙකුට පමණයි ඒ කාරණය හේතුඵල සහිතව දකින්න පුළුවන් වෙන්නෙ. මෙලොව පරලොව තත්ත්වාකාරයෙන් දත් මහණ බමුණන් ඇත කියන නිගමනයේ හිටියොත් තමයි ඒක දැන ගන්න පුළුවන් වෙන්නෙත්. එහෙම නැතිනම් ඒක අහුවෙන්නෙත් නෑ. ඒ නිසා **යම් කිසි දෙයක් පින් පව් කියල තමන්ට තීරණය කරන්න බැරි නම්, තමන් විසින් නිගමනය නොකර ඒක දන්න කෙනෙකුගෙන් අහල දැන ගත යුතුයි. දන්න කෙනා කියන්නේ එහි හේතුඵල දැක්ක කෙනායි.** එහෙම නැතිව මස් ලේ සහිත ඇසින් දැකලා, කනට ඇහිලා, දිවට, නාසයට, කයට ගෝචර වුණු මනසකින් උඩින් පල්ලෙන් බලා තීරණ දෙන අයගෙන් මෙවැනි කාරණාවල සත්‍යය දැන ගන්න බෑ. ඒ අය දෙන්නෙ සාමාන්‍ය තීරණ විතරයි. ගැඹුරු සියුම් තැන් ගැන තීරණ ගන්න නම් ඒ අයට ඥානය තිබිය යුතුයි. ඒ නුවණ පහල විය යුතුමයි. එහෙම නැතිනම් උච්ඡේද දෘෂ්ටියෙන් සම්බන්ධවෙලා අපේ මනස වහ ගන්නවා මිසක් යථාර්ථය දකින්නෙ නෑ. තමන්ගේ වාසියට යථාර්ථය වැහිල තියෙන නිසයි ඒක වෙන්නේ. යථාර්ථය දකිනවා නම් ඊට වඩා වෙනස් විදිහකට අපි හිතනවා.

**බුදුන් වහන්සේ සහ ලොව සත්‍යය යථාර්ථය දත් වෙනත් ශ්‍රමණ බ්‍රාහ්මණයන් (ඍෂිවරුන් ආදිය) විසින් පෙන්වා දුන් සත්‍යය යථාර්ථය අදටත් පැවතියත් ඒවා ඔක්කෝම පැත්තකට දාලා හැම දෙයක්ම නවීන විද්‍යාවෙන් ඔප්පු කරන්න දඟලනවා. විද්‍යාවෙන් ඔප්පු කරන්න බැරි නම් ඒවා පිළිගන්න බැහැ කියනවා. නමුත් නවීන විද්‍යාවට මේ දක්වාම හසු නොවූ අති සියුම් කරුණු ලොව්තුරා බුදුන් වහන්සේ විසින් අදින් වසර 2550 කටත් පෙර පෙන්වාදීල තියෙනවා. ඉතින් කවුරු** හරි කියනව නම් ඒවා පිළිගන්න බෑ, විද්‍යාවෙන් ඔප්පු කරපු ඒවා විතරයි අපි පිළිගන්නෙ කියල, බුදුන් වහන්සේටත් වඩා ඔය කියන විද්‍යාඥයන් මහා ප්‍රාඥද කියල අපට අහන්න සිද්ධ වෙනවා.

නමුත් **ගැබක් තුළ ජීවීන් හට ගන්නා අති සූක්ෂම ක්‍රම බුද්ධ දේශනාවේ පෙන්වල තියෙනවා. හැබැයි අද ඉන්න බොහෝ ගිහි පැවිදි පින්වතුන් ඒ පැත්තට අත ගහන්න බයක් දක්වනවා. මොකද එවැන්නක් විග්‍රහ කරන්න අපහසු වීම නිසා හෝ අර කියන නවීන විද්‍යාවට බිය වීම නිසා හෝ ලෝක සම්මත උගතුන්ගේ අභියෝගයන්ට ලක් වේවි යැයි කියන බිය නිසා.** හැබැයි ත්‍රිපිටකයේ එවැනි කාරණා තියෙන බවත් දන්නවා.

උදාහරණ ලෙස ගැහැනු **පිරිමි ලෙස එකතු වීමකින් තොරව පිරිමියෙකුගේ කටහඬ ඇසීමෙන් හෝ දැකීමෙන් හෝ ස්පර්ශයෙන් හෝ ගැබක් තුළ ජීවයක් හට ගන්නා අති දුර්ලභ ක්‍රම** ත්‍රිපිටක ධර්මයේ සංයුක්ත නිකායේ පළමු පොතේ එන **කෝසල සංයුක්තයේ** පැහැදිලිව පෙන්වා තියෙනවා. එහෙම පෙන්වල තියෙන්නෙත් එදා එවැනි සිද්ධීන් සිද්ධ වූ නිසයි.

වරක් කොසොල් රජතුමා තමන්ගේ අන්තඃපුර ස්ත්‍රීන්ට ධර්ම දේශනා කරන්න ආනන්ද හාමුදුරුවන්ට ඉඩ දෙන්නැයි ඉල්ලීමක් බුදුන් වහන්සේගෙන් කළා. නමුත් බුදුන්වහන්සේ ඒ ඉල්ලීම ඒ අවස්ථාවේ ප්‍රතික්ෂේප කළා. ඒ උන්වහන්සේගේ තුන්කල් නුවණින් යමක් දැකලයි. නමුත් කොසොල් රජතුමා නැවත නැවතත් කරපු බලවත් ඉල්ලීම නිසා උන්වහන්සේ ආනන්ද හිමියන්ට ඊට අවසර දුන්නා. ආනන්ද හිමියන් වැඩමකර ස්ත්‍රීන්ට ධර්ම දේශනා කළා. ඉන් මාස ගණනාවකට පසු ඒ අන්තඃපුරයේ හිටපු ස්ත්‍රීන් 500ක් ගැබ්ගෙන පිරිමි දරුවන් 500ක් වැදුවයි කියල සඳහන් වෙනවා.<u>(පූජාවලිය-අසදෘශ මහා දාන පූජා කතා, 423-426 පිටු)</u> ඒ පිරිමි දරුවන්ගේ ස්වරූපය බැලූ අතටම ආනන්ද හිමියන්ගේ ස්වරූපයම වුණා.නමුත් ඒ අවස්ථාවේදී අන්තඃපුරයේ වෙනත් පිරිමි කවුරුවත් ඉඳලත් නෑ.ආනන්ද හිමියන් විතරයි හිටියේ. දැන් මේ කාරණය හොයාගන්න බැරිව කොසොල් රජතුමා බුදුන්වහන්සේ ලඟට ගියා. එවිට උන්වහන්සේ, ස්ත්‍රී පුරුෂ සංවාසයෙන් ගැබ්ගන්නා ප්‍රසිද්ධ ක්‍රමය හැර වෙනත් අති දුර්ලභ ක්‍රම ඇති බව විස්තර කළා. සමහර අවස්ථාවල පිරිමියෙකුගේ කටහඬ අහලා, එහෙම නැත්නම් ස්පර්ශයෙන් ගැබ් ගන්නත් පුලුවන්. මේ වගේ ක්‍රම කීපයක් තියෙනවා. **හඬින් ගැබ් ගැනීම, පිටින් කරන්නාවූ ගැබ ස්පර්ශයෙන් ගැබ්ගැනීම කියන මේවා අතිදුර්ලභ කාරණා නමුත් සිද්ධ වෙන්න පුලුවන්.** එතකොට ආනන්ද හිමියන්ගේ කටහඬ අහලයි අර ස්ත්‍රීන් 500ක් ගැබ් ගත්තේ. නමුත් මේ කාලයේ නම් ඒ වගේ කාරණා ලෝකයාට හිතාගන්නත් බෑ.

බොහෝ කලාතුරකින් වුනත් අදටත් එවැනි දේවල් සිද්ධ වෙන්න පුළුවන්. නමුත් එවැන්නක් හසුකර ගන්න පුළුවන්කමක් නැති නිසා ඒවා විද්‍යාවෙන් ඔප්පු කරන්න බැරි වෙලා තියෙනවා. මේ **නිසා එවැනි අති දුර්ලභ ක්‍රමයකට ජීවයක් හට ගත්තත් ඔප්පු කරන්න බැරි නිසා ඒකත් සුලබව සිද්ධවන ක්‍රමයකින් හට ගත්තයි කියල නිගමනය කරනවා හැරෙන්න වෙන කරන්න දෙයක් නෑ.** මේ නිසා කවුරු ☞

හරි කියනව නම් මේ කියන සියල්ලම විද්‍යාවෙන් ඔප්පු කරන තෙක් එකක්වත් පිළිගන්නෙ නෑ කියල, තව අවුරුදු කෝටි ගණනක් ගිහිල්ලවත් ඒ පුද්ගලයාට ඒක පිළිගන්න අවස්ථාවක් ලැබෙන්නෙ නෑ. මොකද **විද්‍යාවට කිසිදාක ගෝචර නොවන දිව්‍ය ලෝක බ්‍රහ්ම ලෝක වගේම අවීචි මහා නරකාදිය වගේ සතුන් උපදින, මනුෂ්‍යයන්ට අවිෂය ස්ථාන ඇති නිසා.** නමුත් ඒවා විද්‍යාවෙන් ඔප්පු කර ගන්න බැරි වුණාට කවදා හෝ ලොව සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බ්‍රාහ්මණ තත්ත්වයට පත් වුණා නම්, අති ඉන්ද්‍රිය ඥානය පහල වුණා නම්, දිවැස් පහල වුණා නම්, ප්‍රඥාව පහල වුණා නම් තමන්ටම පුළුවන්කම ලැබෙයි මේ කියන කාරණා තේරුම් ගන්න.

ධර්මයේ පෙන්වා තියෙන විදියට ඉහත සඳහන් කළ අති දුර්ලභ ක්‍රමයන්ට ගැබ් ගෙන ජීවීන් හටගන්නා අවස්ථා මනුෂ්‍යයන් අතර බොහෝ දුර්ලභ වුනත්, සතුන් අතර ශබ්දයෙන් ගැබ් ගැනීමේ සාධක විවිධාකාරයෙන් පවතිනවා. නමුත් තවමත් මේවා ලෝකයාට හිතාගන්නත් බැරි දේවල්. ඒ වුනත් බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයේත් මෙවැනි දුර්ලභ දේවල් සිද්ධවෙලා තියෙනවා. මේ කාරණා නිසයි, අහවල් ජාතියේ බිත්තරවල ජීවයක් නෑ කියල නිගමනය කරන්න යන්න එපා කිව්වේ.

අනෙක් කාරණය නම් අද වෙන කොට දියුණු කැමරා ක්‍රමයක් වන කිරිලියානු කැමරා ක්‍රමය මගින් සොයාගෙන තියෙනවා, බිත්තරයක් බිඳින කොට යම් කිසි කිරණක් වැනි දෙයක් ඉවතට විසි වෙනවා. විද්‍යාඥයන් නොදන්නවා වුණත් මේ පිටවෙන්නේ බිත්තරය තුළ හිටපු කර්ම චිත්ත දෙකෙන් හටගත් ගන්ධබ්බ අවස්ථාවයි. ගන්ධබ්බයා කර්ම ශක්තියත් සමග රැහැනකින් බිත්තරයට සම්බන්ධ වෙලයි තියෙන්නේ. ඔක්කමිත්වා කිව්වේ ගන්ධබ්බයා ගැබට ඇතුළු වීමයි, හෙවත් ඔක්කන්ති වීමයි. ඒ සම්බන්ධය බිඳුනොත් ගන්ධබ්බයා ගැබෙන් පිට වෙනවා. වොක්කමිස්සථ කියල පෙන්නුවේ එසේ පිටවීමයි. එහෙම වුණොත් ගැබ තුළ නාම රූප වැඩෙන්නෙ නෑ. ගැබ තුළ ජීවය මළොත් වොක්කමිස්සථ වෙනවා. මේ අනුව ගැබ තුළට ගන්ධබ්බයා හෙවත් සංජාතිකයාගේ ඇතුළුවීම හා පිටවීමයි මේ පෙන්වන්නේ. මේක ඉතින් පියවි ඇහැට පේන දෙයක් නෙමෙයි. බුද්ධ දේශනාව අනුව තේරුම් ගත යුත්තක්.

ඊළඟ කාරණය නම් විනය පිටකයේ පෙන්වා තියෙනවා සතෙකු බව නොදන විනාශ කළොත් ඇවැත් නෑ කියා. (ඇවැත් යනු අපත්‍යයි කියන එකයි. එනම් ආර්ය මාර්ගය අනුගමනය කිරීමට ප්‍රත්‍ය වෙන්නෙ නෑ කියන එකයි.) හැබැයි මේ කාරණය පව් සමග පටලවා නොගත යුතුයි. ඇවැත් හා පව් කියන්නේ කාරණා දෙකක්. එදා හිටපු උදායී නම් භික්ෂුව කපුටන් මැරුවා. ඒ කාරණය මුල් කරගෙනයි බුදුන් වහන්සේ ප්‍රාණීන් මැරීම සම්බන්ධව ඇවැත් පැනෙව්වේ. එතැනදී **ආදි කර්මිකයාට (යම් වරදක් මුලින්ම කරපු කෙනාට) ඇවැත් නෑ** කියල පෙන්වනවා. හැබැයි පව් වැඩක් කරලා පව් නෑ කියල නෙවෙයි පෙන්නුවේ. **ආදි කර්මිකයාට ඇවැත් නැති වුණාට කළේ පව් වැඩක් නම් පව් තියෙනවා.** හැම ශික්ෂාවකදීම ඒ ඇවැත පනවන්න මුල්වෙච්ච පළමු කෙනාට ඇවැත් නෑ. පැනෙව්වාට පසුවයි ඒක ඇවැතක් වශයෙන් පිළිගැනෙන්නේ. නමුත් **කරන වැඩේ පවක් නම්, ඇවැත පැනෙව්වා කියල පව් නැති වෙන්නෙ නෑ.** ඒක කරන්න පෙරත් පසුවත් පව පවමයි. පව වෙනස් වෙන්නෙ නෑ.

දැන් බිත්තර සම්බන්ධ කාරණයේදී තවත් ප්‍රශ්නයක් ඇතිවෙන්න පුලුවන්, කඩේ තියෙන බිත්තරවල පණ ඇති බව දැනීම කියන කාරණය නැති නිසා ප්‍රාණඝාතයක් වෙන්නෙ කොහොමද කියල. මොකද පණ ඇති සතෙකු බව දැනීම, මරණ චේතනාව... ආදී කරුණු පහකින් කර්ම පථයක් වන බවයි අටුවාවල තියෙන්නේ. නමුත් ඒක පසුව හදාගත්තක් මිසක් පෙළ දහමේ පෙන්නපු කාරණයක් නෙවෙයි. **මෙතනදී සතෙකු වීම කියන එකයි, සතෙකු බව දැනීම කියල හදාගෙන තියෙන්නේ. සතෙක් වීම ප්‍රමාණවත්. ඒ බව දැනගන්නම ඕන නෑ. දැනගන්න එක ඥාණ සම්ප්‍රයුක්තයි.** මොකද සමහර විට සෙලවෙන්නෙ නැති නිසා, අඟ පසඟ නැති නිසා සතෙක් බව හොයාගන්න බැරිවෙන්න පුලුවන්. උදාහරණ ලෙස බිත්තරයක් ගත්තම ඒක ඇතුලේ අඟ පසඟ පේන්නෙ නෑ, හෙල්ලෙන්නෙ නෑ, මස් ලේ නෑ. මේ නිසා **එහි ප්‍රාණයක් නෑ කියල සිතීම අවිද්‍යාවේම මෝහ චෛතසිකයක්. ඒ කියන්නේ මෝහය නිසා තේරුම් ගන්න බැරිව ගියා.** ඒක දෘෂ්ටියක්. බිත්තරයක් හැදෙන හැටි තේරුම් නොගැනීම නිසයි එහෙම වෙන්නේ. ඒ නිසා මම දන්නෙ නෑ **මේකෙ සතෙක් හිටිය බව කියන කාරණය මෝහයක්. මොකද ඉස්සර කාලෙත් සත්තු මරල යාග කළාම ඒ සතුන් දිව්‍ය ලෝකෙ යනව කියලයි එදා බමුණන් හිතුවේ. ඉතින් සතා මරන චේතනාව නෙවෙයි දිව්‍ය ලෝකයට යවන මුලා හැඟීමයි තිබුනේ. මෙතනදී හරි වැරදි තෝරගන්න ගිහින් අවිද්‍යාව නිසා මුලා තීරණයක් දීම පාපයක් සිද්ධ නොවීමට බලපාන්නෙ නෑ.**

**පෙළ දහමට අනුව ප්‍රාණඝාතය මුල්කරගත් පාප කර්මයන් වන්නේ ප්‍රාණඝාතය කිරීම, කරවීම, අනුබල දීම හා වර්ණනා කිරීම** කියන කාරණා හතරයි. මෙයින් මුල් කාරණා දෙක කර්ම පථයට අයිතියි. ඉතිරි දෙක කර්මයයි. කෙනෙක් තවත් කවුරුන් හෝ ලවා ප්‍රාණියෙක් මැරෙව්වොත් ප්‍රාණඝාත කර්ම පථයට දෙදෙනාම හසුවෙනවා. කෙනෙකුගේ මරණය සිදුකිරීමට වස වැනි දෙයක් සැපයීම අනුබල දීමක්. ඒක කර්මයක්. ඔක මරන එක හොඳයි කියල වර්ණනා කිරීම ප්‍රාණඝාත කර්මයක්. මේනිසා කඩේ තියෙන **බිත්තර විකිණීම ප්‍රාණඝාතය සඳහා අනුබල දීමට වැටෙනවා. ඒවා මිලදී ගෙන කඩා බිඳගෙන හෝ තම්බාගෙන කෑවොත් කෙලින්ම ප්‍රාණඝාතය හා සම්බන්ධ වෙනවා.**

දැන් තවත් ප්‍රශ්නයක් ඇතිවෙන්න පුලුවන්. ප්‍රාණඝාත චේතනාවක් නැතිව බිත්තර කඩාගෙන හෝ තම්බාගෙන කෑම පාපයක් නම් පොළවේ පය ගහල ඇවිදින කොට සතුන් පෑගී මිය යෑම, ගොවිතැන් කිරීමේදී පොළව කොටන කොට සතුන් මිය යාම ආදී කාරණාත් පාපයක් ද කියල.

මෙතනදී අපි දැනගන්න ඕන, **කරන දේවල් සහ කෙරෙන දේවල් කියල කාරණා දෙකක් තියෙන බව.** චේතනාව හැමවිටම සම්බන්ධ වෙන්නේ කෙරෙන දේවල්වලට නෙවෙයි, කරන දේවල්වලටයි. කරන හැම දේකටම චේතනාවක් සම්බන්ධයි. **චේතනාව පින් පව් බවට පත්වෙන්න ඒවාට අනුපූරකව වැටෙන හේතු (ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ) තියෙනවා.** ඒ අනුව තමයි ඒ චේතනාව පවිත්‍ර හෝ අපවිත්‍ර වන්නේ. උදාහරණ ලෙස **බිත්තරයක් බිඳෙනවා කියන එකයි බිඳිනවා කියන එකයි කාරණා දෙකක්.** පොළොව කොටන කොට යම් කිසි තැනක බිත්තර ටිකක් අහු වුණොත් ඒවා එතැනින් ඉවත් කරන කොට බිඳෙන්න පුළුවන්. ඒක කෙරෙන දෙයක්. එහෙම බිඳුණොත් චේතනා සම්බන්ධයක් නෑ. නමුත් ඒවා බින්දොත් කරන ක්‍රියාවට අහුවෙලා පාපයක් බවට පත් වෙනවා. අපි යම් කිසි ගමනක් යන කොට කරන දේ තමයි ගමන යාම. එහෙම ගමන් කරන කොට සතුන් පෑගිලා මිය යාම කෙරෙන දෙයක්. නමුත් සතුන් පෑගීමේ බලාපොරොත්තුවෙන් ගියොත් චේතනාවෙන් කරන දෙයක් වෙනවා. කෙරෙන දේවල් තම තමන්ට හැකි පමණින් දයානුකම්පාවෙන් දැනගෙන ඉවත් කරන්න ඕන. එහෙම යම් ප්‍රමාණයක් ඉවත් කරන්න පුළුවන් නම් ඒක දයානුකම්පාව මුල් කරගෙනයි කරන්න ඕන. නමුත් කරන දේවල් නම් පාපයක් සමග සම්බන්ධ නිසා වළක්වන්න ම ඕන.

අපි හැම වෙලාවකදීම බලාපොරොත්තු වෙන්න ඕන අපේ **එදිනෙදා කටයුතු කරගෙන යෑමේදී**

**යම්කිසි අසාධාරණයක් මුල් වෙලා ගොඩනගපු දෙයක් ඇත්නම් හැකි පමණින් ඒවා නොගෙන ඉන්න.** මේ කාරණය මස් මාංශවලට විතරක් නොවෙයි අනෙක් හැම කටයුත්තකදීමත් අදාළ කර ගන්න උත්සාහ කරන්න ඕන. ඒක යම් තරමක් හෝ රකින්න පුළුවන් නම් ඒ තරමට යහපත්. නමුත් මේවා සියල්ලම ඒ ආකාරයෙන්ම කරන්න කියනවා නෙමෙයි. **තමන්ට යම් පමණකින් හෝ ඒවායින් වැළකිලා දයානුකම්පාව කියන ගුණය වඩන්න පුළුවන් නම් ඒක ලෞකික වශයෙනුත්, ලෝකෝත්තර වශයෙනුත් යහපත උදාකර ගන්න උපනිශ්‍රය වෙනවා.**

එහෙනම් කඩේ තියෙන කිරිපිටි, මුදවපු කිරි වගේ දේවල් අසාධාරණයෙන් හරි හම්බ කරගත් දේවල් ද කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. ඒ කාරණය මෙහෙම පැහැදිලි කර ගනිමු. ගවයෙකුට තණකොළ දීල පෝෂණය කරනවා. අන්තිමට බලන කොට ඒ හදන ගවයාට එරෙන කිරි ටික ඔක්කෝම පැටවා බිව්වොත් සමහර විට වැඩි වෙලා අජීර්ණය වෙන්නත් පුළුවන්. මොකද පැටවාට අවශ්‍ය ප්‍රමාණයට වඩා වැඩි ප්‍රමාණයක් එළදෙනට කිරි එරෙනවා.

අනෙක් කාරණය නම් ලෝකයට යම් කිසි දවසක අසාධාරණයක් පාඩුවක් කරලා ඒ හේතුවෙන් ඒකේ වන්දිය ගෙවන්න සත්තු වෙලා උපදිනවා. මේ අවස්ථාවේදී ඒ සතාට ණය ගෙවීමට විශේෂිත ක්‍රමයක් පිහිටනවා. ඒ සඳහා වැඩි කිරි ප්‍රමාණයක් ඌට එරෙනවා. හැබැයි කැලේ ඉන්න කුළු මී හරක් වගේ සතුන්ට එහෙම කිරි එරෙන්නෙ නෑ. පැටවාට අවශ්‍ය ප්‍රමාණයට පමණයි උන්ට කිරි එරෙන්නේ. නමුත් ගවයෙක් ගෙදරක හෝ ගොවිපළක හදන්න ගත්තට පස්සෙ ඒ තත්වය වෙනස් වෙනවා. මොකද සමහර වෙලාවට **ලෝකයට කරපු අසාධාරණයට වන්දි ගෙවන්න සිද්ධ වෙන ජාතියේ පව් තියෙනවා. එතකොට ඒ පාපයට විපාක ගෙවන්න ක්‍රම සකස් වෙනවා.** ඒ වෙලාවේදී ඒ සතාට කිරි වැඩිවෙලා අමතර කිරි ප්‍රමාණයක් ලබා ගන්න පුළුවන් ශක්තියක් ලැබෙනවා. **කොයි ක්‍රමයට සතුන් ඇති කළත් ඒ සඳහා උප්පත්තියක් අල්ලන්න පුළුවන්, තමා නිෂ්පාදනය කළ දේ තමා විසින් ලෝකයට කරපු පාඩුවට ආපසු ගෙවා දමන විදිහේ ක්‍රමයකට.** ඒ නිසා ඒ සතාට වැඩි කිරි ප්‍රමාණයක් ලැබෙනවා. ඉතින් ඒ සතාට වැඩිපුර පෝෂණය දීල හදන නිසා වැඩිපුර ගන්නා කිරි ප්‍රමාණයෙන් ඒ සතාට පාඩුවකුත් නෑ. අනෙක කිරි එරුනට පස්සෙ සතාට දරාගෙන ඉන්න අමාරුයි. පැටවා බිව්වෙ නැත්නම් හරි වේදනායි. ඒ නිසා හරි අමාරුයි දරාගෙන ඉන්න. මේ නිසා ඒ කිරි ටික ඉවත් කළ යුතුයි. එතකොට එළදෙනටවත් පැටියටවත් හිංසාවක් අසාධාරණයක් වෙලා නෑ. ප්‍රශ්නයක් වෙලත් නෑ. පැටවාට අවශ්‍ය පමණට වඩා තුන් හතර ගුණයක් කිරි එරිලා. **සතාට වේදනා දීලා බය ගන්වලා මරා මස් ගැනීම එකක්. කිරි ගැනීමේ ක්‍රමය තව එකක්.** ඒක හිංසා කරලා ගන්න ක්‍රමයක් නෙවෙයි. යම් කිසි යන්ත්‍ර සූත්‍ර භාවිතා කරල කිරි ගන්නා මහා පරිමාණ ක්‍රමවලදී වුනත් සතාට අවශ්‍ය පෝෂණය හා බේත් හේත් ආදියත්, පැටවාට අවශ්‍ය කිරි ප්‍රමාණයත් ලබා දීලයි කිරි ගන්නේ. මොකද ඌට මන්දපෝෂණය හැදුණොත් ඒ අයටත් පාඩුයි. ඒ නිසා ගව පට්ටියක පැටවෙක් මන්දපෝෂණය වෙන්නෙ නෑ. හොඳින් වැඩෙනවා. ඒ කියන්නේ පැටවාට අවශ්‍ය කිරි ප්‍රමාණය ලැබෙනවා කියන එකයි. ඒ නිසා මෙතැනදී අසාධාරණ ලෙස සකස් කිරීමේ ක්‍රමයක් නෑ. ඉතින් දයානුකම්පාවට ප්‍රශ්නයකුත් නෑ.

පෙරුම්පුරාගෙන බුද්ධත්වයට **පත් වන සියළු මහබෝසතාණන් වහන්සේලා වළඳන, එදා ඉඳන් පැවත එන කිරිපිඬු දානය කියන්නේ එළකිරි මිශ්‍ර කරල හදන කිරිබත් දානයක්.** එළදෙන්නු 108කගේ කිරි අරගෙ ඒක තවත් එළදෙන්නු 54කට බොන්න දීල.......මේ ආදී වශයෙන් විශේෂිත ක්‍රමයකට හදන දානයක් තමයි එදා තිබිච්ච කිරිපිඬු දානය. එතකොට ඒ කිරිපිඬු දානයේ අසාධාරණයක් නොතිබිච්ච නිසයි උන්වහන්සේලා ඒක වැළඳුවේ. අසාධාරණය පොඩ්ඩක් හරි ගැවිලා තිබුන නම් ඒක පරිහරණය කරන්නෙ නෑ.

අනෙක් කාරණය නම් **ගව මහේෂාදීන්ගේ ලැබීම සෝවාන් පුද්ගලයකුගේ සම්පත්තියක් ලෙසත් දහමේ පෙන්වා තියෙනවා. ගොවිතැන් බත් කරගෙන, කිරි ටික අරගෙන, ගොමටික පොහොරට අරගෙන සාධාරණයෙන් ජීවත්වීම සඳහා ලැබෙන සම්පත්තියක්** තමයි මේ කියන්නේ. එතකොට ඒ ලැබීම අසාධාරණයක් නම් ධර්මයේ එහෙම සඳහන් වෙන්නෙ නෑ.

දයානුකම්පාව ගැන මෙහෙම විග්‍රහ කරන කොට සැදැහැවත් බෞද්ධ පින්වතුන්ට, ''අනේ අපි ගොවිතැන් ආදිය කරන්නෙ කොහොමද ? එතකොට සත්ව හිංසා ආදිය සිද්ධ වෙනවනේ, අපි ජීවත් වෙන්නෙ කොහොමද?'' කියල අධෛර්යක් ඇති වෙන්න පුළුවන්. නමුත් එසේ අධෛර්යමත් නොවිය යුතුයි. නමුත් අංශුමාත්‍රයක හෝ පාපයක් වගේම සියලු නොකටයුතුකම් වැරදි බව නුවණින් තේරුම් අරගෙන, ''අනේ මට කවදා නම් මෙබඳු අවැඩ අසාධාරණවලින් වෙන් වෙලා සැනසෙන්නද?'' කියන අදහස ඇතිවෙන කොටම සුලු හෝ අවැඩක් කෙරුණත් ඇතිවෙන්නේ උපේක්ෂා සහගත දිට්ඨි විප්පයුත්ත සිත්. ඒවායේ සතර අපාගත වන බලයක් නෑ. එසේම අවැඩ අසාධාරණවලට ඇති අකමැත්ත හේතුකොටගෙන ඉහත කියපු කටයුතු කරන්න සිද්ධ වෙන මිනිස් බවක උපදින්න උපාදානයක් ඇති නොවන නිසා මීලඟ උපත එබඳු අසාධාරණවලින් නිදහස්ව සාමයෙන් ගතකරන්න පුළුවන් දේව බ්‍රහ්ම වගේ උපතක් ලබන්න හේතු වෙනවා. ධර්මාවබෝධය බලවත් වෙච්ච තරමට ඒ ඒ භව සංඛාර නිරෝධ වෙලා ගිහින් අවසානයේ නිවනින් සැනසීම ලබාදෙනවා. සියලු සත්වයෝ නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## දම් වරුසා දහම් පොත පිළිබඳව දැනුම් දීමයි

**දිවයිනේ පිහිටි මහජන පුස්තකාල, සෙසු පුස්තකාල, පාසල්, වෙනත් ආයතන සහ විදේශයන් හි වෙසෙන පාඨකයින් වෙත රු.300/- ක මිලකින් යුත් ''දම් වරුසා'' දහම් පොතෙහි සීමිත පිටපත් ප්‍රමාණයක් නොමිලේ ලබාදීමට කටයුතු යොදා ඇත.**

**අදාල ආයතනයේ ප්‍රධානියෙකු විසින් සනාථ කළ ලිපියක් මගින් අවශ්‍ය පිටපත් ප්‍රමාණය දන්වා වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ කාර්යාලයට හෝ පහත සඳහන් දුරකථන අංකයට දැනුම් දී පැමිණ ලබාගත හැකිය.**

**එම දහම් පොත ලබාගැනීමට අවශ්‍ය වන්නේ නම්, දුරකථන අංකය : 0714400466 (මෙරිල් ප්‍රනාන්දු)**

08 වෙනි පිටුවෙන්...

# හෙළ අටුවාවෙන් පසු සැඟව ගිය...

සංවාස ආදී වචනවලින් ඒ බව තේරුම් ගන්න පුළුවන්. 'හිදා' කියන්නේ බිඳ හරිනවා කියන එකයි. බැඳලා එකතු කරගත් ගොඩවල් බිඳ දමන්නේ යමකින් ද ඒක තමයි පටිසම්භිදා කියන්නේ. එහෙනම් මොනවායින්ද බැඳ ගන්නේ? මේ ලෝක සත්වයෝ ලෝකයට සංයෝජන දහයකින් බැඳිලයි ඉන්නේ. සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාමරාග, ව්‍යාපාද, රූපරාග, අරූපරාග, මාන, උද්දච්ච, අවිද්‍යා කියන සංයෝජන දහයකින් ඉච්ඡා නමැති පටිවලින් තමයි එසේ බැඳිල ඉන්නෙ. (පටිවලින් බැඳෙනවා කියල කිව්වම සමහර විවේචකයන් පාඨක පින්වතුන් මුලා කර තම අභිමතය මුදුන්පත් කරගන්න බලාපොරොත්තුවෙන් පටි කියන්නේ ඉනේ බඳින පටිය කියමින් අර්ථ විපරීත කර නිගා කරන්න පුළුවන්. මේ නිසා එබඳු උදවියගෙන් ප්‍රවේසම් විය යුතු යි. මේ සම්බන්ධයෙන් ත්‍රිපිටකයේ සූත්‍රානුසාරයෙන් සකස් කළ විග්‍රහයක් හෙළ බොදු පියුම නිකිණි කලාපයෙන් ඉදිරිපත් කර ඇත.) එහෙම බැඳිල එකතු කරගත් ඒවා තමයි මේ ලෝකයේ ''මම, මගේ'' යැයි කියමින් මමත්වයෙන් ගන්නේ. පොදුවේ හෝ තනියෙන් හෝ අල්ලාගෙන බදාගෙන අයිතිවාසිකම් කියමින් ඉන්නේ මේ 'පටි' කියන දේවල්වලින් 'සං' කරගෙනයි. ඒ 'පටි සං' කියන ඒවා 'හිදා' කරන්න ඕන, බිඳ හරින්න ඕන. එහෙනම් තණ්හාව ආශාව බිඳ හරින්නේ යමකින් ද එතනදී පටිසම්භිදා වෙනවා. ඒ සඳහා උපයෝගී කර ගන්නා ඥාන හතරටයි චතු පටිසම්භිදා ඥාන කිව්වේ.

නිර්+උක්ති-නිරුක්ති කියන්නේ උක්තයෙන් නිර්ණය වන දේ. උක්තය කිව්වේ අපි විග්‍රහ කරන්න ගත් පදය. ඒ උක්තයෙන් විද්‍යමාන වෙන්නෙ, නිර්ණය වෙන්නෙ මොකක්ද? අර කියපු කෙලෙස් බිඳ හැරීමට හේතු වන අර්ථයක් ඒ පදය ඇතුළෙ තියෙනවා. ඒක ඇදල එළියට ගත්ත නම් ඒකට කියනවා පදේ දහම් අර්ථය කියල. මේ නිසා යම් කිසි පදයක් ගත්තම ඒක ඇතුළෙම එහි පද අර්ථය ගැබ් වෙලා තියෙනවා. ඒකෙ අර්ථය හොයා ගන්න නැවත වෙන කොහේවත් යන්න ඕන නෑ. ලෝක පද අර්ථය වෙන එකක්. ඒක භාෂා නිරුක්තිය. නමුත් ධර්මයෙන් නිවන් දකින ධර්මය තෝරගන්න නම් ආර්යයන්ට පහළ වෙන්නා වූ පදයේ පද නිරුක්තිය දැකිය යුතුයි. හැබැයි මේ කියන පද නිරුක්තිය භාෂා විශාරදයින් විසින් සකස් කරපු විවිධ ලෝකායත ශාස්ත්‍ර ක්‍රමයක් ලෙස සන්ධි ගලපලා, භාෂා රීතීන්ට වහල්වෙලා ගන්න එකක් නෙවෙයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන් ....)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නිතිඥ චන්දන සිරිවර්ධන**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්, හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනයː webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාග්‍රම බෞද්ධ විහාරස්ථානයෙ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගයː නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.



# තිරිසන් අපායෙන්...




තිරිසන් වෙලා කා ගන්නා ඊරි මස
පිරිසන් කළ නොහැක නොහරින තෙක්ම දොස
පිරිපුන් තිහේතුක පටිසන්ධියට බැස
බැරිනම් හරිනු තුන් දොස යළි වෙයි මෙලෙස

ලන්දක කකා ලන්දක ඇවිදින වේලේ
කෙන්දක ඉඩක් තිබුණාත් බිලි වෙයි දැලේ
කන්දක සැඟව සිටියත් ගෙවමින් කාලේ
නින්දක සැපක් නැති වෙයි සතෙකුට රාලේ




අහර දිය සොයා ඇවිදින අතර තුරේ
පහර කන සතුන් පිහිටක් නැතිව එරේ
නහර පුප්පගෙන උනුනුන් කරන පොරේ
වැහැර විඳ දුකින් යළි යළි ඉපිද මැරේ

බිය කෙලවරක් නැත තවෙකෙකු කයිද කියා
ගිය තැන ගැහෙයි සෝදිසියෙනි දෙනෙත අයා
රැය ගෙවෙනා තුරා සැඟවෙන තැන්ද සොයා
ණය ගෙවනවා මිස සතුටක් නොමැත තියා



තිරස් අතට යන වැඩපිළිවෙළක් තැනූ
සිරස් ගතිය කෙලෙසා තිරිසනුන් වුණු
හරස් වෙලා දහමට රළු බසින් බිණු
දුරස් වෙලා උන් අය නැත කිසිත් දිනූ




නුවණට නොගතහොත් ලොව නිසි දහමෙ පැතී
ගෙවනට වන්දි කය මෙලෙසක හැදෙනු ඇතී
අහගට සෝ සුසුම් හඬ කිසිවෙකුත් නැතී
නිවනට දුරයි වැඩුවොත් මේ තිරිසන් ගතී

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# ඉතිරි වූ...
# මතක සටහන්



පෙරදා මෙතැන්වල ඉඳිවුණු ගල් කුළුනු
හැරදා ගොසින් අද ඇත නටඹුන් මැවුණු
බරදා කළත් විස්කම් ලොව පුදුම වුණු
පරදා සියලු කම් තිර නැති බවම තැනූ

මේ නටඹුන් පවා ගෙන එයි හතු ලෝ දම්
නෑ තිර වූ කිසිත් තුන් ලොව තැනුවා නම්
බෑ රැකගන්න දුන්නත් මොන වටිනා කම්
පෑ හැම විකුම් වැනසෙයි අපි කරනා පෙම්

කොහෙක් වරක් අපි මෙතැනට විත් ඇත්ද ?
එහෙක් කලක් ලෝ හතු දුටුවේ නැද්ද ?
මතක් කළොත් පෙරපර අපි දැමු සද්ද
සිතක් කෙලෙස ලොව අල්ලන්නට යද්ද ?

එදවස සිටි පැරැන්නන් සිහි කරන කලා
මෙදවස අපි කුමක් කරමුද මෙදෙස බලා
වැඳගෙන නොසිට කියමින් ලොකු කමට මුලා
පදවන ලොව දහම් දැන ගනු කෙලෙස් හලා

මෙදෙස නිකන් බලමින් සතුටුව නොසිට
විදස වඩනු ලොව නිසි හතු ගෙන සිහට
පෙදෙස කුමක් වුවත් කල් ගෙවෙන විට
නිදොස නොමැත වැනසෙයි නොදෙමින් සතුට







පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී